

අධ්‍යාපන අමාත්‍යාංශය
බලපත්‍රය

පොතේ නම - අමරණීය සොල්දාදුවන් තිස් දෙදෙනා බලපත්‍ර අංකය - අග්‍රප්‍රළම/2020/26844
කර්තෘ/පරිවර්තක - ප්‍රසාද් පොල්වත්ත

1952 පෙබරවාරි මස 29 දින නිකුත් කරන ලද ලංකාණ්ඩුවේ ගැසට් පත්‍රයෙහි පළ වූ උපකෘත ස්වභාෂා ද්විභාෂා සහ ඉංග්‍රීසි පාඨශාලාවන් පිළිබඳ ව්‍යවස්ථා සංග්‍රහයේ 19/ඒ ඡේදය යටතේ අධ්‍යාපන අධ්‍යක්ෂ ජනරාල්තුමන් විසින් පාසල් පුස්තකාල පොතක් වශයෙන් අනුමත කරන ලදී.

පුෂ්පකුමාර විතානගේ
ලේකම්
අධ්‍යාපන ග්‍රන්ථ ප්‍රකාශන උපදේශක මණ්ඩලය

2020 ජූලි මස 23 වන දින
අධ්‍යාපන අමාත්‍යාංශය, ඉසුරුපාය, පැලවත්ත, බත්තරමුල්ල.
බලපත්‍රය අවලංගු වන දිනය 2025-07-22

**අමරණීය සොල්දදුවන් තිස් දෙදෙනා**

(c) **ප්‍රසාද් පොල්වත්ත**

ප්‍රථම මුද්‍රණය - 2021 ජනවාරි
දෙවන මුද්‍රණය - 2021 මාර්තු
තුන්වන මුද්‍රණය - 2021 ඔක්තෝබර්

ISBN 978-624-204-007-3

**පරිගණක පිටු සැකසුම**
පුෂ්පානන්ද ඒකනායක
'ද ෆොන්ට් මාස්ටර්'
45/96, නාවල පාර, කොළඹ 05.

**මුද්‍රණය**

ෆාස්ට් ප්‍රින්ටරි (ප්‍රයිවට්) ලිමිටඩ්
165, දේවානම්පියතිස්ස මාවත, කොළඹ 10.

මේ පොතෙහි අන්තර්ගත කරුණු පදනම් කරගෙන ඇත්තේ ආරක්ෂක අමාත්‍යාංශයේ මාධ්‍ය ඒකකයෙන්, පුවත්පත්වල පළ වූ ලිපිවලින්, අන්තර්ජාලයෙන් සහ පොත්පත් ඇසුරින් ලබාගත් තොරතුරු සහ මූලාශ්‍ර මඟිනි.

ඓතිහාසික පසුබිම සහ සමාජ දේශපාලන විශ්ලේෂණ කර්තෘ විසින් ප්‍රකාශ කර ඇත්තේ ඔහුගේ ජීවන අත්දැකීම් උපයෝගි කරගනිමිනි.

මේ පොතෙහි අන්තර්ගත කරුණු සම්බන්ධයෙන් වූ මූලික වගකීම කර්තෘ විසින් පමණක් දරන බව කිව යුතු ය.

මේ ග්‍රන්ථයෙන් අපට ලැබෙන කර්තෘ භාගය ශ්‍රී ලංකා රණවිරු සේවා අධිකාරියට පිරිනමන පරිත්‍යාගයක් බව ද අවසන් ලෙස ප්‍රකාශ කරමු.

තිස් වසරකට දික්ගැස්සුණ
බිහිසුණු ඊළාම් යුද්ධයෙන්
මවුබිම නිදහස් කරගැනීමට
ජීවිත පරිත්‍යාග කළ 28,000ක් පමණ වූ
ශ්‍රී ලංකීය හමුදාවල සොල්දාදුවන්ටත්,
පූර්ණකාලීන ව ආබාධිත තත්වයට පත් වූ
19,000ක් පමණ වූ සොල්දාදුවන්ටත්
මේ පොත උපහාරයක් ම වේවා

## ප්‍රසාද් පොල්වත්තගේ වෙනත් කෘති

### Newspaper write-ups/ පුවත්පත් ලිපි

- Ananda Icons (03/July/2009) – A Tabloid to Ceylon Daily News
- An Interview with Auditor General (10/November/2009) – Ceylon Daily News
- An Interview with the Commissioner General of Inland Revenue (30 September/2009) – Ceylon Daily News
- Computer: A Tool or a status symbol? (6/November/2009) – Ceylon Daily News
- Who is responsible for corruption? (15/December/2009) – Ceylon Daily News
- Corruption, white color crimes and blue color crimes! (20/October/2010) – Ceylon Daily News
- Japanese Business Philosophy! (13/December/2009) – Ceylon Daily News
- Japanese Production Techniques! (6/June/2012) – Ceylon Daily News
- IFRS Compliance in Sri Lanka (12/July/2011) – Ceylon Daily News
- Bambara Walalla – A movie review (2/September/2010) – Ceylon Daily News
- Gamini – A movie review (4/September/2011) – the Lakbima News
- Punthila – A drama review (8/January/2012) – the Lakbima News
- A review on Sinhalese commercial television dramas – the Lakbima News
- A different perspective on the middle class – Sunday Observer (8/November/2009)
- The evolution of Sri Lankan middle class (2/August/2009) – Sunday Observer
- Banking sector first quarter performance (14/June/2010) – Ceylon Daily News
- The review of first 6 months in 2020 performance of License Commercial Banks (10/September/2010) – Ceylon Daily News
- The 2010 performance review of License Commercial Banks (12/April/2011) – Ceylon Daily News
- The review of first 6 months in 2011 performance review of License Commercial Banks (13/October/2011) – Ceylon Daily News
- How Forces gained victory and peace was achieved: A Timeline (19/May/2020) – Ceylon Daily News

### Research Papers/ ගවේෂණාත්මක ලිපි

- A survey of professional accountants', academics', and undergraduates' attitudes towards tertiary accounting education – A postgraduate research report, Monash University, (1993)
- ශ්‍රී ලංකාවේ මූල්‍ය ආයතනවල ආයෝජනය සඳහා තැන්පත්කරුවන් දරන ආකල්ප පිළිබඳ ව සමීක්ෂණය (2010)

### Books/ Biographies

- Babunappu dynasty (2014)
- 29 Immortal Soldiers (2016)
- අමරණීය සොල්දාදුවන් විසිනවය (2016)
- 32 Immortal Soldiers (2021)



## කතුවරයා ගැන

ප්‍රසාද් පොල්වත්ත කොළඹ ආනන්ද විද්‍යාලයේ ආදි ශිෂ්‍යයෙකි. ඔහු වෘත්තීය සුදුසුකම්ලත් ගණකාධිකාරී වරයෙකි. ප්‍රසාද් ආර්ථික විද්‍යාව, බැංකුකරණය සහ ව්‍යාපාර කළමනාකරණය පිළිබඳ ව වෘත්තීය සහ පශ්චාත් උපාධි සුදුසුකම් ලාභියෙක් ද වේ.

ඔහු රාජ්‍ය ඛනිජ තෙල් නීතිගත සංස්ථාව, සම්පත් බැංකුව, සීමාසහිත එක්සත් ප්‍රවෘත්ති පත්‍ර සමාගම සහ සිංහගිරි සමාගම යන ආයතනවල ඉහළ කළමනාකාරි-ත්වයේ වගකිව යුතු තිල හොබවා ඇත.

රටේ පැවැති තිස් අවුරුදු යුද්ධයත්, එයට දායක වූ වීරෝදාර රණවිරුවන් ගැනත් වැදගත් වූ තොරතුරු ඉදිරිපත් කිරීමට ඔහු දරන උත්සාහයට මම සුබ පතමි.

**යූ. එච්. පලිහක්කාර**
ශ්‍රී ලංකා වරලත් ගණකාධිකාරි ආයතනයේ
හිටපු කවුන්සල සභාපති

*"මානව සමාජ චර්යාවල ජීව විද්‍යාත්මක පදනම පිළිබඳව අධ්‍යයන මගින් හොමෝසේපියන්ස් වර්තමාන මානව වර්ගය විකසනය වී ඇත්තේ ගෝත්‍ර අතර ගැටුම් හේතුවෙන් බව සනාථ කර ඇත. ගෝත්‍රවාදය මූලික මානව ගති ලක්ෂණයකි."*

*The social conquest of earth - Edward O Wilson*

*ජාතීන් අතර අසමගිය ඉතා දියුණු යැයි සම්මත සමාජවල මෙන් ම නොදියුණු සමාජ තුළ ද එක සේ බලවත් විය හැකි ය.*

*උතුරු ඇමරිකාවේ කළු - සුදු භේදය ඒ රටේ ඉතිහාසය තරමට ම දීර්ඝ ය. ඉංග්‍රීසි-අයිරිශ් ජාතිකයන්ගේ අර්බුදය, නාසි - යුදෙව් අරගලය, සුන්නි - ෂියා අරගලය දුවැන්ත සංග්‍රාම දක්වා වර්ධනය විය.*

*ඊශ්‍රායල් - පලස්තීන අර්බුදය ඊශ්‍රායලයේ ඉතිහාසය තරමට ම දීර්ඝ ය.*

*(අමරණීය සොල්දාදුවන් තිස් දෙදෙනා, පි. 38)*

*ජනතාව බලාපොරොත්තු වූ ආර්ථික සංවර්ධනය සිදු නොවූ බැවින් උද්ධමනය, විරැකියාව, ග්‍රාමීය දිළිඳු භාවය වැනි ආර්ථික ප්‍රශ්න ඉහළ ගියේ ය. සම්පත් බෙදී යෑමේ විෂමතාව වැඩි විය. ජනතා පීඩනය ජාතිවාදී අරගලයක් ලෙසට මතු විය. මෙයට ද්‍රවිඩ දේශපාලනඥයන්ගේ ද සහාය ලැබුණේය.*

*(අමරණීය සොල්දාදුවන් තිස්දෙදෙනා, පි. 56)*

*තරුණයකුගේ අවංක භාවය සහ පරාර්ථකාමීබව පරිණත පුද්ගලයකුට වඩා වැඩි බවට ඉතිහාසය පුරා සාක්ෂි මතු වී ඇත.*

*නාගරික තරුණයකුට වඩා ග්‍රාමීය තරුණයකු අව්‍යාජ ගුණයෙන් ඉහළ බවත් දේශප්‍රේමීත්වයෙන් වැඩි බවටත් බහුතරයේ මතය වී ඇත.*

*තම මවුබිමේ ඒකීය භාවය රැකගැනීමට චලෙයි හිදී දිවිපිදූ 19 හැවිරිදි සෙබල රත්නායක ද අඩම්පන්හි දිවිපිදූ 19 හැවිරිදි ලාන්ස් කෝප්‍රල් මහින්ද ද සාමාන්‍ය පවුල්වල උපන් ගැමි තරුණයෝ ය.*

*මොවුන් ප්‍රදර්ශනය කළේ වීරත්වයේ සාධකවල පොදු ගුණාකාරයයි.*

*(අමරණීය සොල්දාදුවන් තිස් දෙදෙනා, පි. 185)*

# ගරු අග්‍රාමාත්‍යතුමාගේ පණිවිඩය



ඕනෑ ම රටකට මුහුණ පාන්නට තිබෙන අභියෝග අතරින් අනවශ්‍ය විදේශීය බලපෑම්, අභ්‍යන්තර වර්ගවාදී ගැටුම් සහ ත්‍රස්තවාදී උවදුරු මූලික වේ. මේ උවදුරුවලට දීර්ඝ ඉතිහාසයක් ඇති අතර ඒවා අතර සම්බන්ධතාවක් ද පවතී. රටක වර්ගවාදී ගැටුම් ත්‍රස්තවාදී සටන් දක්වා වර්ධනය විය හැකි ය. පවතින රජයක් දුර්වල කිරීම සඳහා කලාපීය බලවතුන් හෝ වෙනත් බලවත් රාජ්‍ය ඒ රටේ ත්‍රස්තවාදීන් හට යුද පුහුණුවෙන් සහ ආයුධ, මුදල්වලින් සහයෝගය දෙන්නේ ය.

අප රටේ ඉතිහාසය පුරා ම විදේශීය ආක්‍රමණිකයන්ගේ බලපෑම්වලට ගොදුරු වී ඇත. අප මවු බිම ඉන්දියාවෙන් පැමිණි සොළීන්ගෙන් ද, බටහිර ආක්‍රමණිකයන්ගෙන් ද ආරක්ෂා කරගැනීමට සිංහලයන් ජීවිත පරිත්‍යාගයෙන් සටන් කළහ. වසර 135ක් පමණ පැවැති යටත් විජිත යුගයේ දී බ්‍රිතාන්‍යයෝ, ජාතීන් වෙන් වෙන් ව බෙදා පාලනය කළහ. වතු ආර්ථිකය සඳහා 235,000ක් පමණ කම්කරුවන් පිරිසක් ඉන්දියාවෙන් ආනයනය කළහ. යාපනය වැනි ද්‍රවිඩ ජනතාව වැඩිපුර සිටින ප්‍රදේශවල ඉංග්‍රීසි අධ්‍යාපනය ප්‍රවර්ධනය කිරීම සඳහා මිෂනාරී පාසැල් බිහි කළහ. ඉංග්‍රීසි අධ්‍යාපනය ලැබූ ද්‍රවිඩ ප්‍රජාවට රජයේ රැකියා සඳහා වැඩි අවස්ථාව සැලසූහ.

නිදහසින් පසු ව ද ලංකාවේ දේශපාලන නායකයෝ ඉංග්‍රීසීන් අනුගමනය කරමින් ජාතීන්ට අනුකූල වූ මතභේදාත්මක තීරණ මූලික කරගෙන ඔවුන්ගේ ඡන්ද ව්‍යාපාරය ගෙන ගියහ. මෙහි උච්චතම අවස්ථාව ද්‍රවිඩ බෙදුම්වාදය දක්වා වර්ධනය වී

තිස් වසරක බිහිසුණු සිවිල් යුද්ධයක් බවට පත් විය. අපගේ බොහොමයක් දේශපාලන නායකයන් ත්‍රස්තවාදීන් පැරදිය නොහැකි ලොව බලවත් හමුදාවක් ලෙස හඳුන්වමින් ඔවුන්ට උතුර නැගෙනහිර ස්වයං බලතල දීම සඳහා සැදී පැහැදී සිටියහ. මේ මතවාදවලට ජාත්‍යන්තර ප්‍රජාවෙන් ද සහයෝගය ලැබීම නිසා ඊනියා සාම සාකච්ඡා මගින් යුද්ධය තිස් වසරක් දිග්ගැස්සුණේය. 2009 අප මවුබිම ලබාගත් යුද ජයග්‍රහණයට 28,000ක් පමණ ශ්‍රී ලාංකේය සොල්දාදුවෝ ජීවිත පරිත්‍යාග කළහ. 19,000 පමණ අබාධිතයෝ වූහ. අප මවුබිමේ පැවතුණ ඉතා බිහිසුණු තිස් වසරක යුද්ධය 2009 යුද ජයග්‍රහණයෙන් කෙටි කාලයක් තුළ දී ම රටේ බහුතරයකට අමතක වීම කනගාටුවට කරුණකි. ප්‍රසාද් පොල්වත්ත 'අමරණීය සොල්දාදුවන් තිස් දෙදෙනා' පොත මගින් අප මවුබිමේ බෙදුම්වාදී ත්‍රස්තවාදීන් ප්‍රවර්ධනයට හේතු වුණ දේශපාලන වටපිටාව ද යුද ජයග්‍රහණයට ප්‍රධාන හේතුවක් වූ සොල්දාදුවන්ගේ වීරත්වය ද මැනවින් විග්‍රහ කර තිබේ.

ඉතිහාසය සහ යුද සාහිත්‍ය රටක ඉදිරි පරම්පරාව ඉතා සංයමයකින් හැදෑරිය යුතු විෂය වේ. මෙය බොහෝ විට විකෘති කර, රටේ ඒකීය පැවැත්මට බලපෑම් කිරීම සඳහා අවස්ථාවාදී දේශපාලන බලවේග භාවිත කරති. ඔවුහු රණ විරුවා ජීවිත පරිත්‍යාගයෙන් තම මවුබිම නිදහස් කරගැනීම සඳහා කළ සටනට අභූත චෝදනා කරමින් නිග්‍රහ කරති. අවාසනාවකට අප රටේ සමහර කලාකරුවන් හට වස්තුබීජ වන්නේ රණවිරුවන්ගේ බියසුලු පලායෑම් සහ ඔවුන් කරන නීතිවිරෝධී ක්‍රියා පමණි. මෙවන් වකවානුවක ප්‍රසාද් තම පොත මගින් ඉදිරිපත් කිරීමට උත්සාහ දරන්නේ ඉතා කාලෝචිත විග්‍රහයක් බව මගේ හැඟීමයි.

**මහින්ද රාජපක්ෂ**

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ අග්‍රාමාත්‍ය

# ගරු ආරක්ෂක ලේකම්තුමාගේ පණිවිඩය



කොළඹ ආනන්ද විද්‍යාලයේ ආදි ශිෂ්‍යයකු වන ප්‍රසාද් පොල්වත්ත මහතා විසින් රචිත 'අමරණීය සොල්දාදුවන් විසි නවය' කෘතිය 2016 වර්ෂයේ දී ප්‍රකාශයට පත් වූයේ දශක තුනක පමණ දිගු බෙදුම්වාදී යුද්ධයේ දී ශ්‍රී ලාංකේය යුද විරුවන් තම ජීවිත පරිත්‍යාගයෙන් කළ වික්‍රමාන්විත ක්‍රියා පිළිබඳ කෙරුණු පුළුල් ගවේෂණයක ප්‍රතිඵලයක් ලෙසිනි.

මේ කෘතිය එළිදැක්වීමට පෙර 2009 වර්ෂයේ දී ඔහුගේ මූලිකත්වයෙන් 'Ananda Icons' නම් අතිරේකයක් Daily News පුවත්පත සමග නිකුත් කෙරිණි. එතුළින් අප මාතෘභූමිය වෙනුවෙන් ආනන්ද විද්‍යාලයෙන් බිහිවුණ රණවිරුවන්ගේ දක්ෂතාව මත ලබාගත් යුද ජයග්‍රහණ හා යුද බිමේ දී දැක්වූ සක්‍රිය දායකත්වය පිළිබඳ ව අවබෝධයක් පාඨකයින් හට දුනි. එමගින් යුද ජයග්‍රහණයට දායකත්වය දැක්වූ ආනන්ද විද්‍යාලයීය රණවිරුවන් වන එවකට ආරක්ෂක ලේකම් මෙන් ම වත්මන් අතිගරු ජනාධිපතිතුමන් වන ගෝඨාභය රාජපක්ෂ, යුද හමුදාපති ජෙනරාල් සරත් ෆොන්සේකා, නාවික හමුදාපති අද්මිරාල් වසන්ත කරන්නාගොඩ, සිවිල් ආරක්ෂක බලකා අධ්‍යක්ෂක රියර් අද්මිරාල් සරත් වීරසේකර සහ දෙවෙනි පෙළ නායකයන් වූ මේජර් ජෙනරල් ජගත් ඩයස් සහ මා ඇතුළු බ්‍රිගේඩියර් ප්‍රසන්න සිල්වා, බ්‍රිගේඩියර් චාගි ගාල්ලගේ වැනි යුද විරුවන් රැසකගේ ද යුද මෙහෙයුම් පුවත්පත් අතිරේකය මගින් ඉදිරිපත් කෙරිණි.

අප මවුබිම මුහුණ දුන් දශක තුනක පමණ බිහිසුණු ඊළාම් යුද්ධයට සක්‍රිය ව දායක වූ රණවිරුවෙකු ලෙස මා ප්‍රසාද් විසින් රචිත මේ පොත කියවීමේ දී අතිශයින් සංවේදී වූ අතර, යුද

ක්‍රියාත්මිතවල යෙදී සිටි කාලයේ ලැබූ බිහිසුණු අත්දැකීම් යළි මතකයට නැගීමක් සිදු වුණි. එය මා වැනි අසීමිත අත්දැකීම් ලද පාඨකයන් හට මෙන් ම යුද්ධයේ අත්දැකීම් නොලදවූවන්ට පවා යුද්ධය පිළිබඳ අවබෝධයක් දෙනු නිසැක ය.

'අමරණීය සොල්දාදුවන් විසි නවය' කෘතිය අභිනවයෙන් එළිදැක්වීමේ දී පරම වීර විභූෂණ ලාභීන් දශක තුනක පැවැති ඊළාම් යුද්ධයට කළ මෙහෙවර ගැන ඔවුන්ගේ පවුල්වල සාමාජිකයන් ඉදිරියේ දී ඔවුන්ගේ දුක් කඳුළු මැද ඔවුන්ට ආමන්ත්‍රණය කරන්නට ලැබීම මාගේ හද සසල කළ මොහොතක් බව නොකිවමනා ය. තවද ඔහු මේ ග්‍රන්ථයෙන් ලැබුණු කර්තෘභාගය රණවිරුසේවා අධිකාරියට පරිත්‍යාග කිරීම සමස්ත රණවිරුවන්ගේ සුභසාධනයට හේතු වූ අතර, පදක්කම්ලාභී පවුල් වෙත සිදු කළ මූල්‍ය පරිත්‍යාගය ඔවුන්ට මහත් අස්වැසිල්ලක් වූ බව සඳහන් කළ යුතු ය.

ප්‍රථම මුද්‍රණයෙන් අනතුරු ව පරම වීර විභූෂණ පදක්කම සොල්දාදුවන් තුන් දෙනෙකු හට ප්‍රදානය වූ බැවින් ඔවුන්ගේ ද විස්තර ඇතුළත් කර 'අමරණීය සොල්දාදුවන් තිස් දෙදෙනා' ලෙස නව මුද්‍රණයක් ලෙස එළිදැක්වීම ශ්‍රී ලංකා ද්වීපයේ මේ උත්තරීතර පදක්කම ප්‍රදානය වූ සියල්ලන්ගේ තොරතුරු එකවර දැකබලාගැනීමට අවස්ථාව උදා වීමකි.

එසේ ම, බිහිසුණු ත්‍රස්තවාදයෙන් අප මවුබිම බේරාගැනීම සඳහා රණවිරුවන් ජීවිත පරිත්‍යාගයෙන් කළ මෙහෙවර අමතක කරදැමීමට උත්සාහ දරන මෙවන් යුගයක, යුද්ධයට සම්බන්ධ නොවුණ පුද්ගලයෙකු ලෙස රණවිරුවන්ගේ මෙහෙවර අගය කිරීමට මූල්‍ය පරමාර්ථයකින් තොර ව ප්‍රසාද් පොල්වත්ත මහතා විසින් දරන උත්සාහය මම ඉතා ඉහළින් අගය කරමි.

**මේජර් ජෙනරාල් (විශ්‍රාමික) කමල් ගුණරත්න**

ගරු ආරක්ෂක ලේකම්

# ගරු යුද්ධ හමුදාපතිතුමාගේ පණිවිඩය



"සොල්දාදුවෙකු යුද වැදීම සඳහා අභිප්‍රේරණය වන්නේ රාජකාරිය හෝ පුද්ගලික අභිවෘද්ධිය මත නොව තමාගේ පරිත්‍යාගය මාතෘ භූමියට අත්‍යවශ්‍ය බව අවබෝධ වීමෙනි. රටේත් ජාතියේත් උන්නතිය වෙනුවෙන් ඔවුන් සතුරා අභිමුව තම දිවි කැප කරන්නේ එහෙයිනි. දේශප්‍රේමීත්වයෙන් ඔදවැඩුණා වූ ඔවුහු සියලු ආත්මාර්ථයන් පසෙක දමමින් මරණය අබියස නොබියව ගෞරවාන්විත මරණයක් හිමි කරගනිති."

වසර 30ක් පුරාවට අප මාතෘ භූමිය පීඩාවට පත් කළ ත්‍රස්තවාදයෙන් පීඩාවට පත් ජනතාව ඉන් මුදාගැනීම සඳහා රණවිරුවන් සිදු කළ කැප කිරීම අගයනු වස් කතුවරයා විසින් ගෙන ඇති උත්සාහයට මාගේ ගෞරවය හා කෘතඥතාව පුද කරමි. ලොව සියලු ජාතීන්ට ආවේණික සමාජ වටපිටාවක් සහ සංස්කෘතියක් මඟින් ජාතිකත්වය හා දේශප්‍රේමය තීව්‍ර කෙරෙයි. රටේ අනාගත පරම්පරාව වෙත මේ වටිනාකම් තිළිණ කිරීම සඳහා දේශප්‍රේමය, ජාතික අභිමානය පුබුදු කරවන, ප්‍රසාද් පොල්වත්ත මහතාගේ "අමරණීය සොල්දාදුවන් තිස්දෙදෙනා" ග්‍රන්ථය ද විශාල කාර්යභාරයක් සිදු කරනු නොඅනුමාන ය.

රට හා ජාතිය වෙනුවෙන් අප සමඟ එක් ව කරට කර සටන් වැද ජීවිතය පූජා කළවුන්ගේ සංවේදී පුරාවෘත්තයට සාධාරණයක් කළ හැක්කේ යුද්ධ භූමිය පිළිබඳ හරියාකාර හැඟීමක් සහ අවබෝධයක් ඇති අයෙකුට පමණි. මේ සත්‍ය කථාව මා මනැසින් නැවත වරක් ඒ දුෂ්කර හා කටුක වූ කාලපරිච්ඡේදය වෙත ගෙන යෑමට සමත් වූවා යැයි කිවහොත් නිවැරදි ය. කතුවරයා දෙන පණිවිඩය වන්නේ අප දිනාගත් නිදහස ඉතා ලෙහෙසියෙන් දිනූවක් නොව මෙවන් නිර්භීත ශ්‍රී ලංකා පුත්‍රයින්ගේ රුධිරයෙන් දෝවනය වූවක් බව ය.

ඉතා ක්‍රමානුකූල ව ලියා ඇති මේ ග්‍රන්ථය මඟින් සොල්දාදුවෙකුට දිය හැකි ඉහළ ම ගෞරවය හා ආචාරය පුද කරමින්, ඔවුන්ගේ අප්‍රතිහත ධෛර්යය, නිර්භීතභාවය සහ අසීමාන්තික පරිත්‍යාගයේ සැබෑ අරුත මනාව පිළිබිඹු කෙරෙයි. මෙහි සන්දර්භය සැකසීම සඳහා තිස් වසරක් පුරා පැවැති ත්‍රස්තවාදයේ ඉතිහාසය කෙටියෙන් සංක්ෂිප්ත කර අප මාතෘභූමියේ ඇති වැදගත්කම පාඨකයා වෙත මතක් කරදෙමින් පුරා වසර 30ක් අප මාතෘභූමිය හා එහි ජනයා අත්විඳි යුද්ධයේ ම්ලේච්ඡත්වය විස්තර කරනුයේ, ශ්‍රී ලාංකේය පුරවැසියා වර්තමානයේ භුක්ති විඳින සාමය කොතරම් දුෂ්කරතා හමුවේ සාක්ෂාත් කරගත්තේ ද යන්න මනාව ඉස්මතු කරමිනි.

මේ කෘතියේ පෙළගැස්ම තුළින් ජීවිත පරිත්‍යාගයෙන් ක්‍රියා කළ අභීත සොල්දාදුවන් යුද පිටියේ දී ලද අත්දැකීම් හා බිහිසුණු බව කෙබඳු ආකාරයකින් විඳදරාගත්තේ ද යන්න වඩාත් හොඳින් වටහාගැනීමට පාඨකයාට අවස්ථාවක් දී තිබේ. එමගින් කතුවරයා මේ කෘතියේ අවසාන අරමුණ නිරායාසයෙන් ම සාක්ෂාත් කරගන්නේ අප මාතෘභූමිය වෙනුවෙන් තම වටිනා ජීවිත පරිත්‍යාග කළ පරිත්‍යාගශීලී හා ධෛර්යසම්පන්න අභීත සොල්දාදුවන්ගේ කැප කිරීමට නිසි ගෞරවය දෙමිනි.

කතුවරයාගේ "අමරණීය සොල්දාදුවන් තිස්දෙදෙනා" ග්‍රන්ථයෙහි ඇති සුවිශේෂිත්වය වන්නේ කතුවරයාගේ පණිවිඩය ප්‍රකාශ කිරීම මනාව සැලසුම් කිරීමත්, මහත් කැපකිරීම් තුළින් දිනාගත් සාමය පිළිබඳ වටිනා විශ්ලේෂණයක් අනාගත පරපුර සඳහා සැපයීමත්, අනාගතය වෙනුවෙන් මේ නිර්භීත සොල්දාදුවන් සැබැවින්ම අමරණීය කිරීම සඳහා දරන උත්සාහයත් නිසා ය. ඔහුගේ මේ ව්‍යායාමයට මගේ සුභාශිංසනය පළ කරන අතර, ප්‍රසාද් පොල්වත්ත මහතාගේ ලේඛක දිවිය සාර්ථක වේවායි ද ප්‍රාර්ථනා කරමි.

**ශවේන්ද්‍ර සිල්වා**

WWV RWP RSP VSV USP NDC PSC

ලුතිනන් ජෙනරාල්

ආරක්ෂක මාණ්ඩලික ප්‍රධානී හා යුද්ධ හමුදාපති

# රණවිරු සේවා අධිකාරියේ
# ගරු සභාපතිතුමාගේ පණිවිඩය



ප්‍රසාද් පොල්වත්ත කොළඹ ආනන්ද විද්‍යාලයේ ආදි ශිෂ්‍යයකු වන අතර මාගේ සමීප මිතුරෙකු ද වේ. ප්‍රසාද් අප රට මුහුණ දුන් තිස් වසරක බිහිසුණු සිවිල් යුද්ධය පිළිබඳ ව ගැඹුරෙන් ගවේෂණය කරන්නෙක් සහ ශ්‍රී ලංකා යුද සාහිත්‍ය නගා සිටුවීමට කැපවූ ලේඛකයෙකි.

ප්‍රසාද් තම ප්‍රකාශන මගින් ඉදිරිපත් කිරීමට උත්සාහ දරන්නේ සොල්දාදුවන් තම ජීවිත පරිත්‍යාගයෙන් ප්‍රදර්ශනය කළ දේශප්‍රේමය සහ වීරත්වයයි. අවාසනාවකට අප රටේ සමහර සාහිත්‍යකරුවන් හට වස්තු බීජ වනුයේ සොල්දාදුවාගේ බියසුලු අත්දැකීම් සහ යුද්ධයේ ඇති නිස්සාරභාවයයි. ඔවුහු ගමේ තරුණයෙකු යුද හමුදාවට බැඳෙන්නේ මවුබිම ත්‍රස්තවාදයෙන් මුදාගැනීමට නොව තම පවුලේ දරිද්‍රතාවට පිළියමක් ලෙසට බව ඒත්තු ගැන්වීමට උත්සාහ දරති.

ප්‍රසාද් විසින් රචිත ''අමරණීය සොල්දාදුවන් විසිනවය'' පරම වීර විභූෂණලාභී සොල්දාදුවන් තම ජීවිත පරිත්‍යාගයෙන් කළ වික්‍රමාන්විත ක්‍රියා පිළිබඳ ගවේෂණයකි. පරම වීර විභූෂණලාභීන් කළ යුද ක්‍රියාන්විත, LTTE මරාගෙන මැරෙන බෝම්බකරුවන් හමුද මර්මස්ථානවලට කළ පහරදීම් හා සම කළ හැකි ය.

අප මවුබිම මුහුණ දුන් තිස් වසරකට දික් ගැසුණු බිහිසුණු ඊළාම් යුද්ධයට සක්‍රිය ව දායක වූ සොල්දාදුවෙකු ලෙස ප්‍රසාද්ගේ පොත කියවීමේ දී මා අතිශයින් සංවේදී වූ අතර, මා සොල්දාදුවෙකු ලෙස යුද ක්‍රියාන්විතවල යෙදී සිටි කාලයේ ලැබූ බිහිසුණු අත්දැකීම් යළි මතකයට නැඟීමක් සිදු විය.

අමරණීය සොල්දදුවන් විසිනවය පොත 2016 වසරේ දී එළි දක්වූ අතර ඒ උත්සවයට මා හට ද ආරාධනාවක් ලැබුණි. පරම වීර විභූෂණලාභී සොල්දදුවන්ගේ පවුල්වල සාමාජිකයන් ද මෙයට සහභාගි වූ අතර ඒ සියලු දෙනාට ම ප්‍රසාද් විසින් මූල්‍ය පරිත්‍යාග කෙරිණි. තවද පොතින් ලැබුණු කර්තෘභාගය ඔහු රණවිරු සේවා අධිකාරියට පරිත්‍යාග කළේ ය.

''අමරණීය සොල්දදුවන් විසිනවය'' ට පරම වීර විභූෂණ ලාභී සොල්දදුවන් තිදෙනෙකු එකතු වූ බැවින්, ඔවුන්ගේ ද විස්තර ඇතුළත් කර ''අමරණීය සොල්දදුවන් තිස්දෙදෙනා'' පොත නිකුත් කිරීම ප්‍රසාද්ගේ අරමුණ වී ඇත.

බිහිසුණු ත්‍රස්තවාදයෙන් අප මවුබිම බේරාගැනීම සඳහා රණවිරුවන් ජීවිත පරිත්‍යාගයෙන් කළ මෙහෙවර අමතක කරදැමීමට උත්සාහ දරන මෙවන් යුගයක, යුද්ධයට සම්බන්ධ නොවුණ පුද්ගලයෙකු ලෙස රණවිරුවන්ගේ මෙහෙවර අගය කිරීමට මූල්‍ය පරමාර්ථයකින් තොර ව ප්‍රසාද් දරන උත්සාහය මම අගය කරමි.

**මේජර් ජෙනරාල් (විශ්‍රාමික) නන්දන සේනාධීර,**
WWV RWP RSP VSV USP NDU,
සභාපති,
රණවිරු සේවා අධිකාරිය.

# පෙරවදන

මිනිස් හදවතට සමීප කරවීමට අසීරු සමහර ආවේග සිය හදවතින් ම සකසා එය මානව මනසට තුරුලු කිරීමට සමත් ලේඛකයෙකු වූ ප්‍රසාද් පොල්වත්තගේ මේ කාලීන කෘතිය ඉතා අගනා ජාතික මෙහෙවරක් බව පළමුව කියමි. මෙහිලා ඔහු යුද්ධයේ බියකරු බව - මහිමය හෝ ඒ සඳහා වැලපිය යුතු බව හුවා නොදැක්වීමට තරම් එඩිතර වෙයි. ඔබත් - මමත් අද දිවි ගෙවන්නේ එකී ජීවිතය දන් දුන් හෝ අංගවිකල බවට පත් වූ පුතුන්ගේ පිනෙනි. ප්‍රසාද් අපට පවසන්නේ එයයි. මරණින් හෝ පීඩාවෙන් අප ගලවාගත් ඒ වීරයන් ගැන අප මුනිවත නොරැකිය යුතු බව ප්‍රසාද් අපට පුන පුනා ප්‍රකාශ කරයි. අපේ හදවත් අද පණ ගසන්නේ ඔවුන් දිවි දුන් නිසා මිස අන් යමක් මත නොවේ. මගේ ජීවිතයේ වටිනා වසර 39ක් තුළ දී මම යුද බිම - යුද බිය හා යුද පෙරමුණ ඉතා සමීප ව අත්දුටු පුද්ගලයෙක්මි. එකී අත්දැකීම් නොලැබෙන පාඨක ඔබ වැනි කෙනෙකුට ඒ පිළිබඳ ව විස්තර රැගත් මෙවන් වචන රැසක් ගොනු කළ ග්‍රන්ථයකින් එකී යුද වේදනා නිවැරදි ව වටහා ගැනීමට ඉඩ සලසා දී තිබේ. ප්‍රසාද්ගේ මේ කතන්දර හුදු පෞද්ගලික ඓතිහාසික වීර කාව්‍යයක් හෝ සාමාන්‍ය සිදුවීම් මාලාවක් පිළිබඳ විදැහුමක් නොව, සිය මවුබිම වෙනුවෙන් පිදූ සෙනෙහසේ ස්වභාවය සිය ජීවිත මඟින් ලෝකයට ම අර්ථගන්වා වීරයන් බවට පත් වූ අයුරු වේදනාබර ව විදහාලන්නකි.

තමන් වෙනුවෙන් පුද දෙනු ලැබූ පදක්කම් සියැසින් දැකීමට ඔවුහු ජීවත් නොවෙති. ගැයෙන ගැයුම් - ප්‍රශංසා - කවි - ගීත ඔවුන්ගේ දෙසවනට අද ඇසෙන්නේ නැත. මෙහිලා අභීත ලුතිනන් කර්නල් ජෝන් මැක්ක්‍රේ MD නම් වූ (1872 - 1918) කැනේඩියානු යුද හමුදාවේ ශල්‍ය වෛද්‍යවරයකු පවසා ඇති කවි පද කිහිපය අද ලෝකයේ ශ්‍රේෂ්ඨතම 'යුද කාව්‍යය' බවට

පත් ව ඇති බව මතක් කරමි. රතු පොපි මල් ෆ්ලැන්ඩර්ස් හි ස්මාරකය මත මේ කවිය සටහන් කර තිබේ. ඒ මෙලෙස ය.

"අප ඊයේ පෙරේද මිය ගිය උදවියයි.
අපි ජීවත් වූයෙමු. උදෑසන අරුණාලෝකය මෙන් ම
හිරු අවරට යෑම ද මනාව දුටිමු.
ආදරය ලැබූවෙමු. ආදරය දුන්නෙමු.
අද අපි මිහිදන් ව සිටිමු. ෆ්ලැන්ඩර්ස් භූමියේ."

පදක්කම් යනු හුදෙක් ලෝහ තහඩු පමණක් නොවේ. ඒවා තුළ සැඟවුණු ඇගයීම - කෘතඥ භාවය - පිළිගැනීම මෙන් ම මැනිය නොහැකි ස්වභාවයේ ආදරයක් ද ගැබ් ව පවතියි. එහෙත් එය ජීවිතය ගෙන යන බොහෝ අයට සරල සැනසීමක් පමණි. එය මෙවන් විෂයයක දී සංවේදී වන උදවියට සීමා වූවකි. ජීවිතය දන් දුන් සොල්දාදුවා - නැවියා - ගුවන් නැවියා හෝ වෙනත් වීරයෙකු සිය ජාතියේ අනාගත ප්‍රාර්ථනා සපථ කරවීමට දෙන රුකුල වදනින් විස්තර කළ නොහැකි ය. වීරයා එය ඉටු කරන්නේ සිය මරණය මඟින් ම ය. එහෙත් මෙහි ලා ඛේදවාචකය වන්නේ ඔවුන් පිළිබඳ මතකය ඉතා කෙටි මොහොතකට සීමා වීමයි. අද යුද්ධය හා ත්‍රස්තවාදය මෙන් ම මරණ බිය ද බොහෝ අයට අමතක ව ගොස් තිබේ. රට හෙල්ලුම් කෑවූ දරුණු ත්‍රස්ත අපරාධ අද පොදු මිනිස් මතකයෙන් ඈත් වෙමින් තිබෙනු ද පෙනේ.

පෙර කියූ පරිදි ප්‍රසාද්ගේ මේ පොත කාලෝචිත බව මා පැවසූයේ එබැවිනි.

වීරයන් පිළිබඳ මතකය මැකී ගිය ජනතාවකට මේ ග්‍රන්ථය මනා මතක ජනන යන්ත්‍රයක් වනු නිසැක ය.

තුවක්කු නිහඬ වූ විට පමණක් සමස්ත ජාතිය ම, නිදහසේ හුස්ම ගනියි. එහි සම්මානය හිමි විය යුත්තේ යුද වීරයන්ටයි. අපට නිදහස් ව අපගේ අවසන් හුස්ම පොද හෙළීමට ඉඩ හසර සලසා දුන්නේ එකී උදාර වීර යුද පුතුන් ය.

සාමය අරභයා අනාගත සැලසුම් සම්පාදනය කරන ජාතික ප්‍රතිරූපයන්ට වටිනා උපදෙස් සමූහයක් යෝජනා කිරීමට මෙමගින් ප්‍රසාද් සමත්කම් දක්වා ඇති බව ද කිව යුතු ය. සාමය සඳහා කැප වූ මඟක් නොවන්නේ නම්, එය වීරවරයන්ට ද කරන මහත් අවමානයකි. සාමයේ මාවත සූදානමයි. අවදියෙන් සිටීමයි. ප්‍රජාතන්ත්‍රවාදයේ සැබෑ මිල එබඳු ය.

අප මාතෘ භූමිය තුළ දැනට දිවි ගෙවන හා මතු උපදින්නට පතන පරපුරට ද මනාව කියවා දිරවා ගත හැකි ජාති මාමක - දේශීය වස්තුවක් ප්‍රසාද් දායට උරුම කර තිබීම අවසන් ලෙස මම යළිත් අගයමි. මෙහි අඩංගු ව ඇත්තේ සත්‍යයමයි. සත්‍යය මිස අනෙකක් මෙහි අඩංගු නැත. පාඨක යුතුකම එය කියවා - දිරවාගැනීමයි. එය මාතෘ භූමිය හා ජාතිය වෙනුවෙනි.

**රියර් අද්මිරාල් ආචාර්ය සරත් පී. වීරසේකර**
VSV RWP USP PSC (USA)
Nde (India) DISS (Havaii)
පාර්ලිමේන්තු මන්ත්‍රී

2015 ජූනි 16

*"දෙවන ලෝක යුද්ධයේ ජයග්‍රහණ සැමරුම් පෙළපාලියක් ඉතා උනන්දුවෙන් ම නිරීක්ෂණය කරමින් සිටි කුඩා පිරිමි ළමයෙක් ඉන් ලැබුවේ ඉමහත් ආස්වාදයකි. පසු ව ඔහු ළඟ සිටි වයෝවෘද්ධ යුද හමුදා නිල ඇඳුමින් සන්නාහ වූ ප්‍රවීණයෙකුට ළං වී ඉතා යටහත් පහත් ව ප්‍රශ්නයක් ඇසීමට ඔහුට සිතිණ.*

*"මහත්මයා යුද වීරයෙක් වීම ගැන ඔබගේ හැඟීම මට විස්තර කරන්න පුළුවන් ද?"*

*යුද ප්‍රවීණයාගේ මුහුණ ශෝකයෙන් බර විය. ඔහු කුඩා දරුවාට උත්තර දුන්නේ මෙලෙස ය.*

*"පුතා මම යුද්ධයෙන් මිය නොගිය පුද්ගලයකු පමණයි. අපි යුද වීරයන් සියල්ලන් ම භූමදානය කළා."*

*යුද්ධය අවුල් සහගත ය. එය අතිශයින් දරුණු ය. වේදනාකාරී ය. එනමුත් කුරිරු යුද්ධය මැද්දේ වුව මනුෂ්‍යත්වය වීරත්වයේ වේශයෙන් පැමිණ එය එළිය කරන අයුරු ඉතා අපූරු ය. රණවිරුවෝ තම ජීවිත පුදා සහෝදර සොල්දාදුවන් ආරක්ෂා කරති. මෙය වීරත්වය අර්ථ දැක්වීමක් ලෙසට යොදා ගැනීම ම ශ්‍රේෂ්ඨයි. වීරයා තමා ගැන පමණක් ම සිතා කටයුතු නොකරන අතර, තම ජීවිතය ගැන නොසිතමින් සිය නිර්භීතකම ප්‍රදර්ශනය කරයි."*

*(අමරණීය සොල්දාදුවන් තිස්දෙදෙනා, පි. 194)*

## පරම වීර විභූෂණය (PWV)



පරම වීර විභූෂණය (PWV) සම්මානය 1981 දී ආරම්භ කෙරිණි. මෙය ශ්‍රී ලාංකේය හමුදා සොල්දාදුවෙකුගේ වීරත්වය සඳහා පිරිනැමෙන ඉහළ ම සහ ගෞරවාන්විත ම පදක්කම වේ.

ස්වකීය ජීවිතයට ද, ආත්ම ආරක්ෂාවට ද, සිදු විය හැකි උපද්‍රව ගැන නොසලකා සිය සගයන්ගේ ජීවිත ආරක්ෂාව නොහොත් සිය බල කණ්ඩායමේ කාර්යය අරමුණ මුදුන්පත් කරගැනීම උදෙසා සක්‍රීය සේවා කාලය තුළ ස්වේච්ඡාවෙන් ම සතුරාට මුහුණ පාමින් වික්‍රමාන්විත වූ ද, අභීත භාවය ප්‍රදර්ශනය කෙරෙන්නා වූ ද, ක්‍රියාවල පෞද්ගලික ව ම යෙදුණා වූ ද, ප්‍රදානය කිරීම යෝග්‍ය යයි යුද්ධ හමුදාධිපති, නාවික හමුදාධිපති, හෝ ගුවන් හමුදාධිපති විසින් නිර්දේශ කරන්නා වූ ද, ශ්‍රී ලංකා ජනරජයේ යුද, නාවික හා ගුවන් හමුදාවල ස්ථිර හා ස්වේච්ඡා බලසේනාවල නියුක්ත සෑම තරාතිරමට ම අයත් සියලු ම පුද්ගලයන්ට මේ පළඳනාව ප්‍රදානය කළ යුත්තේ ය.

පරම වීර විභූෂණය ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ශ්‍රී ලංකා ජනරජයේ විශේෂ ගැසට් පත්‍රිකා අංක 156/5, 1981 සැප්තැම්බර් 01 වන දිනයේ දී අනුමත කෙරිණි.

*"(PWV) පළමු පදක්කම් 3 පිරිනැමුණේ 1990-1993 දීය. සාම සාකච්ඡා බිඳවැටීමෙන් පසු ව 1995-2002 කාලයේ දී 6 දෙනෙකුට ප්‍රදානය කෙරිණි. අන්තිම අවුරුදු දෙකේ දී එය 23 වාරයක් ප්‍රදානය කිරීමට සිදු විය. අප රටේ පැවතුණ යුද්ධයේ බිහිසුණු භාවය කාල වකවානු අනුව මින් අවබෝධ කරගත හැකි ය."*

*(අමරණීය සොල්දාදුවන් තිස්දෙදෙනා, පි. 196)*

*"මෙකී සොල්දාදුවන් තිස් දෙදෙනා උපරිම වීරත්වය ප්‍රදර්ශනය කර ඇත්තේ සාමාන්‍ය සොල්දාදුවන් ලෙස වීමත් ඉතා වැදගත් ය. ඔවුහු හමුදා නායකයන් හෝ නාවික අද්මිරාල්වරු නොවූහ."*

*(අමරණීය සොල්දාදුවන් තිස්දෙදෙනා, පි. 195*

*"මොවුන් කිසිවෙකු මේ පදක්කම පැලඳි පසු එහි සැලකිලි ලැබීමට ජීවත් වූයේ නැත. හමුදා ව්‍යවහාරයට අනුව ඉහළ ම නිලධාරියා වුව ද, ඔහු කුමන නිලයකට අයත් වුව ද මේ පදක්කම් ලාභියා ඉදිරියේ දී ඔහුට ආචාර කළ යුතු වේ."*

*(අමරණීය සොල්දාදුවන් තිස්දෙදෙනා, පි. 195)*


O/3113
කපිතාන්
A.S.U. අලදෙනිය


S/34553
කෝප්‍රල්
Y.G. ගාමිණී කුලරත්න


O/61672
ලුතිනන්
K.W.T. නිශ්ශංක


S/77304
බලලත් නිළධාරී
H.P.B. ගුණසේකර


S/15296
ලාන්ස් කෝප්‍රල්
W.I.M. සෙනවිරත්න


O/50981
කර්නල්
A.F. ලතීෆ්


O/61736
මේජර්
G.S. ජයනාත


O/64314
ලුතිනන් කර්නල්
A.J.L. ජයසිංහ


O/64734
මේජර්
K.A. ගමගේ


O/65746
කපිතාන්
U.G.S. සමරනායක


O/66514
කපිතාන්
H.M.K.I. මේඝවර්ණ


S/511904
සැරයන්
H.P.S. බණ්ඩාර


S/513841
සැරයන්
P.N. සුරංග


S/410053
කෝප්‍රල්
P.M.N. පුෂ්පකුමාර


S/462696
සැරයන්
D.M.S. චන්ද්‍රසිරි බණ්ඩාර


S/467722
කෝප්‍රල්
K. චන්දන


S/197405
ලාන්ස් කෝප්‍රල්
R.M.C.M. රත්නායක


S/317077
කෝප්‍රල්
A.M.M.P. අබේසිංහA.


S/198852
ලාන්ස් කෝප්‍රල්
.M.B.H.G. අබේරත්න බංඩා


S/319509
ලාන්ස් කෝප්‍රල්
T.G.R. දයානන්ද


O/66009
කපිතාන්
P.N. පුන්සිරි


O/416581
ලුතිනන්
W.D. ජයතිලක


S/552009
මාණ්ඩලික සැරයන්
K.P.N.L.R. පෙරේරා


S/552511
සැරයන්
K.P.D.T. ගුණසේකර


S/553286
කෝප්‍රල්
H.A. නිලන්ත කුමාර


S/554572
කෝප්‍රල්
S.V.A.M. පුෂ්පමාල්


O/64556
මේජර්
W.H.I.S.B. වලිසුන්දර


S/362939
සැරයන්
A.M. අනුර


S/371780
ලාන්ස් කෝප්‍රල්
K.G.M. රාජපක්ෂ


NRX 0517
ලුතිනන්
J.L.D.S. විජේතුංග


XX 31243
ප්‍රධාන සුළු නිළධාරී
K.G. ශාන්ත


01502
වින්ග් කමාන්ඩර්
T.D.S. සිල්වාපුල්ලේ

# පරම වීර විභූෂණය (PWV) පදක්කම් ලාභීන්

# PWV පදක්කම් ලාභීන් වීරත්වය ප්‍රදර්ශනය කල ස්ථාන




1 කොකාවිල්
2 අලිමංකඩ
3 පූනරින්
4 චිරතිව්
5 යාපනය
6 මුලතිව්
7 මාන්කුලම්
8 ඔඩ්ඩුසුඩාන්
9 අම්පලවන්පොත්නයි
10 පුදුකුඩුඉරිප්පු
11 පුදුකුඩුඉරිප්පු
12 නන්දිකඩාල්
13 නාගර්කෝවිල්
14 විශ්වමඩු
15 පුදුකුඩුඉරිප්පු
16 මාන්කුලම්
17 චලෙයි
18 තුණුක්කායි
19 විශ්වමඩු
20 කිලිනොච්චි
21 පාලම්පිඩ්ඩි
22 ඉරනමඩු
23 පුදුමාතලන්
24 පුදුකුඩුඉරිප්ප
25 නිලාවේලි
26 පුදුමාතලන්
27 නාගර්කෝවිල්
28 පෙරියම්පනේ
29 අඩම්පන්
30 චලෙයි
31 නාගර්කෝවිල්
32 තමිලමඩම

# ස්තුතියි

අමරණීය සොල්දාදුවන් විසිනවය පොත මුල් වරට මුද්‍රණය වූයේ 2015 සැප්තැම්බර් මාසයේ ජාතික පොත් ප්‍රදර්ශණය සඳහා ය. පසු ව පොත එළිදැක්වීමේ උත්සවය සඳහා එහි තෙවන මුද්‍රණය 2016 මාර්තු මාසයේ දී සිදුකෙරිණි. මේ පොතට දත්ත රැස්කරන කාලයේ දී වාර්තා වුන පරම වීර විභූෂණය (PWV) ලාභීන් ගණන 29කි. පසු ව සොල්දාදුවන් තුන් දෙනෙකු එකතු වීම නිසා සම්පූර්ණ PWV පදක්කම් ලාභීන් ගණන 32 දක්වා වැඩි විය.

අමරණීය සොල්දාදුවන් විසි නවය සඳහා "මුහුණු පොතෙන්" සහ අනෙකුත් මාධ්‍යවලින් ඉතා සාධනීය ප්‍රතිචාර ලැබුණ අතර එහි පිටපත් සියල්ල ම අවසන් වී ඇත. එබැවින් නැවත මුද්‍රණයකට කෙරුණු පාඨක ඉල්ලීම සහ අලුතින් එකතු වූ PWV පදක්කම් ලාභීන් තුන්දෙනාගේ විස්තර ඇතුළත් කිරීමේ අවශ්‍යතා සැලකිල්ලට ගනිමින් අමරණීය සොල්දාදුවන් තිස් දෙදෙනා පොත එළිදැක්වීමට තීරණය කළෙමි.

මේ පොතට අවශ්‍ය කරුණු ආරක්ෂක අමාත්‍යාංශයේ මාධ්‍ය ඒකකයෙන් ලබාගැනීමට අනුමැතිය ලබාදුන් ජාතික ආරක්ෂක ලේකම් මේජර් ජෙනරාල් (විශ්‍රාමික) කමල් ගුණරත්න සහ රණවිරු සේවා අධිකාරියේ සභාපති ජෙනරාල් (විශ්‍රාමික) නන්දන සේනාධීර හට මාගේ කෘතඥතාව හිමි වේ.

අමරණීය සොල්දාදුවන් විසිනවය සඳහා රියර් අද්මිරාල් සරත් වීරසේකර විසින් කෙරුණු පූර්විකාවේ ගුණාත්මක භාවය සැලකිල්ලට ගනිමින් එය අමරණීය සොල්දාදුවන් තිස් දෙදෙනා පොතට ද ඇතුළු කිරීමට තීරණය කළෙමි.

අමරණීය සොල්දාදුවන් තිස්දෙදෙනා පොතට ගරු අග මැතිතුමාගේ පණිවිඩය ලබාගැනීම සඳහා උපකාර කළ විජයකුමාර මංචනායක මිතුරාට, සරෝජනී මුණසිංහ සොහොයුරියට සහ අග්‍රාමාත්‍ය කාර්යාලයේ මාධ්‍ය ඒකකයේ සේවක පිරිසට මාගේ කෘතඥතාව පිරිනමමි. හමුදාපති තුමාගේ පණිවිඩය ලබාගැනීමට උපකාර කළ ප්‍රබෝධනී මාරසිංහ සොහොයුරියට මාගේ ස්තුතිය පිරිනමමි.

ඉංග්‍රීසි භාෂාවෙන් පොත ලියා අවසන් වූ පසු එහි සිංහල අනුවර්තනයේ වැදගත්කම පිළිබඳ ව කපිතන් එල්මෝ ජයවර්ධන විසින් කළ දැනුවත් කිරීම මම අගය කොට සලකමි. COVID - 19 ඇඳිරි නීති කාලවල දී මුද්‍රණ කටයුතු සම්බන්ධීකරණය වෙනුවෙන් ප්‍රවාහන පහසුකම් සැපයූ දර්ශන ගාල්ලගේ සොහොයුරාට ද මගේ කෘතඥතාව හිමි වේ. එමෙන් ම මේ පොතට දත්ත රැස් කිරීමට ප්‍රවාහන පහසුකම් සැපයූ මංජුල දිසානායකට ද මාගේ කෘතඥතාව හිමි වේ.

අමරණීය සොල්දාදුවන් තිස් දෙදෙනා පිටපතේ පරිගණක දත්ත සහ පිටු සැකසීමට දායක වූ 'ද ෆොන්ට් මාස්ටර්' ආයතනයේ අධිපති පුෂ්පානන්ද ඒකනායක මහතාට සහ ප්‍රින්ට්කෙයර් අජයිල් ආයතනයට මාගේ ස්තුතිය හිමි වේ.

මේ පොත ප්‍රකාශයට පත් කිරීමට භාරගත් 'ෆාස්ට් පබ්ලිෂින් (ප්‍රයිවේට්) ලිමිටඩ්' ආයතනයට සහ එහි අධිපති ප්‍රේම් දිසානායක මහතාට මගේ කෘතඥතාව පිරිනමමි.

මේ පොත ලිවීමේ දී මාගේ දයාබර බිරිඳ හර්ෂිනීගෙන් සහ දරුවන්ගෙන් ලැබුණ නොයෙකුත් ආකාරයේ සහයෝගය හා දිරිය මෙහිලා මට අමතක කළ නොහැකි ය. එය මම මහත් ඉහළින් ම අගයමි.

**ප්‍රසාද් පොල්වත්ත**
71 ආනන්ද මාවත,
ගම්පහ.

ටෙලි - 0332 228 911, 0773 478 138
ඊමේල් - polwatteprasad@gmail.com
වෙබ් - www. Prasad Polwatte.com
2020 ඔක්තෝබර් 23

# පටුන

**තුන් වන කොටස -**
පරම වීර විභූෂණ පදක්කම් ලාභී සොල්දාදුවන්ගේ
වික්‍රමාන්විත ක්‍රියාකාරකම්.... 85-194

## පළමු වන කොටස

# ශ්‍රී ලංකාවේ සිදු වූ අරගලවල ඓතිහාසික පසුබිම

1.1

## අප රණවිරුවන් පිළිබඳ ව ලිවිය යුත්තේ ඇයි?

ශ්‍රී ලාංකේය ඉතිහාසය පිළිබඳ මූලාශ්‍ර අවුරුදු 5000 ක පමණ අතීතයකට දිව යනු ඇත. මේ ඉතිහාසයේ මවුබිම වෙනුවෙන් අභීත ව සටන් කළ විරුවන් ගැන සහ මවුබිම වෙනුවෙන් දිවි පිදූ විරුවන් ගැන ද ඉමහත් ඇගයීමෙන් සඳහන් ව තිබේ. චීනය සහ ජපානය වැනි ප්‍රාචීන රටවල්වලට සමගාමී ව අපට ම ආවේණික වූ සටන් කලා ගැන ශ්‍රී ලංකාවේ ද සඳහන් ව ඇත.

දුටුගැමුණු පාලන සමයේ සිටි දස මහා යෝධයන් පිළිබඳ ව තොරතුරුවලින් ද සනාථ වන්නේ, මවුබිම වෙනුවෙන් කැප වුණු වීර වික්‍රමාන්විත රණ ශූරයින් අප රටට බොහෝ කලක සිට ම දයාද වී තිබූ බව යි.

පසුගිය තිස් වසරක සිවිල් යුද්ධයේ දී ද අප රටේ ඒකීය භාවය ආරක්ෂා කරගැනීමට සහ ත්‍රස්තවාදී උවදුරුවලින් බේරාග ැනීම සඳහා වීරෝදාර රණවිරුවන් බිහි විය. සමහරු ජීවිතය කැප කළහ. මොවුන් පිළිබඳ ව විස්තර ඉතා ම ආකර්ෂණීය මෙන් ම හද සසල කරවනසුලු ය. එබැවින්, ඒ තොරතුරු ඉදිරි පරපුරට ලිඛිත ව සංරක්ෂණය කිරීම වර්තමාන අපගේ යුතුකමයි.

ජනවාර්ගිකයන් අතර බෙදුම්වාදී අරගලවලට ඇත්තේ දීර්ඝ ඉතිහාසයකි. එවැනි අරගල බිහිසුණු-මනුෂ්‍ය සංහාරවලින් අවසන් වී ඇත. නූතන ලෝකය තුළ වර්ගවාදී ගැටුම් ජාත්‍යන්තර ත්‍රස්තවාදය දක්වා පැතිර යනු පෙනේ. නවීන යුද ආයුධ සහ තාක්ෂණය යොදාගැනීම නිසා දියුණු හෝ දියුණු වෙමින්

පවතින රටකට මොවුන් සිදු කරන විනාශකාරී ක්‍රියා නැවැත්විය නොහැකි තත්ත්වයක් උද්ගත ව ඇති අයුරු ද පෙනේ.

ශ්‍රී ලංකාවේ ද්‍රවිඩ ත්‍රස්තවාදය 1970 ගණන්වල ඉතා සුළුවෙන් ආරම්භ වී 1983 ජූලි අරගලවලින් පසු මහා පරිමාණයෙන් වර්ධනය වී ජාත්‍යන්තර සංවිධානයක මට්ටමකට පත් විය. සමහර විදේශ රටවල් මේ දඩබ්බරකම් අනුමත කළහ. මොවුන් හට යුද පුහුණුව ද ලබා දුන්හ. එහෙත් ඔවුන් කරන ම්ලේච්ඡ ක්‍රියා නැවැත්වීමට කිසි ම උත්සාහයක් නොකළහ.

ශ්‍රී ලංකාවේ ද්‍රවිඩ ත්‍රස්තවාදය එසේ බලවත් වී අතිබිහිසුණු විනාශකාරී ක්‍රියා ඇරඹූ සැටි අපි දනිමු. ඔවුහු 1991 ඉන්දීය අගමැති රජීව් ගාන්ධි ඝාතනය කළහ. 1993 ශ්‍රී ලංකා ජනාධිපති රණසිංහ ප්‍රේමදාස ඝාතනය කළහ.

LTTE ය ජාත්‍යන්තර ව ප්‍රබල වූ සංවිධානයක් වුවත් එය රටවල් 32 ක් විසින් ත්‍රස්තවාදී සංවිධානයක් ලෙස නම් කර තහනම් කර තිබුණි. ඉන්දියාව 1994 දීත්, උතුරු ඇමරිකාව 1997 දීත්, බ්‍රිතාන්‍යය 2001 සහ යුරෝපීය සංගමය 2006 දීත් මෙය තහනම් කළහ.

ඉන්දීය සාම සාධක හමුදාව (IPKF) ශ්‍රී ලංකාවේ උතුරු නැගෙනහිර ප්‍රදේශවල තම සොල්දාදුවන් 80,000ක් පමණ අවුරුදු 03 කට ආසන්න කාලයක් 1987 සිට 1990 දක්වා යොදවමින් ශ්‍රී ලංකාවේ පැවැති ද්‍රවිඩ ත්‍රස්තවාදී අරගලය පාලනය කිරීමට උත්සාහ දැරුව ද ඔවුන්ට එය කළ නොහැකි විය.

ශ්‍රී ලංකාව 1983 සිට පටන්ගත් ද්‍රවිඩ ත්‍රස්තවාදයට එරෙහි සටන අවසන් කළේ 2009 දී ය. මෙය අවුරුදු 30 ක් දක්වා දීර්ඝ ලෙස ඇදී ගියේ ය. අභ්‍යන්තර දේශපාලනඥයින් සහ ජාත්‍යන්තර ප්‍රජාවගේ මැදිහත් වීමෙන්, ඇති වූ සාම සාකච්ඡා සහ සටන් විරාම අතරමැද සිදු වූයේ සිවිල් යුද්ධය තව තවත් දුර දිගටම ඇදී යෑම පමණි.

ත්‍රස්තවාදීන් අනුගමනය කරන්නේ ගරිල්ලා සටන් ක්‍රම ය.

ඒවා බොහෝ විට සම්ප්‍රදායානුකූල සටන් නොවේ. ඔවුන් හට කාන්තා හට කණ්ඩායම්, ළමා සොල්දාදුවන් සහ මරාගෙන මැරෙන සාමාජිකයෝ එකතු වූහ. තම මරණයට අභීත ව මුහුණ දීමට සූදානම් වුණු නිර්භීත හට පිරිසක් ඔවුන් සතු විය. ශ්‍රී ලංකා හමුදාවන්ට LTTE ය සමඟ සටන් කිරීමේ දී ඉහත සඳහන් අභියෝගවලට මුහුණ දීමට සිදු වීම බරපතළ අභියෝගයක් වීම නොවැළැක්විය හැකි විය. මේ පොතෙහි සඳහන් සොල්දාදුවන් 32 දෙනා වැනි රණවිරුවන්ගෙන් ලැබුණ සහය නිසා ම ශ්‍රී ලංකා රජයට මේ සටන ජයග්‍රහණය තෙක් ඉදිරියට ගෙන යෑමේ හැකියාව ලැබුණු බව පැවසීමත් සත්‍යයක් ලෙස අපි අදහමු.

1.2

# ත්‍රස්තවාදයේ මුල් බීජය සහ දිග ඇදී ගිය සිවිල් යුද්ධය

ජනවර්ග අතර අසමගිය අද මුළු මහත් මනුෂ්‍ය සංහතියට ම පොදු වූ ලක්ෂණයක් බවට පත් ව තිබෙනු පෙනේ. එය ඉතා දියුණු සමාජයක මෙන් ම නොදියුණු සමාජයක් තුළ ද එක සේ බලවත් විය හැකි ය. උතුරු ඇමරිකාවේ ඇති කළු සුදු භේදය ඒ රටේ ඉතිහාසය තරමට ම දීර්ඝ ය. ඉංග්‍රීසි සහ අයර්ලන්ත අර්බුදය, ජර්මනියේ නාසි සහ යුදෙව් අරගල, මුස්ලිම් රටවල ඇති සුන්නි සහ ෂියා අරගල දෑවැන්ත සංග්‍රාම දක්වා වර්ධනය විය. තව ම ඒ ප්‍රශ්න නිරාකරණය වී නොමැත. *ඊශ්‍රායල් - පලස්තීන අර්බුදය ඊශ්‍රායලයේ ඉතිහාසය තරමට ම දීර්ඝ ය.* මෙය මනුෂ්‍ය වර්ගයාගේ සහජ ලක්ෂණයක් දැයි අපි ප්‍රශ්න කරමු.

නමුත් මේ අභ්‍යන්තර අරගල ජාත්‍යන්තර ප්‍රශ්න ලෙසට උග්‍ර වන්නේ එය පිටුපසින් රඟන වෙනත් න්‍යාය පත්‍ර වෙනුවෙන් ය. ජාත්‍යන්තර මාධ්‍යය බොහෝ විට ස්වාධීන නොවේ. ඒවා බටහිර රටවල අවශ්‍යතාවලට ප්‍රචාරණය දීමට සැදී පැහැදී සිටින ආයතන වේ. ඒවා ම්ලේච්ඡ ත්‍රස්තවාදී ක්‍රියා නිදහස් සටන්කාමීන්ගේ පිබිදීමක් ලෙසත්, රජයකින් කෙරෙන ත්‍රස්තවාදී මර්දන මානුෂීය අයිතිවාසිකම් උල්ලංඝනයක් ලෙසත් අර්ථ දක්වයි. එසේ ම බලවත් රටවලින් සමහර රටවලට කෙරෙන අකටයුතුකම්වල දී මුනිවත රකින හැටිත් ඉතා අපූරු ය. උතුරු ඇමරිකාව ප්‍රමුඛ බටහිර රටවලින් ස්වාධීන රටවල පාලන තන්ත්‍රයට කෙරෙන මැදිහත් වීම් සාධාරණීකරණය කිරීමේ හැකියාව ද ඉන් පිළිබිඹු වේ. අතීතය සසල කළ හිරෝෂිමා බෝම්බ දැමීම සහ වියට්නාම් යුද්ධයේ දී සිදු වූ මානව අයිතිවාසිකම් උල්ලංඝනය ගැන නිසි මාධ්‍ය අවධානයක් ලැබුණේ ද? නැත. තව ද මෑතක දී සිදු වූ ඉරාක ආක්‍රමණය, ලිබියාවට පහර දීම, ඊජිප්තුවේ පාලන වෙනසට ආධාර කිරීම වැනි ක්‍රියා නිසා ඒ රටවල් විනාශ වී ගියේ ය. ජනතාව තිබූ

ජීවන තත්ත්වයෙන් තවත් පහළට ඇද වැටුණි. නමුත් මාධ්‍ය අවධානය යොමු වූයේ වෙනත් දිශාවකට ය.

මේ අන්තර් ජාතික අතපෙවීම් නූතන යටත් විජිත වාදය ලෙසට ද අර්ථ දැක්විය හැකි ය. එය රටක ස්වභාවික සම්පත් කොල්ලකෑමට හෝ තම ගෝලීය බලවත් භාවය තහවුරු කරගැනීම සඳහා කරන උත්සාහයක් බව සනාථ කිරීමට සාක්ෂි ඕනෑ තරම් අප සතු ව ඇත.

මෙවැනි නූතන ගෝලීය පරිසරයක සටන්කාමී සංවිධාන බිහි වීම ඒ රටේ ඉදිරි පැවැත්මට ඉතා හානිදායක ය. ද්‍රවිඩ ත්‍රස්තවාදය ද ශ්‍රී ලංකාවට බලපෑවේ මෙන්න මේ ලෙසට ය.

ශ්‍රී ලංකාවේ සිංහල ද්‍රවිඩ ජාතීන් අතර අරගලයට ඉතා දීර්ඝ ඉතිහාසයක් තිබේ. එය දුටුගැමුණු එළාර සමයටත් වඩා පැරණි ය. මේ සට්ටන අප රට බ්‍රිතාන්‍ය යටත් විජිතයක් වූ පසු මධ්‍යම පන්තියේ අරගලයක් සහිත ව වර්ධනය විය. බොහෝ විට යටත් විජිත පාලනයක දී සුළු ජාතියක් විශේෂ වරප්‍රසාද ලබනු ඇත. අධ්‍යාපනය සහ රජයේ රැකියාවල දී අඩු සැලකිල්ලක් සිංහලයන් හට ලැබුණා විය යුතු ම ය.

නිදහස ලැබීමෙන් පසු ව දේශීය දේශපාලනඥයින් තීරණය ගන්නේ පොදු සමාජයක් ලෙසට නොව ජාතීන් හට එහි සංවේදීතාව දැනෙන පරිදි ය. මෙහි දී රටේ බහුතර සිංහල ජාතිය සම්පත් බෙදී යෑම තමන්ට වූ අසාධාරණයක් ලෙස සලකන්නට විය. ද්‍රවිඩ ජාතිකයෝ සම අයිතීන් සඳහා උද්ඝෝෂණය කරන්නට වූහ. මේ සට්ටන කෙළවර වූයේ ස්වයං රාජ්‍යයක් සඳහා සටන් කිරීමට නැඹුරු වූ දෙමළ ත්‍රස්තවාදී පිරිසක් නිර්මාණය වීමෙනි.

සුළුවෙන් පටන්ගත් ද්‍රවිඩ ත්‍රස්තවාදී කල්ලි ජාත්‍යන්තර සහයන් ගොඩනඟාගෙන හැකි තරම් ශක්තිමත් වූහ. ප්‍රබල රටවලින් සටන් පුහුණුව, නවීන යුද ආයුධ සහ ජාත්‍යන්තර වශයෙන් විශාල මුදල් සම්භාරයක් රැස් කිරීමේ හැකියාව ද ලැබූහ. රාජ්‍ය නොවන සංවිධාන සහ සමහර මාධ්‍යවල නොමඳ

සහාය ද ලබාගත්හ. පසු ව ඔවුහු දීර්ඝ සටනක් සඳහා ශක්තිය සහ ධෛර්යය මෙන් ම බලයෙන් ද ඔද වැඩී ගියහ.

මෙසේ සංවිධානය වන අතර ම, ඔවුහු ශ්‍රී ලංකා යුද හමුදාවට ප්‍රබල ප්‍රහාර එල්ල කළහ. සමහර යුද හමුදා කඳවුරු සහමුලින් ම විනාශ කළහ. සිවිල් ජනයා වාසය කරන ගම්මාන විනාශ කර අහිංසක ගම්වැසියන් මරා දැමූහ. ආර්ථික මර්මස්ථානවලට පහර දුන්හ. ශ්‍රී ලංකාවේ අතිවිශාල මනුෂ්‍ය ඝාතන ම්ලේච්ඡ ලෙසට ම කිරීමට ද්‍රවිඩ ත්‍රස්තයන් පැකිළුණේ නැත.

1.3

## ඓතිහාසික පසුබිම

1.3.1

## පුරාණ සිංහල රාජධානි සහ විදේශීය ආක්‍රමණ

ඓතිහාසික වාර්තාවලට අනුව අප රට විදේශීය ආක්‍රමණ රැසකට ගොදුරු වූ පුංචි රාජ්‍යයකි. මේ ආක්‍රමණ අසල්වැසි ඉන්දියාවෙන් මෙන් ම යුරෝපීය රටවලින් ද සිදු විය.

ලංකාවේ ලිඛිත ඉතිහාසය ඇරඹෙනුයේ ස්වදේශීය යක්ෂ ගෝත්‍රිකයන්ගෙනි. ඔවුන් ක්‍රිස්තු පූර්ව 1වන සහස්‍රයේ දී මෙරටට සංක්‍රමණය වූ බවට සාක්ෂි ඇත. නාග සහ දේව ගෝත්‍රිකයෝ රටේ අනික් කොටස්කරුවෝ වූහ. නාග ගෝත්‍රිකයෝ මීඩියාවෙන් පැමිණි ආර්යයන් වූ අතර, දේව ගෝත්‍රිකයෝ ඉන්දියාව හරහා ලංකාවට පැමිණි පර්සියානුවෝය.

යක්ෂ ගෝත්‍රිකයෝ ලංකාපුර නමින් හැඳින්වුණ අනුරාධපුර ප්‍රදේශයේ සහ පුත්තලම ප්‍රදේශයේ විසූ අතර නාග ගෝත්‍රිකයෝ නාගදීපයේ සහ කැලණියේ ජීවත් වූවෝ ය. සුළුතරය වූ දේවගෝත්‍රිකයන් ජීවත් වූයේ දකුණු රට අභ්‍යන්තරයේ මලය රට (කන්ද උඩරට) ආශ්‍රිත ව ය.

ක්‍රිපූ 543 පමණ උතුරු ඉන්දියාවේ ශාක්‍ය වංසයට අයත් විජය කුමරු තම පිරිවර සමඟ තම්මැන්නාවට ගොඩබැසූ බවට සඳහන්වේ. විජය යක්ෂ ගෝත්‍රික කුවේණි සමඟ මිතුරු වී ඇගේ උපකාරයෙන් රටේ නායකයා බවට පත් විය. රටේ පාලන බලය ලබාගත් පසු ඔහු කුවේණිය සහ දරු දෙදෙනා පන්නා දමා ඉන්දියාවෙන් කුමාරියක ගෙන්වා මෙහෙසිය කරගත්තේ ය. විජය සහ අනුගාමිකයෝ මල්වතුඔය ආශ්‍රිත ව බටහිර වෙරළේ තම්බපණ්ණි නම්වූ ජනාවාසය ස්ථාපිත කළෝ ය.

විජයගෙන් පසු ඔහුගේ බෑනණුවකු වූ පඬුවස්දෙව් කුමරු ඉන්දියාවේ සිට පැමිණ උපතිස්ස ගම අගනුවර කරගෙන රට පාලනය කළේ ය. ඉන්දියාවේ සිට පැමිණි භද්‍රකත්‍යානා ඔහුගේ අගමෙහෙසිය වූවා ය. ඇයගේ සොහොයුරන් වූ රෝහණ, රාම, උරුවෙල, අනුරාධ, විජිත සහ දීඝායු රජතුමාගේ අනුග්‍රහයෙන් රට අභ්‍යන්තරයට ගොස් මල්වතු ඔය ආශ්‍රිතව ජනාවාස පිහිටුවා පාලනය කළහ. අනුරාධ කුමරු පිහිටවූ ජනාවාසය අනුරාධපුරය විය. පඬුවස්දෙව් රජු හට පුතුන් දස දෙනෙකු ද ඉතා සුන්දර චිත්‍රා නම් දියණියක් ද වූවා ය. දුටුවන් වසඟ කරවන රූපයකට හිමිකම් කී ඇය හඳුන්වන ලද්දේ උන්මාද චිත්‍රා ලෙසට ය. චිත්‍රා බිහි කරන පුතණුවකු විසින් මාමාවරු දස දෙනා ම ඝාතනය කරන බවට අනාවැකියක් නැකැත් කරුවන් පැවසූ බැවින් පඬුවස් දෙව් රජු උන්මාද චිත්‍රාව එක්ටැම්ගෙයක සිර කළේ ය.

පඬුවස් දෙව් රජු ගේ අභාවයෙන් පසු ව ඔහුගේ වැඩිමහල් පුත් අභය සිහසුනට පත් විය. දීඝායු කුමරුගේ පුත්‍ර ඇවැස්ස ඥාතියකු වූ දීඝගාමිණී, උන්මාද චිත්‍රා සමඟ ප්‍රේම සබඳතාවක් ගොඩනගාගත්තේ ය. ඔවුන්ට දාව උපන් පණ්ඩුකාභය කුමරු රහසිගතව මාලිගයෙන් පිටමං කර වනගත බ්‍රාහ්මණයකු විසින් ඇතිදැඩි කෙරිණි. පණ්ඩුකාභය ආයුධ ශිල්පය සහ යුද හරඹය ප්‍රගුණ කර සේනාවක් සංවිධානය කර තම මාමාවරු දසදෙනා ඝාතනය කර අනුරාධපුරය අගනුවර කරගෙන රටේ රජු බවට පත් විය. ඔහුගේ මෙහෙසිය ස්වර්ණපාලී වූවා ය.

ක්‍රි.පූ. 177 වර්ෂය වන විට ඉන්දීය ද්‍රවිඩ ආක්‍රමණිකයෝ අනුරාධපුරයේ පාලන බලය අල්ලා ගත්හ. මේ කාලයේ දී

සිංහලයෝ දිවයිනේ දකුණු පෙදෙසේ රුහුණු රාජධානිය පිහිටුවා ගෙන සිටියහ. ද්‍රවිඩ රජවරුන් අතර වඩාත් කැපී පෙනුණේ එළාර නම් සොළී රජු ය. ඔහු ක්‍රි.පූ. 205 වර්ෂයේ සිට හතළිස් වසරක් අනුරාධපුරයේ සිට රාජ්‍ය පාලනය මෙහෙයවී ය. එළාර පරාජයට පත් කළ දුටුගැමුණු රජුට දිවයින ම එක්සේසත් කර අනුරාධපුරය අගනුවර කරගෙන පාලනය කිරීමේ හැකියාව ලැබුණි.

දුටුගැමුණු රජුගෙන් පසු සොළී තර්ජන ලංකාවට එල්ල වන්නට විය. වසර 1400 පමණ දීර්ඝ වූ අනුරාධපුර රාජධානිය ක්‍රි.ව. 1017 දී දකුණු ඉන්දියානු චෝල ආක්‍රමණිකයන් විසින් විනාශ කෙරිණි. සිංහල රාජධානිය පොලොන්නරුවට ගෙන ගියහ. එහෙත් පොලොන්නරුව ද දකුණු ඉන්දීය ආක්‍රමණයකට ගොදුරු වීම නිසා සිංහලයෝ රුහුණට පලා ගියහ.

ක්‍රි.ව. 1070 දී 1 වන විජයබාහු රජු රට එක්සේසත් කර පොලොන්නරුව අගනුවර බවට පත් කර රට පාලනය කළේ ය. ඔහු ක්‍රි.ව. 1110 දක්වා රජ කළේ ය. ඉන්පසු ඇති වූ අභ්‍යන්තර අරගල නිසා රට යළිත් පරිහානියට පත් විය. පසු ව ක්‍රි.ව. 1153 දී මහා පරාක්‍රමබාහු රජු යළිත් රට එක්සේසත් කර පොලොන්නරුවේ සිට රට පාලනය කළේ ය.

ක්‍රි.ව. 10 දී පමණ අනුරාධපුරයේ සහ පොලොන්නරුවේ විසූ ද්‍රවිඩයෝ උතුරට සංක්‍රමණය වෙමින් අනුරාධපුරය සහ යාපනය අතර වූ වන්නි ප්‍රදේශවල සිය පදිංචිය ස්ථාපිත කරගත්හ. දහතුන් වන සියවස වන විට වන්නි ප්‍රදේශය අතහැර යාපන අර්ධද්වීපයටත්, දිවයිනේ නැගෙනහිර වෙරළේ විසිර තිබූ ජනාවාස කිහිපයකටත් සංක්‍රමණය වූ ඔවුහු දමිළ රජකු යටතේ ඔවුන්ගේ ම රාජධානියක් පිහිටුවා ගැනීමට සමත් වූහ. ක්‍රි.ව. 1620 දී ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශ පෘතුගීසි පාලනයට යටත් වීමත් සමඟ ම උතුරේ ද්‍රවිඩ රාජධානිය නිමාවට පත් විය.

ක්‍රි.ව. 1215 දී සිදු වූ කාලිංග මාඝ ආක්‍රමණයෙන් පොලොන්නරුව රාජධානිය විනාශ විය. මේ ආක්‍රමණය

ශ්‍රී ලාංකේය ඉතිහාසය තුළ සිදු වූ දරුණුතම විනාශයක් ලෙසට සඳහන් වේ. සිංහල රජදරුවන් නිර්මාණය කළ මහ නගර වල් බිහිවූ අතර නැවත සොයා ගත්තේ 19 වන ශත වර්ෂයේ දී නටබුන් වූ පුරාවස්තු ලෙසට ය.

පොලොන්නරුව රාජධානිය බිඳවැටීමෙන් පසු ව රට එක්සේසත් කිරීමට හැකිවූයේ 1410 දී 6 වන පරාක්‍රමබාහු රජතුමාටයි. ඔහු ජයවර්ධනපුරය (කෝට්ටේ) අගනුවර ලෙස ඉදි කර රට පාලනය කළේ ය. නමුත් කෝට්ටේ රාජධානිය 1505 දී පැමිණි පෘතුගීසීන් ගෙන් අරක්ෂා කරගැනීමට දුර්වල සිංහල රජවරු අපොහොසත් වූහ. 1588 දී දොන් ජුවන් ධර්මපාල රජු කෝට්ටේ හැරදමා කොළඹ කොටුවේ පදිංචියට ගිය පසු එය පරංගින් විසින් ගිනිතබා විනාශ කෙරිණි.

සතුරු ආක්‍රමණිකයන්ගෙන් ආරක්ෂා වීමට සිංහල රාජධානිය ක්‍රි.ව. 1521 - 1593 දක්වා සීතාවකට ද අවසානයේ දී ක්‍රි.ව. 1590 - 1815 දක්වා මහනුවරට ද සංක්‍රමණය විය. රටේ මුහුදුබඩ පාලනය පෘතුගීසින් විසින් 1505-1658 දක්වා නතු කරගැනිණි. පසු ව ලන්දේසි 1640-1796 දක්වා ද ඉන්පසු ඉංග්‍රීසිහු මුළු රටේ ආධිපත්‍යය ද 1815 දී නතුකරගත්හ.

1.3.2

# 1505 - 1739

# විදේශික ආක්‍රමණිකයන්ට රැවටුණු සිංහල රජදරුවන්

1518 දී ලාපෝ සෝආරේස් ද අල්බගේරියා නම් වූ ඉන්දියාවේ පෘතුගීසි ආණ්ඩුකාරයා නැව් විසි හතක කණ්ඩායමකින් දහසකට අධික සොල්දාදුවන් පිරිසක් ගෙන කොළඹට පැමිණියේ ය. මේ කාලයේ දී සිංහල රාජ්‍යය පාලනය කළේ 9 වන ධර්ම පරාක්‍රමබාහු රජු ය. පෘතුගීසීන් ඉන්දියාවෙන් ඉගෙනගත් කූටෝපාය යොදාගනිමින් කොළඹ ගෙරිසමකින් වැසිය හැකි භූමි ප්‍රදේශයක තම බලකොටුව ඉදිකිරීමට රජුගෙන් අවසර ඉල්ලා සිටියහ. රජු ඊට අවසර දුන්නේ ය. පෘතුගීසීන් බලකොටුව සඳහා අත්පත් කරගත්තේ ගෙරි සමකින් සිහින් කොට ඉරාගත් පටියකින් වට කළ හැකි ප්‍රදේශයකි. එය ඉතා විශාල භූමි ප්‍රදේශයක් වූ බැවින් පෘතුගීසීන් විසින් සිංහලේ රජුව මුළාවට ලක් කෙරිණි. පෘතුගීසීන්ගේ කොළඹ බලකොටුව ඉදිකිරීම යුරෝපීය ජාතියක් ලංකාවේ පයගසා ගැනීම පිණිස ලැබූ පළමු ඉඩහසර විය.

කොළඹ බළකොටුවේ සිටිමින් ම 1658 දී ඔවුන්ගේ යාපනය බළකොටුව බිඳ වැටෙන තුරු ම පෘතුගීසිහු ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශ තුළ විවිධ ක්‍රමවලින් සිය ආධිපත්‍යය පතුරවමින් පාලනය කළහ.

එය යුරෝපීය ආක්‍රමණවල ආරම්භය විය. ඉන් වසර තුන්සියයක් වැනි කාලයක් තුළ බොහෝ දෑ වෙනස් විය. ලංකාවට පැමිණි පෘතුගීසි, ලන්දේසි හා ඉංග්‍රීසි ජාතිකයෝ රට සූරාකමින් එහි පෞරාණික රාජ්‍යය යැයි කිව හැකි කිසිවක් ඉතිරි නොකොට, රටේ සාරය උරාබොමින් ම, රට පාලනය කළහ.

1583 දී එවකට ප්‍රධාන රාජධානිය වූ කෝට්ටේ රාජ්‍යය තුළ එතෙක් සිටි සිංහල රජුන් අතර අතිශයින් අවමානයට ම පාත්‍ර

විය යුතු සිදුවීමක් විය. බුවනෙකබාහු රජුගේ මුනුබුරකු වන දොන් ජුවන් ධර්මපාල පෘතුගීසින්ගේ ආධාර ඇති ව සිහසුනට පැමිණියේ ය. උඩරට කුමාරිකාවක් විවාහ කරගැනීම නිසා ඔහුට කන්ද උඩරටට අමතර උරුමයක් ද ලැබිණ.

ධර්මපාල රජතුමාගේ පැවැත්ම රඳා පැවැතියේ පෘතුගීසින් මත ය. ඔහුගෙන් පසු රජකමට උරුමකම් කීමට දරුවෙක් ද නොවී ය. තමා ලත් උපකාරවලට කෘතගුණ සැලකීම වශයෙන් දොන් ජුවන් ධර්මපාල 1580 අගෝස්තු 15 වන දා සිංහල රාජ්‍යයේ උරුමය පෘතුගාලයේ දොන් හෙන්රික් රජු වෙත තෑගි ඔප්පුවකින් පවරා දුන්නේ ය. දොන් ජුවන් ධර්මපාල 1551-1597 දක්වා පෘතුගීසීන්ගේ රූකඩයක් ලෙසට රට පාලනය කළේ ය.

ලන්දේසින්ගේ පැමිණීමෙන් පසු, කුරුඳු වෙළඳාම ලබාගැනීම සඳහා ඔවුහු 2 වන රාජසිංහ රජු සමඟ සාකච්ඡා පැවැත්වූහ. එයට ප්‍රතිඋපකාර වශයෙන් රජතුමා පෘතුගීසින් පන්නා දැමීමට ලන්දේසින්ගෙන් යුද ආධාර පැතී ය. මෙය කල් ඇති ව වැළැක්වීමට දියෝගු ද මෙල්ලෝ කස්ත්‍රෝ නමැති පෘතුගීසි කපිතාන් තුමා 1638 දී 7000 අධික පෘතුගීසි සේනාවක් සමඟ මහනුවර ආක්‍රමණය සඳහා ගියේ ය. සේනාව රැස්කිරීම සඳහා රාජසිංහ රජු අගනුවර අතහැර ගලේනුවර වෙත ගොස් සිටි නිසා පෘතුගීසින්ට මහනුවරට ඇතුළු වී මුළු නගරය ම ගිනිබත් කිරීමට පහසුවෙන් ම ඉඩකඩ ලැබුණේ ය. පෘතුගීසින් ආපසු කොළඹ බලා එන ගමනේ දී සිංහල හමුදාව මහවැලි ගඟබඩ ගන්නෝරුවේ දී පෘතුගීසි හමුදාවට පහර දුන්හ. රාජසිංහ රජු පෞද්ගලික ව ම පෘතුගීසින්ට එරෙහි ව සිය සේනා මෙහෙයවී ය. පෘතුගීසි හමුදාවේ කිසිවෙකුටත් බේරී යෑමට ඉඩ නොලැබුණි.

1.3.3

# 1739 - 1815

# දේශද්‍රෝහී රදල පරපුර

ලංකාවේ සිංහාසනයට උරුමය හිමි වන චිරාගත සම්ප්‍රදාය වූයේ සහෝදරයාගෙන් සහෝදරයාට හෝ පියාගෙන් පුතාට ය. එසේ කළ නොහැකි අවස්ථාවක දී එය පැවරුණේ රජ පවුලෙන් පැවතෙන්නෙකුට ය. 1739 දී නරේන්ද්‍රසිංහ රජු මිය යන විට ඔහුගේ අග බිසවට දරුවකු නොවූ හෙයින් රජකමට කුමාරයකු නොසිටියේ ය. නමුත් නරේන්ද්‍රසිංහ රජුට රජ පෙළපතට අයිති නොවූ බිරිඳකගෙන් උපන් උනම්බුවේ බණ්ඩාර නම් පුතෙක් විය. උනම්බුවේ බණ්ඩාරට රජකම දීමට උඩරට රදලයෝ පක්ෂ නොවූහ. ඔහු වෙනුවට නරේන්ද්‍රසිංහ බිසවගේ සොහොයුරු දකුණු ඉන්දීය කුමාරයෙකුට සිංහලේ රජු වශයෙන් පත්වන්නට ඉඩ දීමට සිංහල රදල නායකයෝ කැමති වූහ. මේ අන්දමින් නායක්කාර රාජ වංශිකයන් සිංහල රාජධානියේ පාලකයන් වූ අතර, ඔවුන්ගෙන් පසු පළමු, දෙවැනි හා තුන්වැනි රජවරු 1798 දක්වා පාලනය කළහ.

රාජාධි රාජසිංහ මිය ගියේ දරුවන් නොමැති ව නිසා රජකම පිණිස ඔහුගෙන් පැවතෙන්නෙක් නොවී ය. 18 හැවිරිදි කන්නසාමි කුමාරයාව පිළිමතලාවේ මහ නිලමේ විසින් රජු ලෙස ඉදිරිපත් කෙරිණි. නමුත් රාජාධි රාජසිංහ රජු ඔහුගේ මරණයට පෙර රජකම සඳහා මුත්තුසාමි කුමරා නම් කර තිබුණි. නායක්කාර වංශිකයෝ බොහෝ දෙනෙක් කැමැත්ත ප්‍රකාශ කළේ මුත්තුසාමි කුමාරයාටයි. නමුත් උඩරට රදල නායකයෝ කන්නසාමි කුමාරයා රජු වශයෙන් පිළිගත්හ.

මහ නිලමේ පිළිමතලාවේ බලාපොරොත්තු වූයේ සුදුසුකමින් අඩු ළාබාල කන්නසාමි කුමාරයා රජු වූ පසු ඔහුගේ අවවාද අනුශාසනා සහිත ව රට පාලනය කිරීමටයි. නමුත් පිළිමතලාව පිළිබඳ ව රජතුමාගේ විශ්වාසය බිඳවැටුණ නිසා දෙදෙනා අතර

සම්බන්ධතාව දුරස් විය. මෙයින් උරණ වූ පිළිමතලාව විසින් රජු මැරීමට කෙරුණු උත්සාහය ව්‍යර්ථ විය. මෙයින් උදහසට පත් වූ රජතුමා පිළිමතලාවේ මරා දැමීමට නියෝග දුන්නේ ය. මහ නිලමේ පිළිමතලාව ඔහු පත් කළ රජතුමාගේ නියෝගයකින් 1812 දී ඝාතනයට ලක් විය.

ළාබාල රජෙකු වූ ශ්‍රී වික්‍රම රාජසිංහට රාජ්‍ය පාලනය ලැබුණු නමුත් තම ඇමැතිවරුන් පාලනය කිරීමේ දී ගැටලු පැන නැගුණි. ඇහැළේපොල සහ මොල්ලිගොඩ නිලමේවරු අතර තිබූ විරසකය ඉතා උග්‍ර විය. මොවුහු රජතුමා නොමඟ යවමින් එකිනෙකාගේ සේවය පිළිබඳ ව වැරදි ප්‍රකාශ රජතුමාට ඉදිරිපත් කළහ. සිංහල රදලයන්ගේ භේද වීම ඉංග්‍රීසිහු පාලන බලය අල්ලාගැනීම සඳහා උපයෝගි කරගැනීමට සමත් වූහ.

ඇහැළේපොල ඉංග්‍රීසින් සමඟ සමීප සම්බන්ධතා පැවැත්වී ය. ඔහුගේ මේ සම්බන්ධතාව රජවීමට ඔහු දරන උත්සාහයක් බව ශ්‍රී වික්‍රම රාජසිංහ රජුට මොල්ලිගොඩ ඇතුළු පිරිස ඒත්තු ගැන්වූහ. මෙයින් උරණ වූ රජතුමා ඇහැළේපොලගේ පවුල මරාදැමීමට නියෝග දුන්නේ ය. මේ ක්‍රියාවෙන් වියරු වැටුණු ඇහැළේපොල කන්ද උඩරට පෙදෙස බ්‍රිතාන්‍යයින්ට යටත් කරගැනීමට රහසින් උදවු දුන්නේ ය.

කන්ද උඩරට රාජධානිය ගිරිදුර්ගවලින් ආරක්ෂා වී ඇති හෙයින්, එය යටත් කරගත නොහැකි රාජධානියක් ලෙස සිංහලයෝ විශ්වාස කළහ. නමුත් ඒ විශ්වාසය සාවද්‍ය කරමින් 1815 පෙබරවාරි 15 වන දින ඉංග්‍රීසි හමුදාව සිය කිසි ම සොල්දාදුවකු අහිමි කර නොගෙන උඩරට රදලයන්ගේ සහයෝගය සහිත ව එහි පාලනය තම යටතට ගැනීමට සමත් වූහ.

1815 මාර්තු 2 වන දින මුළු දිවයිනේ ම පාලනය කන්ද උඩරට රදලයන් විසින් ඉංග්‍රීසින් හට ගිවිසුමක් අත්සන් කර බාර දුන්හ. විජය රජුගේ සිට පැවැති අවුරුදු 2000 ක රාජධානියේ පාලනය රිදී බන්දේසියක තබා රදලයන් විසින් ඉංග්‍රීසින් හට බාර දුන්නේ මෙවන් අවාසනාවන්ත අයුරිනි.

1.3.4

# 1815 - 1948

# යටත් විජිත යුගය

තම රජු පාවාදී කන්ද උඩරට ඉංග්‍රීසින්ට බාරදීමෙන් රදලයන් බලාපොරොත්තු වූයේ ඇහැලේපොල රජු ලෙසට පත් කර ඉංග්‍රීසින් නැවත කොළඹට යැවීම ය. නමුත් සිදු වූයේ ඉංග්‍රීසින් මුළු රටේ ම පාලනය 1815 සිට සියතට ගැනීමයි.

1818 වන විට දී ඉංග්‍රීසි පාලනයට රටේ ජනතාවගේ අප්‍රසාදයක් පළ විය. සටන් කණ්ඩායම් සංවිධානය වී කැප්පෙටිපොල දිසාවේගේ නායකත්වයෙන් ඌව වෙල්ලස්ස, දඹාන වැනි ප්‍රදේශවල දරුණු සටන් ඇති විය.

ඉංග්‍රීසි සෙබළුන් හට සටන්කාමීන් සාමාන්‍ය ජනයාගෙන් වෙන් කරගත නොහැකි වීමත් අභියෝගයක් ව පැවතුණි. ඔවුහු කැරැල්ල නැවැත්වීමට සටන් ප්‍රදේශවල විශාල මනුෂ්‍ය ඝාතන සිදු කළහ. ඉංග්‍රීසින්ට මේ කැරැල්ල මැඩපැවැත්වීමට හැකි වූයේ රදලයන් කළ පාවා දීම් හේතුවෙනි. ඔවුහු කැරලි නායකයන් සැඟවී සිටි ස්ථාන පිළිබඳ ව ඉංග්‍රීසි හමුදාවට ඔත්තු සැපයූහ. කැප්පෙටිපොල දිසාවේ ඇතුළු කැරලි නායකයන් අත්අඩංගුවට ගැනිණි. 1818 නොවැම්බර් 25 බෝගම්බර දී ඔහුගේ හිස ගසා දැමිණි. ඔහු අභීත ව මරණයට මුහුණ දුන් ආකාරය පිළිබඳ ව ඉතිහාස ගත වී ඇති බැවින් මෙහි යළි නොලියමි. ඉංග්‍රීසි පාලනයට එරෙහිව සිදු කළ පළමු වන නිදහස් සටන වන මෙය ඌව, වෙල්ලස්ස සංග්‍රාමය ලෙස ඉතිහාසගත වී ඇත.

ඉංග්‍රීසින් ආරම්භ කළ කෝපි වගාව නිසා උඩරට ගැමි ප්‍රදේශවල ජනතාව පදිංචි ව සිටි ඉඩම් ඔවුන්ට අහිමි විය. සිංහල ජනතාව මේ කෝපි වගාවේ කම්කරුවන් ලෙස වැඩ කිරීමට අකමැති වූහ. මේ වතු කම්කරු අවශ්‍යතාව සපුරාලීම සඳහා ඉංග්‍රීසිහු දකුණු ඉන්දියාවෙන් 235,000ක ද්‍රවිඩ කම්කරු පිරිසක් ආනයනය කළහ.

ඉංග්‍රීසින්ගේ පාලන අක්‍රමිකතා සහ බදු බර සාමාන්‍ය ජනතාවට අහිතකර විය. 1848 දී පුරන්අප්පු, ගොන්ගාලේගොඩ බණ්ඩා සහ කුඩාපොල හිමියන් ඇතුළු පිරිසකගේ නායකත්වයෙන් ඉංග්‍රීසි රජයට විරුද්ධ ව කැරැල්ලක් මෙහෙයවිණි. ඔවුන් හට ප්‍රදේශ කිහිපයක බලය ලබාගැනීමට හැකි වුවත් ඉංග්‍රීසි හමුදාව පරාජය කිරීමට නොහැකි විය. 1848 අගෝස්තු 8 වන දා ඉංග්‍රීසින් විසින් පුරන් අප්පුට මරණ දඬුවම නියම කෙරිණි. පළමු වන නිදහස් සටනින් වසර 30කට පසු සිදු කළ මේ දෙවන නිදහස් අරගලය මහතලා සටන ලෙස ඉතිහාසගත වී ඇත.

ඉංග්‍රීසි පාලන සමයේ ඔවුන්ට අවනත වූ සමහර ලාංකික පිරිස් විශේෂ වරප්‍රසාද ලබමින් තම ජීවන තත්ත්වය උසස් කරගත්හ. 1829 දී ඉංග්‍රීසින් වෙළඳ ආර්ථිකයක් ඇති කිරීම, එයට සරිලන අධ්‍යාපන ක්‍රමයක්, නීති පද්ධතියක් සහ සිවිල් පරිපාලනය ස්ථාපිත කිරීම සඳහා කෝල්බෘක් ප්‍රතිසංස්කරණ කොමිසම ද පත් කළහ. මේ වෙනස්කම්වලින් රටේ පැවැති පාරම්පරික කුල අනුව තම වෘත්තියෙහි යෙදීම වෙනස් විය.

යුරෝපීය ආක්‍රමණිකයින් හට ශ්‍රී ලංකාවෙන් ලබාගත යුතු වාණිජමය ප්‍රතිලාභ බොහෝ තිබුණි. රට තුළ වැවිලි ආර්ථිකයක් ගොඩනැගීම එහි මූලික අරමුණ විය. මිනිරන් පතල් වැනි අපනයන කර්මාන්ත සඳහා ද ඔවුහු දේශීය ව්‍යවසායකයින් දිරිගැන්වූහ. මේ ව්‍යාපාර සංවර්ධනය සඳහා මහාමාර්ග, දුම්රිය සේවා, කොළඹ වරාය වැනි යටිතල පහසුකම් නිර්මාණය කළහ.

වරප්‍රසාදිත ප්‍රජාවේ දරුවනට කතෝලික ධර්මය සහ ඉංග්‍රීසි මාධ්‍යයෙන් අධ්‍යාපනය දීමට පාලකයෝ මිෂනාරි පාසැල් පද්ධතියක් බිහි කළහ. මේ පාසැල්වලින් බහුතරයක් උතුරු - නැගෙනහිර ප්‍රදේශවල ස්ථාපිත වීම ද පාලකයන්ට ම විශේෂිත වූ කරුණක් විය හැකි ය. ඇමරිකන් මිෂනාරිවරුන් විසින් 1823 දී වඩුකොඩායි හි දී බැටිකෝටා සෙමනේරිය වෛද්‍ය විද්‍යාව හැදෑරීමට ආරම්භ කෙරිණි. යාපනයේ ශාන්ත පැට්රික් විද්‍යාලය 1850 දී ආරම්භ කෙරිණි. ඇන්ග්ලිකන් මිෂනාරී පාසැල් වන ගල්කිස්සේ ශාන්ත තෝමස් 1852 දී ද නුවර ත්‍රිත්ව විද්‍යාලය 1872

දී ද, ආරම්භ කෙරිණි. ඉංග්‍රීසි අධ්‍යාපනය ලැබූවන්ට රජයේ රැකියා සහ අන් අයට වෙළඳ ආර්ථිකයෙන් බිහි වූ නව රැකියා හිමි විය.

රජ පරම්පරාව සහ රදල පවුල් සංස්කෘතිය වෙනුවට ව්‍යවසායක සහ ධනපති පන්තියක් රට තුළ ඇති විය. ඉංග්‍රීසි අධ්‍යාපනය ලත් වරප්‍රසාදිත පිරිස් වැඩිදුර අධ්‍යාපනය සඳහා තම දරුවන් බ්‍රිතාන්‍යයට යැවූහ. පසු කලක මේ පිරිසෙන් බහුතරයක් රටේ දේශපාලනඥයෝ බවට පත් වූහ.

මිෂනාරි අධ්‍යාපනයෙන් බ්‍රිතාන්‍යයන්ට ගැති උගතුන් පිරිසක් බිහිවීමට එරෙහි ව 1850 දී ජාතික පුනරුද මතවාදී සටන අනගාරික ධර්මපාල, පොන්නම්බලම් අරුනාචලම්, සිද්දිලෙබ්බේ ගේ මූලිකත්වයෙන් ආරම්භ විය. සිංහල බෞද්ධ ප්‍රකාශන ජනගත කිරීම සඳහා ලංකෝපකාර මුද්‍රණාලය සහ ලංකා විශ්‍රැත මුද්‍රණාලය 1826 දී ආරම්භ කෙරිණි.

1880 දී ඇමරිකානු ජාතික හෙන්රි ස්ටීල් ඕල්කට්ගේ පුරෝග ාමිත්වයෙන් සිංහල බෞද්ධ පාසැල් ආරම්භය සිදු විය. සිංහල පාසැල් අධ්‍යාපනයේ ඇතිවෙමින් තිබූ පුනරුදය උගත්, දූනුවත් සමාජයක් බිහිකිරීමට සමත් විය. පාසැල් අධ්‍යාපනයේ නිරත ශිෂ්‍ය සංඛ්‍යාව 1910 දී 336,374 දක්වා ඉහළ ගියේ ය.

දීර්ඝ කාලයක් විදේශීය ආධිපත්‍යය යටතේ යටහත් පහත් තත්වයක සිටි දේශීය ජනතාව තමන්ට අභිමානවත් අතීතයක් තිබූ බවට දේශීය උගතුන් විසින් පළ කෙරුණු ගවේෂණාත්මක ශාස්ත්‍රීය පොත්, පුවත්පත්, සඟරා පරිශීලනය කරගනිමින් අවබෝධ කරගත්හ. පසුගාමී ව සිටි ග්‍රාමීය සිංහල ප්‍රජාව හට දේශීය, ආගමික හා සංස්කෘතික පුනර්ජීවයක් ලබාගැනීමට හැකි විය.

1945 අධ්‍යාපන ඇමතිධුරය ඉසිළූ සී.ඩබ්.ඩබ්. කන්නන්ගර රටේ සියලු ම දරුවනට පළමු වසරේ සිට විශ්වවිද්‍යාලය දක්වා රජය මගින් නොමිලේ අධ්‍යාපනය ලබාගැනීම ව්‍යවස්ථාපිත ව අනුමත කරගත්තේ ය.

සිංහල බහුතරය රජයේ මධ්‍ය මහා විද්‍යාලවල අධ්‍යාපනය ලබමින් රජයේ රැකියා ලබාගැනීමේ අපේක්ෂා ඇති කරගත්හ.

මෙයට සමගාමී ව හින්දු ආගමික පුනරුදයක් ඇති කිරීම සඳහා ආර්මුගම් නවාලර් 1872 දී යාපනයේ ශිවන්ගල විද්‍යාලය ආරම්භ කළ අතර ද්‍රවිඩ මාධ්‍යයෙන් ප්‍රකාශන නිකුත් කිරීමට සහ උදයභානු පුවත්පත සඳහා මුද්‍රණාලයක් ස්ථාපිත කෙරිණි. නීතිඥ පොන්නම්බලම් අරුණාචලම් 1907 දී යාපනයේ පරමේශ්වර විද්‍යාලය සහ රාමනාදන් විද්‍යාලය ස්ථාපිත කළේ ය.

මුස්ලිම් ජනතාව තුළ ආගමික පුනරුදයක් ඇති කිරීමට සහ අරාබි භාෂාව ඉගෙනීම උනන්දු කරවීමට 1882 දී සිද්දිලෙබ්බේ විසින් මුස්ලිම් නේෂන් පුවත්පත ඇරඹීමත්, ටී.බී. ජයාගේ මූලිකත්වයෙන් කොළඹ සහිරා විද්‍යාලය ඇතුළුව දිවයිනේ පළාත් කිහිපයක මුස්ලිම් පාසල් ඇරඹීමත් සිදු විය.

1.3.5

## 1948 - 1960

# නිදහස ලැබීමෙන් පසු ව පළමු දොළොස් වසර

(ජාතීන්හට අනන්‍යවූ ප්‍රශ්න මූලික කරගත් දේශපාලනය)

නිදහස ලබාගැනීම පිණිස බලවත් සමාජ දේශපාලන අරගලයක් ලාංකිකයන් සිදු කළේ ම නැත. මෙයට හේතුව ඉන්දියාවට සාපේක්ෂ ව බ්‍රිතාන්‍යයන් ලංකාව සම්බන්ධයෙන් අනුගමනය කළ මෘදු ප්‍රතිපත්තිය හෝ අන්‍යෝන්‍ය ලාභ ප්‍රයෝජන සඳහා දේශීය නායකයින් හා බ්‍රිතාන්‍යයන් අතර ගෙ ාඩනගා ගත් සමීප සම්බන්ධතාව ද විය හැකි ය.

නිදහසින් පසු ශ්‍රී ලංකාවේ සැලකිය යුතු ආර්ථික වර්ධනයක් ද සිදු නොවී ය. 70% පමණ වූ ග්‍රාමීය ජනතාව නිසි යටිතල පහසුකම් නොලද පිරිසක් වූහ. ඔවුහු සුළු පරිමාණ ගොවීන් ලෙස ම ජීවත් වූහ.

බ්‍රිතාන්‍ය පාලකයන්ට හිතවත් වූ සුළුතර ලාංකික පිරිසක් විශේෂ වරප්‍රසාද හා ප්‍රතිලාභ ලබමින් ධනවත් ඉහළ පැළැන්තියක් බවට පත් වූයේ මේ අතර ය. නිදහසින් පසු ව අප රටේ දේශපාලනඥයන් බවට පත් වූයේ මේ පිරිසමයි. ඔවුහු නිසි ජාතික ප්‍රතිපත්තියක් ඇති මනා සංවර්ධනයක් පිළිබඳ ව නොවෙහෙසුණහ. දේශපාලනඥයින්ගේ ඡන්ද ව්‍යාපාර මෙහෙයවන ලද්දේ ද ජාතීන්ට විශේෂිත වූ අවශ්‍යතා පිළිබඳ ව මතභේදාත්මක තීරණ හරහා ය.

ඩී. ඇස්. සේනානායක රටේ පළමු අගමැතිවරයා වූ බව අපි දනිමු. ඔහු එක්සත් ජාතික පක්ෂයේ (UNP) නිර්මාතෘවරයා ද වේ. DS ඉන්දීය වතුකම්කරුවන්ට ශ්‍රී ලාංකේය පුරවැසි භාවය නොදීමේ මතවාදයක් ගොඩනගමින් සිටියේ ය. මෙයට ද්‍රවිඩ කොන්ග්‍රස් පක්‍ෂයේ නිර්මාතෘ ජී. ජී. පොන්නම්බලම් විරුද්ධ විය. ද්‍රවිඩ කොන්ග්‍රස් පක්ෂය, සිලෝන් ඉන්දියන් කොන්ග්‍රස් පක්ෂය සමඟ සාමූහික ව ඉන්දීය වතුකම්කරු අයිතීන් පිළිබඳ ව අරගලයක නිරත ව සිටියහ. 1952 දී DS මිය ගිය ද ඔහු මිය යෑමට පෙර තම පුත්‍රයා වන ඩඩ්ලි සේනානායක රටේ ඊළඟ අගමැති ධුරයට නම් කර තිබුණේ ය. ඒ පක්‍ෂයේ සිටි ඇස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක (SWRD) ඉන් ඉවත් වී ශ්‍රී ලංකා නිදහස් පක්ෂය (SLFP) පිහිටුවීමට හේතු වූයේ ද ඒ කාරණයමයි.

1952 දී ප්‍රථමයෙන් ම ජාතීන්ගේ විරසකයට තුඩුදෙන උද්ඝෝෂණයක් ඇරඹුණේ DS ගේ පුරවැසි පනතට විරුද්ධ ව සිලෝන් ඉන්දියන් කොන්ග්‍රස් පක්ෂය විසින් මෙහෙයවුණු සත්‍යග්‍රහයක ස්වරූපයෙනි.

1953 දී පැවැති UNP රජයේ මුදල් ඇමැති ජේ. ආර්. ජයවර්ධන ගෙන ආ අයවැය යෝජනාවලට විරුද්ධ ව වාමාංශික පක්ෂ දියයින පුරා හර්තාල් ව්‍යාපාරයක් ගෙන ගියහ. මේ සංවිධානාත්මක විරෝධය නිසා රජයේ කාර්යාල, කර්මාන්තශාලා සහ ප්‍රවාහනය ඇනහිටියේ ය. එවකට සිටි අගමැති ඩඩ්ලි සේනානායක ඉල්ලා අස් විය. ශ්‍රීමත් ජෝන් කොතලාවල වහා අගමැති ධුරයට පත් විය.

1954 දී අගමැති ශ්‍රීමත් ජෝන් කොතලාවල සිංහල සහ ද්‍රවිඩ භාෂා දෙක ම රාජ්‍ය භාෂා කිරීමේ ස්ථාවරයක සිටියේ ය. කොතලාවලගේ මතයට විරුද්ධ ව සිංහල පමණක් රාජ්‍ය භාෂාව කළ යුතුය යන යෝජනාව තදින් ම සිංහලයන් විසින් ඉදිරිපත් කෙරිණි.

1956 ඡන්ද ව්‍යාපාරයට මේ භාෂා ප්‍රශ්නය SWRD යොදා ගත්තේ ය. ඔහුගේ ජයග්‍රහණයෙන් පසු සිංහලයෝ සිංහල, රාජ්‍ය භාෂාව කිරීමේ අවශ්‍යතාව මත පෙළගැසුණහ. මෙයට විරුද්ධ වූ ද්‍රවිඩ දේශපාලනඥයෝ 1957 දී උතුරුකරයේ සිවිල් පරිපාලන කටයුතු අත්හිටුවන වැඩපිළිවෙළක් ගෙන ගියෝ ය. මෙය ෆෙඩරල් පක්ෂය විසින් සංවිධානය කෙරිණි. මේ සට්ටනය සමථයට පත් කිරීමට SWRD ද්‍රවිඩ භාෂාව රාජ්‍ය භාෂාව ලෙස උතුර - නැගෙනහිර ප්‍රාදේශීය කාර්යාලවල භාවිත කිරීමට තම කැමැත්ත ප්‍රකාශ කළේ ය.

ඒ කාලයේ විපක්ෂ නායකව සිටි ජේ.ආර්. ජයවර්ධන, SWRD - චෙල්වනායගම් ගිවිසුම විවේචනය කිරීම තම ඡන්ද ව්‍යාපාරයේ වාසිය සඳහා යොදා ගත්තේ ය.

1958 දී ප්‍රවාහන අමාත්‍යාංශය වාහන අංක තහඩු සඳහා හඳුන්වා දුන් 'ශ්‍රී' අකුර ෆෙඩරල් පක්ෂය ප්‍රතික්ෂේප කළේ ය. ඔවුන් උතුරු සහ නැගෙනහිර පළාත්වල ලියාපදිංචි වාහනවලට දෙමළ ශ්‍රී අකුර යෙදීමට අවස්ථාව ඉල්ලා උද්ඝෝෂණය කළහ. මෙය ජාතිවාදී අරගලයක් දක්වා උත්සන්න විය.

1.3.6

# 1960 - 1977
# සිරිමා බණ්ඩාරනායක යුගය

(ත්‍රස්ත සංවිධානවල ආරම්භය)

1964 දී ශ්‍රී ලංකා අගමැතිනිය වූ සිරිමා බණ්ඩාරනායක ලොව ප්‍රථම අගමැතිවරිය වූ අතර, ඇය ඉන්දීය අගමැති ලාල් බහදූර් ශාස්ත්‍රි මහතා ගිවිසුමකට එකඟ කරවාගෙන ඉන්දීය ද්‍රවිඩ ජාතිකයන් 520,000 ක් සඳහා ඉන්දීය පුරවැසි භාවය දීමට පියවර ගත්තා ය.

1965 දී UNP ය ෆෙඩරල් පක්ෂයේ සහාය ඇති ව ආණ්ඩුවක් පිහිටුවීමට උත්සාහගත්තේ ය. මෙයට ඩඩ්ලි සේනානායක හා චෙල්වනායගම් අතර ඇති වූ ගිවිසුමේ දෙමළ භාෂා පනත ද අන්තර්ගත විය.

සිරිමා බණ්ඩාරනායක රජය සමාජවාදී ආර්ථික ක්‍රමයක් ආදේශ කිරීමට උත්සාහ දැරුවේ ය. සංවෘත ආර්ථික ප්‍රතිපත්ති අනුගමනය කරමින් දේශීය වෙළෙඳපොළ ජාත්‍යන්තරයට විවෘත නොකිරීමට වගබලා ගත්හ. ඛනිජතෙල් වැනි විදේශීය සමාගම් ජනසතු කළහ. පුද්ගලික අංශයේ ව්‍යාප්තිය සීමා විය. නිෂ්පාදන ක්‍රියාවලියට දායක කරගත්තේ රාජ්‍ය අංශයයි. කඩදාසි, සීනි, සිමෙන්ති, ටයර්, ලෝහ භාණ්ඩ, රෙදි වැනි නිෂ්පාදනයන් රාජ්‍ය සංස්ථා විසින් කෙරිණි. කෙසේ වෙතත් අත්‍යවශ්‍ය ආහාරවල සහ පාරිභෝගික භාණ්ඩවල හිඟයක් සහ ගුණාත්මක භාවයේ පහළ බැසීමක් සිදු විය. රටේ දේශීය දළ නිෂ්පාදනය පහළ බැසීම නිසා රැකියා විරහිත තරුණ පිරිස වැඩි විය. ග්‍රාමීය ප්‍රජාවගේ ජීවන තත්වය ඉතා දුක්ඛිත විය.

රැකියා විරහිත ග්‍රාමීය තරුණ පිරිස ජනතා විමුක්ති පෙරමුණ (JVP) ලෙස, එවකට සිටි සිරිමා බණ්ඩාරනායක රජයට විරුද්ධ ව ආයුධ සන්නද්ධ අරගලයක් ඇරඹූහ. එය රුසියාවේ අධ්‍යාපනය

ලැබූ රෝහණ විජේවීර විසින් 1964 දී පමණ ආරම්භ කළ, සන්නද්ධ විප්ලවයක් මඟින් රාජ්‍ය බලය අල්වා ගැනීමේ අරමුණින් ක්‍රියාත්මක වූ රහසිගත ව්‍යාපාරයක් විය. මේ ව්‍යාපාරය 1971 අප්‍රේල් 05 වන දින, දේශීය වශයෙන් නිපදවා ගත් අත්බෝම්බ වැනි ආයුධවලින් පොලිස් ස්ථාන 93 කට පහර දුන්නේ ය. ආණ්ඩුව හදිසි නීතිය ප්‍රකාශයට පත් කොට, ත්‍රිවිධ හමුදාව යොදවා මාසයකට ආසන්න කාලයක් තුළ දී කැරැල්ල මර්දනය කළේ ය. මියගිය තරුණ පිරිස 1200 - 4000 පමණ විය. අත්අඩංගුවට ගත් කැරලිකරුවන්ගේ සංඛ්‍යාව 18,000ක් පමණ විය.

1974 දී රජය, විශ්වවිද්‍යාල ප්‍රවේශය සඳහා දිස්ත්‍රික් කෝටා ක්‍රමයක් හා ප්‍රමිති ක්‍රියාවලියක් ඉදිරිපත් කළේ ය. මෙමඟින් විශ්වවිද්‍යාල සඳහා ද්‍රවිඩ තරුණ පිරිස ඇතුළු වීම සීමා කෙරිණි. මෙය ද්‍රවිඩ තරුණ පිරිස්වල කලකිරීමට සහ ඔවුන් ත්‍රස්තවාදී කණ්ඩායම්වලට ඒකරාශී වීමට ඉවහල් වූ ප්‍රබල හේතුවක් විය. මුල දී ආරම්භ වූ ද්‍රවිඩ සන්නද්ධ කණ්ඩායම් වූයේ LTTE, EPRLF, PLOTE සහ TELO ය.

මේ කණ්ඩායම්වලට අඩු ආදායම් ලාභී පවුල්වල රැකියා විරහිත ද්‍රවිඩ තරුණ පිරිස් බඳවාගැනීම ඉතා පහසු කාර්යයක් විය. ඔවුන්ට ගරිල්ලා පුහුණුව දුන්නෝ ය. ඔවුන් අතර කාන්තාවෝ, ළමා සොල්දාදුවෝ සහ මරාගෙන මැරෙන බෝම්බ කරුවෝ ද පුහුණුව ලැබූහ. ඒ තරුණ පිරිස් යුද පුහුණුව ලැබුවේ ඉන්දියාවට සහ වෙනත් රටවලට යැවීමෙනි.

1974 ඔක්තෝබර් 5 සිරිමා බණ්ඩාරනායක අගමැතිනියගේ යාපනයට පැමිණීම, යාපනය පුරපති ඇල්ෆ්‍රඩ් දොරෙයිඅප්පා උත්සවාකාරයෙන් සංවිධානය කළේ ය. ද්‍රවිඩ ත්‍රස්ත කණ්ඩායම් විසින් දොරෙයිඅප්පා ද්‍රවිඩයන්ගේ ද්‍රෝහියෙකු ලෙස හඳුන්වා දී 1975 ජූලි 27 වෙඩිතබා ඝාතනය කෙරිණි. දොරෙයිඅප්පා ඝාතනය LTTE නායක ප්‍රභාකරන් විසින් සිදු කළ බවට සාක්ෂි මතු විය.

1.3.7

# 1977 - 1989

# ජේ. ආර්. ජයවර්ධන යුගය

(පළමු වන ඊළාම් යුද්ධය)

1977 පැවැති මැතිවරණයේ දී UNPයට පාර්ලිමේන්තුවේ ආසන 168 කින් 140 ක සංඛ්‍යාවක් ද TULF ආසන 18 ක් ද SLFP ආසන 8 ක් ද ලැබිණි. මේ ජයග්‍රහණයෙන් පසු රට තුළ ජාතිවාදී අරගල පටන්ගත් අතර, මේ අරගලවලින් මරණයට පත් දෙමළ මිනිසුන්ගේ සංඛ්‍යාව 100 කට අඩු නොවී ය.

1977 න් පසු JR ජයවර්ධන රජය රටට හඳුන්වා දුන් විවෘත ආර්ථික ප්‍රතිපත්තිවලින් ජනතාවගේ පරිභෝජන රටාව වෙනස් වූ අයුරු පෙනේ. ඔවුහු අසීමාන්තික ව ආනයනික භාණ්ඩවලට ඇලුම් කිරීමට පටන්ගත්හ. මෙහි අහිතකර ඵල විපාක ද තිබුණි. 70% පමණ වූ ග්‍රාමීය ජනතාව කෘෂිකර්මය සහ අත්යන්ත්‍ර රෙදි වැනි ගෘහස්ථ කර්මාන්ත ජීවනෝපාය කරගෙන සිටි නමුත්, පසු ව ඇති වූ ඇඟලුම් කර්මාන්ත ශාලා නිසා මොවුන්ගේ වෙළඳපොළ අවහිර විය. දේශීය නිෂ්පාදිත භාණ්ඩවල ඉල්ලුම පහළ බැස්සේ ය. රාජ්‍ය සංස්ථාවල නිෂ්පාදනවල ඉල්ලුම අඩු වූ බැවින් බොහොමයක් පාඩුලබන ආයතන බවට පත් වී ඉතා අඩුමිලකට විකුණා දැමිණි. පෞද්ගලික අංශය නඟා සිටුවීමට රජය උත්සාහ ගත්තේ ය. නමුත් පෞද්ගලික අංශයේ ව්‍යාප්තිය ඇඟලුම් කර්මාන්තය, පරිගණක මෘදුකාංග, මූල්‍ය සේවා, පෞද්ගලික රෝහල්, පෞද්ගලික අධ්‍යාපනය සහ සංචාරක සේවා වැනි සේවා අංශවලට පමණක් සීමා විය. දේශීය කර්මාන්ත පිරිහී ගියේ ය. විවෘත ආර්ථික ප්‍රතිපත්ති අනුගමනය කිරීමෙන් බලාපොරෝතතු වූ කාර්මිකකරණය සිදු නොවී ය.

බලාපොරොත්තු වූ ආර්ථික සංවර්ධනය සිදු නොවූ බැවින් ම උද්ධමනය, විරැකියාව සහ ග්‍රාමීය දිළිඳු බව වැනි ආර්ථික ප්‍රශ්න ඉහළ ගියේ ය. රටේ සම්පත් බෙදී යෑමේ විෂමතාව වැඩි විය.

ජනතා පීඩනය ජාතිවාදී අරගලයක් ලෙසට මතු වූ අතර, මෙයට දෙමළ දේශපාලනඥයන්ගේ ද නොමඳ සහාය ලැබුණි.

1981 පැවැති යාපනයේ දිස්ත්‍රික් සභා මැතිවරණයට UNP සහ TULF තරග කළෝ ය. ද්‍රවිඩ ත්‍රස්තවාදීන් විසින් UNP ඡන්ද අපේක්ෂක තංගරාජා ද, පොලිස් භටයන් දෙදෙනෙකු ද වෙඩි තබා මරණයට පත් කෙරිණි. ඉන් පසු ව යාපනය තුළ සාහසික වූ මර්දන ක්‍රියා ඇති විය. ද්‍රවිඩ ජනයාගේ කඩ සාප්පු ගිනිබත් කෙරිණි. යාපනය පුස්තකාලය ද ගිනිබත් කෙරිණි. මෙහි දුර්ලභ අත්පිටපත් සමඟ පොත් 90,000 ක් පමණ තිබූ බව තහවුරු වී ඇත.

මේ අතර, 1983 දී ශ්‍රී ලංකා යුද හමුදාවේ සොල්දාදුවන් 13 දෙනෙකු ද්‍රවිඩ ත්‍රස්තවාදී බිම් බෝම්බයකින් ඝාතනය විය. මොවුන්ගේ අවමඟුල් දවසේ දී සංවිධානය වූ කණ්ඩායමක් රට පුරා පැතිරී තිබුණ ද්‍රවිඩ ජාතික කඩ සාප්පු ගිනිබත් කළහ. ද්‍රවිඩ ජනයාට පහර දුනි. මේ විනාශකාරී හිංසන ක්‍රියා සතියක් පමණ දිග ඇදුණි. රාජන් හූල්ගේ තක්සේරුවට අනුව මරා දැමුණු ද්‍රවිඩ ජාතිකයන්ගේ සංඛ්‍යාව 2000ක් පමණ විය. නිල සංඛ්‍යා



1981 ගිනිබත් වූ යාපනය පුස්තකාලය

ලේඛනවලට අනුව තුවාල කිරීම්වලට ලක්වූවන්ගේ ගණන 3769ක් වූ අතර මංකොල්ලකෑම් සංඛ්‍යාව 3835ක් විය. මේ දාමරික ක්‍රියාවලට සහභාගි වූයේ සීමිත සිංහල පිරිසක් වුවත්, එහි දෝෂ දර්ශනය සමස්ත සිංහල ප්‍රජාවට ම විඳ දරා ගැනීමට සිදුවීමත් එක් අතකින් අසාධාරණ නොවේ. මෙය ඉතිහාසගත වූයේ '1983 කළු ජූලිය' ලෙසයි. මෙයින් පසු මධ්‍යම පාන්තික ද්‍රවිඩ ජාතිකයන් යුරෝපීය රටවලට සරණාගතයන් ලෙසට සංක්‍රමණය වීමට ද, අඩු ආදායම් ලාභී ද්‍රවිඩ තරුණ කොටස් ත්‍රස්තවාදී සංවිධානවලට බැඳීමට ද ඇති ප්‍රවණතාව උත්සන්න විය.

1983 කළු ජූලියෙන් පසු විශාල ලෙස දෙමළ තරුණයන් සන්නද්ධ කල්ලිවලට ඇදී යෑම විශේෂ ලක්ෂණයක් විය. එසේ බැඳෙන තරුණයන් මුහුදින් දකුණු ඉන්දියාවට ගෙන ගොස් ඔවුන්ට යුද පුහුණුව දුනි. එය ඉන්දියාවේ අනුග්‍රහයෙන් ක්‍රියාත්මක වූ වැඩපිළිවෙළක් විය. එහි පිහිටුවා තිබුණු පුහුණු කඳවුරුවල දී ඔවුන්ට ස්වයංක්‍රීය අවි භාවිතය, රොකට් විදින අවි භාවිතය, බර අවි භාවිතය, බිම් බෝම්බ ඇතිරීම, සිතියම් කියවීම, යුද ටැංකි නාශක සටන් යනාදි අංශ ගැන මනා පුහුණුවක් දුනි.

1987 මැයි 25 වන දා ශ්‍රී ලංකා හමුදාව වඩමාරච්චි ප්‍රදේශය අල්ලාගැනීමේ අරමුණින් 'ඔපරේෂන් ලිබරේෂන් වන්' මෙහෙයුම ඇරඹී ය. පළමුවන ඊළාම් යුද්ධය තොන්ඩමනාර් සහ වැලිවැටිතුරෙයි කඳවුරුවලින් ආරම්භ වී ඒ ප්‍රදේශ යටත් කොට ජූනි 1 වන දා වඩමාරච්චිය ද අල්ලා ගැනිණි. මේ අනුව යුද හමුදාවට කන්කසන්තුරේ සිට නැඟෙනහිර උතුරු වෙරළ සිය පාලනයට ගැනීමට හැකි විය. මේ හමුදා ප්‍රහාරයට ඉන්දියාව විරෝධය පෑවත් ශ්‍රී ලංකා රජය එය මායිම් කළේ නැත. ඉන් පසු ඉන්දීය රජය සිය නාවික යාත්‍රා මඟින් ද්‍රවිඩ සන්නද්ධ තරුණයන් තම රටට ගෙන යෑමට සහ ඔවුන්ට සහනාධාර රැගෙන යාපනය ආසන්න මුහුදට පැමිණි නමුත්, එය ශ්‍රී ලංකා නාවික හමුදා යාත්‍රාවලින් හරස් කෙරිණි. ඉන්දියානු යාත්‍රා ආපසු තමිල්නාඩුව බලා පසුබැස ගියහ. පසු ව ඉන්දීය ගුවන් හමුදාව මේ සහනාධාර ගුවනින් යාපනයට හෙළුවේ ය. යාපනයට ඉන්දියාවෙන් පරිප්පු දැම්මා යැයි අප යුද ඉතිහාසයේ ලියැවී ඇත්තේ එකී සිද්ධිය පිළිබඳවයි.



1983 කළු ජූලිය
එක්සත් ප්‍රවෘත්ති පත්‍ර සමාගමේ ඡායාරූපයකි

ශ්‍රී ලංකා රජයට ඉන්දියාවේ බලපෑම නිසා වඩමාරච්චි මෙහෙයුම නැවැත්වීමට සිදු විය. 1987 ජූලි 27 වන දින ඉන්දීය අගමැති රජීව් ගාන්ධි, ශ්‍රී ලංකා ජනාධිපති ජේ. ආර්. ජයවර්ධන සමඟ ඉන්දු ලංකා ගිවිසුම අත්සන් කළේ ය. මේ ගිවිසුමට එකඟව ශ්‍රී ලංකා හමුදා උතුරු නැගෙනහිරින් ඉවත් කරගත් අතර, ඉන්දු සාම සාධක හමුදාව (IPKF) ද්‍රවිඩ ත්‍රස්තවාදය මැඩ පැවැත්වීම ආරම්භ කළේ ය. ද්‍රවිඩ ත්‍රස්තවාදී කණ්ඩායම් විසින් පැය 72 ක කාලසීමාවක දී තම අවි භාර දිය යුතු ව තිබුණි. මේ අවි භාර දීම සියලු ම ද්‍රවිඩ ත්‍රස්ත කල්ලි පිළිපැද්දත් LTTE ය එසේ කළේ නැත. ඔවුන් IPKF සමඟ ගැටුණහ. IPKF භටයන් 80,000ක් පමණ මේ ත්‍රස්ත මර්දනයට සහභාගි වී සිටියහ.

ශ්‍රී ලංකා හමුදාව සහ IPKF වෙතින් එල්ල වූ පීඩනය නිසා ද්‍රවිඩ සන්නද්ධ කල්ලි අතර ගැටුම් ඇති විය. සමහර කණ්ඩායම් ඇතුළත ද විරුද්ධවාදීන් බිහි විය. අවසානයේ LTTE ය ඔවුන් අතරින් බලවත් ම සන්නද්ධ කල්ලිය බවට පත් වූ අතර, ඔවුහු අනෙක් ද්‍රවිඩ සන්නද්ධ කල්ලිවල ආධිපත්‍යය ලබාගැනීම සඳහා ඒවායේ සමහර නායකයන් සහ සාමාජිකයින් මරා දැමූහ. දිවි ගලවාගත් සමහර පිරිස් දේශපාලන සරණාගතයන් ලෙසට යුරෝපීය රටවලට සංක්‍රමණය වූහ. PLOTE, EPRLF සහ

TELO වැනි කණ්ඩායම් ශ්‍රී ලංකාවේ දේශපාලන පක්ෂ ලෙස ස්ථාපිත විය.

මේ කාලයේ දී ද්‍රවිඩ ත්‍රස්තවාදය මෙන් ම සිංහල තරුණයන්ගේ ද රාජ්‍ය විරෝධී නැඟී සිටීම් මතුවන්නට විය. ජනතා විමුක්ති පෙරමුණ 1987-1989 වර්ෂවල ඔවුන්ගේ දෙවන සන්නද්ධ අරගලය සිදු කළහ. මෙය ජේ. ආර්. ජයවර්ධන රාජ්‍ය පාලන කාලයේ දී පටන්ගෙන රණසිංහ ප්‍රේමදාස යුගයේ දී අසාර්ථක වී අවසන් විය. JVP ය දෙවන අරගලයේ දී 1971 දී මෙන් මුහුණට මුහුණලා කරන අරගල සිදු නොකරමින් ම, ඔවුන්ට සතුරු පුද්ගලයන් සහ ඒ පුද්ගලයන්ට සම්බන්ධ පිරිස් ඝාතනය කළහ. ඒ පිරිස් අතර රජයේ නිලධාරීහු, පොලිස් නිලධාරීහු සහ යුද හමුදා නිලධාරීහු ද වූහ. රජය විසින් JVP ය මර්දනයේ දී ද සැකකරුවන් විශාල පිරිසක් මරා දැමූ බවට වාර්තා විය. JVP ය රට පුරා සේවක වර්ජන රැල්ලක් ඇති කළ අතර, රාජ්‍ය පුවත්පත් බෙදාහැරීම්වලට බාධා ඇති කරමින් රට පුරා ඇඳිරි නීතිය පැනවූහ. මේ අතර ම ඔවුන් IPKF හමුදාවට එරෙහි ජනමතයක් දකුණේ ජනතාව අතර ගොඩනැඟීමට ද උත්සාහ දැරූහ. මේ අතර ඔවුන්ගේ නියෝග නොපිළිගන්නා පිරිස් ඝාතනයට ලක් වූහ.

1.3.8

# 1989 - 1994

## රණසිංහ ප්‍රේමදාස යුගය

(දෙවන ඊළාම් යුද්ධයේ ආරම්භය)

1989 ජනාධිපතිවරණයෙන් රණසිංහ ප්‍රේමදාස ඡන්ද 50.4% ලබාගෙන ජයග්‍රහණය කළේ ය. ඔහුගේ පාලන කාලය ඔහුට මෙන් ම මුළු ශ්‍රී ලංකාවට ම අවාසනාවන්ත යුගයක් විය.

ප්‍රේමදාස ප්‍රසිද්ධ වේදිකාවේ දී එවකට රටේ තත්ත්වය පැහැදිලි කළේ මෙසේ ය; ''මට ලැබී ඇත්තේ සංවර්ධනය කළ හැකි සාමකාමී රටක් නොවේ. දෙපැත්ත ගිනිගත් විලක්කුවකි''. මෙයින් ඔහු අදහස් කළේ උතුර නැගෙනහිර LTTE ය ද දකුණේ JVP ය ද භීෂණය පතුරවමින් මනුෂ්‍ය ඝාතන සිදුකරන යුගයක් වීම ය.

JVP සහ ඔවුන්ගේ විරුද්ධවාදීන් අතර සිදු වූ ගැටුම් නිසා දකුණේ දහස් ගණනින් පිරිස් ඝාතනයට ලක් වූ අතර දෙපාර්ශ්වය ම ඝාතනය වූ තම විරුද්ධවාදීන්ගේ සිරුරු පුළුස්සා මහාමාර්ග දෙපස ප්‍රදර්ශනය කළහ. JVP අරගලය 1989 නොවැම්බර් 12 එහි නායක රෝහණ විජේවීරගේ ඝාතනයෙන් පසු අවසාන විය.

කැරැල්ල හා මර්දනය තුළ මරණයට පත්වූ අයගේ සංඛ්‍යාව 50,000ක් පමණ බවටත්, JVP අතින් මරණයට පත්වූවන්ගේ සංඛ්‍යාව 6000ක් පමණ බවටත් වාර්තා විය.

ජනාධිපති ප්‍රේමදාස කොටින් සමඟ සාකච්ඡා ඇරඹුවේ ය. කොටින් සතුටු කිරීමට ආයුධ පිරවූ ට්‍රක් 12 ක් පිරිනැමූ බවට වාර්තා විය.

LTTE සහ IPKF අවුරුදු 3 කට ආසන්න කාලයක් ගැටුම් ඇතිකරගත්හ. IPKF භටයෝ 1200 මැරුම්කෑ අතර 2900 පමණ තුවාල ලැබූහ. පසු ව 1990 දී IPKF සිය පැමිණි කාර්ය භාරය ඉටු නොකර ම ඉන්දියාව බලා පිටත් වූහ.

IPKF පිටත් වීමත් සමඟ ම උතුරු නැගෙනහිර LTTEය තම පාලන බල ප්‍රදේශ ලෙසට නතුකරගත්හ. LTTE ය අතිකූත් ද්‍රවිඩ

සංවිධානවල සාමාජිකයන් සමූල ඝාතනය කර උතුර නැගෙනහිර පවතින එක ම ත්‍රස්ත සංවිධානය බවට පත් විය.

1990 ජූනි 11 වනදා LTTE ය මඩකලපුවේ දී පොලිස් නිලධාරින් 600 ක් යටත් කරගෙන ඝාතනයට ලක් කළෝ ය. මෙය සාම සාකච්ඡා පැවැති කාලයක් බැවින් ඔවුන්ට යටත් වීමට ප්‍රධාන කාර්යාලයෙන් අණ කර තිබූ බවට වාර්තා විය. මේ ඝාතනය සාම සාකච්ඡා නවතා දෙවන ඊළාම් යුද්ධය ආරම්භ කිරීමට හේතු විය.

LTTE ය 1990 ඔක්තෝබර් 29 වන දින යාපනයේ ජීවත් වූ මුස්ලිම් ජනතාවට ඒ ප්‍රදේශයෙන් පිට ව යන ලෙසට නියෝග කළේ ය. ඔවුන්ට ගම්බිම් අතහැර පලායෑමට දුන් කාලය පැය 48 කි. ඒ නිසා යාපනයේ ජීවත් වූ 65,000 පමණ වූ මුස්ලිම් ජාතිකයන් සිය දේපළ අතහැර අනාථයින් ලෙස වෙනත් ප්‍රදේශවලට පලා ගියහ.

රණසිංහ ප්‍රේමදාස පාලන යුගය තුළ දී ද LTTE ය සමඟ වූ සාම සාකච්ඡාවලින් දෙපාර්ශ්වයට ම එකඟ විය හැකි සම්මුතියකට එළඹීමට නොහැකි වූයෙන්, නැවතත් ත්‍රස්ත ප්‍රහාර ආරම්භ විය.

1991 මාර්තු 2 වැනි දා නිල රථයෙන් තම කාර්යාලයට යමින් සිටි ජාතික ආරක්ෂක ඇමති රන්ජන් විජේරත්න LTTE ය විසින් ඇටවූ බෝම්බයකින් ඝාතනය විය.

1991 මැයි 21 වැනි දා මදුරාසියේ ඡන්ද රැලියකට සහභාගි වූ හිටපු ඉන්දීය අගමැති රජීව් ගාන්ධි LTTE මරාගෙන මැරෙන බෝම්බ කාරියක් විසින් ඝාතනය කෙරිණි.

1992 නොවැම්බර් 16 වැනි දා මරාගෙන මැරෙන LTTE ක්‍රියාකරුවෙකු පදවාගෙන ආ බෝම්බ සහිත යතුරු පැදියක් නිලරථයේ සට්ටනය කිරීමෙන් නාවික හමුදාපති ක්ලැන්සි ප්‍රනාන්දු ඝාතනය විය.

1993 මැයි 1 වන දා LTTE මරාගෙන මැරෙන බෝම්බ කරුවකු විසින් ජනාධිපති රණසිංහ ප්‍රේමදාස ඝාතනය කෙරිණි.

1.3.9

# 1994 - 2005
# චන්ද්‍රිකා කුමාරතුංග යුගය

(තුන්වන ඊළාම් යුද්ධය)

1994 දී බලයට පත් වූ චන්ද්‍රිකා කුමාරතුංග ප්‍රමුඛ පොදු පෙරමුණ රජය LTTE ය සමඟ සාම සාකච්ඡා පැවැත්වීම නැවත ආරම්භ කළේ ය. මේ සාකච්ඡා අතරවාරයේ දී LTTE ය ත්‍රිකුණාමලය නාවික කඳවුරේ නවතා තිබූ අධිවේග ප්‍රහාර යාත්‍රා දෙකක් විනාශ කර දැමුව නිසා LTTE සහ ශ්‍රී ලංකා සාම සාකච්චා බිඳ වැටුණේ ය. 3 වන ඊළාම් යුද්ධයට මඟපෑදුණේ ය. 1999 දී ඔවුහු ජනාධිපති චන්ද්‍රිකා කුමාරතුංග ඝාතනය කිරීමට අසාර්ථක උත්සාහයක් දැරූහ. 1995 දී රජයේ හමුදා යාපනය අර්ධද්වීපය සිය පාලනයට නතු කරගත්හ. LTTE ය පසුබැස වන්නි ප්‍රදේශයේ ස්ථාපිත විය.

ආරම්භයේ සිට ම LTTE ය යුද හමුදාව, නාවික හමුදාව සහ ගුවන් හමුදාව යන අංශවලින් සමන්විත වූ සාම්ප්‍රදායික හමුදාවක් බිහි කිරීමේ අරමුණින් ඊට අවශ්‍ය පුරුදු පුහුණුව ලබාගත්තේ ය. දීර්ඝ කාලයක් පුරා විදේශීය රටවල සහාය සහ පුහුණුව ලැබූ ඔවුන්ට ඒ කඩඉම පසු කිරීම අසීරු නොවී ය.

2002 දී චන්ද්‍රිකා කුමාරතුංග ජනාධිපතිව සිටියදී UNP රජයක් රනිල් වික්‍රමසිංහගේ නායකත්වයෙන් පත් විය. රනිල් වික්‍රමසිංහ අග්‍රාමාත්‍යවරයා විය.

2002 පෙබරවාරි 2 වැනි දා LTTE ය සහ ශ්‍රී ලංකා රජය නොර්වේ රජයේ මැදිහත් වීමෙන් සාම ගිවිසුමක් අත්සන් කළහ.

මේ සාම ගිවිසුම නිසා ශ්‍රී ලංකා රජයේ හමුද බල ප්‍රදේශය යුද හමුද කඳවුරුවලට සීමා වූ අතර LTTE ය විශේෂ වරප්‍රසාද භුක්ති විඳිමින් උතුර නැගෙනහිර තම බල ප්‍රදේශ ස්ථාවර කරගැනීමට උත්සාහ දැරී ය. LTTE සාමාජිකයන් කුඩා බෝට්ටුවලින් අවි ආයුධ සහ පුපුරන ද්‍රව්‍ය ප්‍රවාහනය කරද්දී අත්අඩංගුවට පත් වූ විට රජයේ උපදෙස් පරිදි ඒ බෝට්ටු සහ පිරිස් නිදහස්

කිරීමට නාවික හමුදාවට සිදු වූ බවට වාර්තා විය. LTTE ය ගුවන් විදුලි පණිවිඩ යන්ත්‍ර හමුද විමර්ශනයට ලක් නොවී තම බල ප්‍රදේශවලට ගෙන ගියේ ය. LTTE ප්‍රාදේශීය බලධාරීහු තම නායකයන් සමඟ සාකච්ඡා කිරීමට ගුවන් හමුද හෙලිකොප්ටර සේවාව ලබාගත්හ.

සටන් විරාම කාලයේ දී, LTTE ය උතුර නැගෙනහිර මර්මස්ථානයන් හි අලුතින් කොටි කඳවුරු ඉදි කළේ ය. ඒ කඳවුරුවල ආරක්ෂාව තර කිරීමට පස් බැමි සහ යුද අගල් නිර්මාණය කළේ ය. සැඟවී සිට පහර දීමට බංකර සෑදී ය. ශ්‍රී ලංකා හමුද සොල්දදුවන් කොටි බල ප්‍රදේශවල කරන මෙහෙයුම්වලට බාධා කිරීමට බිම් බෝම්බ ඇතිරූ ප්‍රදේශ නිර්මාණය කළේ ය.

සාම සාකච්ඡා ආරම්භයේ දී යුද ශක්තියෙන් දුර්වල වූ LTTE ය සටන් විරාම කාලයේ දී යුද ශක්තියෙන් වර්ධනය වී ශ්‍රී ලංකා හමුදවට වඩා බලවත් වීමට උත්සාහ දැරී ය.

2003 ඔක්තෝබර් 31 වැනි දා, LTTE ය විසින් අන්තර් ස්වයං පාලන කාලයක් උතුරු නැඟෙනහිර ප්‍රදේශවලට ඉල්ලා සිටින විට, එයට රටේ දකුණින් මතු වූයේ දරුණු විරෝධයකි.

1.3.10

# 2005 - 2009
# මහින්ද රාජපක්ෂ යුගය

හතරවන ඊළාම් යුද්ධය සහ 30 වසරක
ඊළාම් යුද්ධයේ අවසානය

2005 දී මහින්ද රාජපක්ෂ ජනාධිපති ලෙස පත් විය. මේ කාලයේ දී රජයට තිබූ පාර්ලිමේන්තු බහුතර බලය, සටන ඉදිරියට ගෙන යෑමට ඔහුට පිටිවහලක් ම විය.

LTTE ය සැඟවී ප්‍රහාර එල්ල කරමින් සිටි තත්ත්වය පසුකර රජයේ හමුදාවට එරෙහි ව මුහුණට මුහුණලා එළිපිට ම සටන්කර සමහර යුද හමුදා කඳවුරු තම සිහින ඊළාම් දේශයෙන් ඉවත් කිරීමට සමත් විය. ඒ කාලයේ දී ත්‍රස්තවාදීන් ශ්‍රී ලාංකේය හමුදාවට වඩා තාක්ෂණයෙන් උසස් යුද අවි භාවිත කළ බවට සාක්ෂි මතු විය.

ක්‍රමයෙන් ශ්‍රී ලාංකේය හමුදාව ද කොටින් හා සම තත්ත්වයේ තාක්ෂණයෙන් උසස් යුද අවි භාවිතය පටන්ගත්තේ ය. උතුර නැගෙනහිර ගම්මාන ආශ්‍රිත ව ක්‍රියාත්මක වූ ත්‍රස්ත ප්‍රහාරවලට අනුරූප ව යුද හමුදාව ද විවිධ ගරිල්ලා උපක්‍රම අනුගමනය කිරීමට පටන්ගත්තේ ය. යුද හමුදාව ඕනෑ ම මාධ්‍යයකින් සටන් කිරීමටත්, සතුරාගේ අභ්‍යන්තරයට කාවැදී ඔවුන්ගේ ප්‍රබල මර්මස්ථාන විනාශ කිරීමටත් සමත් විය. LTTE ය නැගෙනහිර ප්‍රදේශයේ මාවිල්ආරු සොරොව්ව වසා, ගොවියන්ගේ ජල සැපයුම නැවැත්වී ය. 30 වසරක ඊළාම් යුද්ධයේ හැරවුම් ලක්ෂ්‍යය නිර්මාණය වූයේ මාවිල්ආරු සොරොව්ව ශ්‍රී ලංකා යුද හමුදාව විසින් මුදා ගැනීමෙනි.

4 වන ඊළාම් යුද්ධය ආරම්භ වන වකවානුවේ දී ශ්‍රී ලංකා යුද හමුදාවට සමගාමී ව නාවික හමුදාවත්, ගුවන් හමුදාවත් යුද්ධයට සාර්ථකව මුහුණ දීමට අනුගත වෙමින් සිටියහ.

නාවික හමුදාව සිය වේග ප්‍රහාරක යානා (FAC) සංඛ්‍යාව වැඩි කරගැනීමෙන් මුහුදු කොටින්ගෙන් නාවික හමුද යාත්‍රාවලට කරන පහරදීම් සාර්ථක ව මැඩ පැවැත්වීමට හැකි විය. 2006 සහ 2007 වසරවල දී LTTE යට අයත් අවි ගබඩා නෞකා 7 ක් ශ්‍රී ලංකා නාවික හමුදාව ඉන්දුනිසියානු සහ ඔස්ට්‍රේලියානු මුහුදු සීමා ආසන්නයේ දී විනාශ කිරීමෙන් කොටින්ගේ අවි බලය සීමා කිරීමට හැකි විය.

2009 පෙබරවාරි සිට මුහුදේ LTTE මර්මස්ථාන ආවරණය වන පරිදි නාවික හමුදාව නෞකා සහ යාත්‍රා 40 ක් පමණ යොදාගනිමින් ආරක්ෂක වළලු 4ක් පැය 24 පුරාවට රාජකාරියේ යෙදවීමෙන් LTTE ග්‍රහණයෙන් බේරී පැන යන දෙමළ වැසියන්ට ආරක්ෂාව සැපයීමට පහසු විය.

2009 මැයි 18 වැනි දා LTTE නායක වේලුපිල්ලේ ප්‍රභාකරන්ගේ ඝාතනයත් සමඟ ම අවුරුදු 30 ක් දීර්ඝ වූ ඊළාම් යුද්ධය අවසන් කිරීමට රජයට හැකි විය.



එක්සත් ප්‍රවෘත්ති පත්‍ර සමාගමේ ඡායාරූපයකි

1.3.11

# ජීවිත පරිත්‍යාග, සමූල ඝාතන සහ නැවත පදිංචි කරවීම

ඊළාම් යුද්ධය වෙනුවෙන් දිවි පිදූ ශ්‍රී ලංකා රජයේ රණවිරුවන් ගණන 28,000 ඉක්ම වූ අතර ආබාධිත වූ රණ විරුවන් ගණන 19,000 ඉක්ම විය.

30 වසරකට දික්ගැස්සුණ ඊළාම් යුද්ධයේ දී LTTE ය සහ අනෙක් බෙදුම්වාදී ද්‍රවිඩ ත්‍රස්ත කල්ලි, මරාගෙන මැරෙන බෝම්බකරුවන්, වාහන බෝම්බ සහ ක්ලේමෝර් බෝම්බ යොදාගනිමින් විශාල මනුෂ්‍ය ඝාතන සිදු කළහ. මායිම් ග ම්මානවලට කඩාවැදී අහිංසක සිවිල් වැසියන් ඝාතනය කළහ. අවසානයේ දී LTTE ය විසින් තම විරුද්ධවාදී ද්‍රවිඩ ත්‍රස්ත කල්ලි වන EPRLF, PLOTE, TELO සාමාජිකයන් සමූල ඝාතනය කෙරිණි. 1990 දී ඉන්දීය සාම සාධක හමුදාව ශ්‍රී ලංකාවෙන් පිටත් වීමෙන් පසු ව 2009 යුද්ධය අවසන් වන තුරු ම උතුර-නැගෙනහිර බහුතරයක් LTTE පාලන බල ප්‍රදේශ බවට පත් විය. එහි විසූ ජනතාවට LTTE යේ සිරකරුවන් ලෙසට ජීවත් වීමට සිදු විය. විශාල පිරිසකට තම පාරම්පරික ගෙවල්, ඉඩම් අහිමි විය. මේ කාලයේ දී LTTE ය විසින් උතුර-නැගෙනහිර පදිංචිකරුවන්ගෙන් බදු අය කරගැනීම ද, ඒ පවුල්වල දරුවන් බලහත්කාරයෙන් තම සංවිධානයට බඳවාගැනීම ද සිදු කළ බවට වාර්තා විය. යුද්ධය අවසාන වීමෙන් පසු ව ද ශ්‍රී ලංකා රජයට LTTE ය විසින් උතුර නැගෙනහිර වර්ග කිලෝමීටර් 100ක පමණවූ සිවිල් බල ප්‍රදේශවල වළ දමා තිබූ බිම්බෝම්බ 500,000කට ආසන්න ප්‍රමාණයක් ඉවත් කිරීමට සිදු විය. පොදුවේ හැම ජාතියක ම සිවිල් වැසියෝ මේ යුද්ධයෙන් පීඩා විඳි අතර, අවතැන් වීම්වලට ද ලක් වූහ. යුද්ධයෙන් පසු මේ අවතැන් වූ පිරිස නැවත ජාතිවාදී ප්‍රශ්න පැන නොනැගෙන සේ යළි පදිංචි කරවීම රජයට ඇති දැවැන්ත ම අභියෝගය බවට පත් විය.

*"ආර්පීජී අවියෙන් නිම කෙරුණු දෙවන ඊළාම් යුද්ධය නැවත ඇරඹුණේ මිසයිල් වලිනි. සටන් විරාමය සතුරා කොතෙක් පෝෂණය කර තිබුණිදැයි අපට ගුවන් හමුදාවේ ඇව්රෝ ගුවන් යානා දෙකකට ම පලාලිවල දී එල්ල වූ මිසයිල් ප්‍රහාරවලින් ගම්‍ය විය. ඔවුන් සැම විට ම වාගේ අප හමුදාවට පෙර යුද තාක්ෂණය ගරිල්ලා සටන් බිමට ගෙන ආවෝ ය. අප ආර්පීජී හඳුනාගත්තේ ඔවුන්ගෙනි. එසේ නම් සටන් විරාමයෙන් හොඳහැටි ඵල නෙලාගත්තේ එල්ටීටීය ම නොවේ ද? තවත් ශක්තිමත් වී තවත් පුෂ්ටිමත් වී හුන් කොටියාගේ ගර්ජනය ද වැඩි විය."*

*(සතුරාට යටත් නොවන මා... පි. 120)*

## දෙවන කොටස

# වසර 30 ක් දිග ඇදී ගිය ඊළාම් යුද්ධය

ඊළාම් වචනයේ දෙමළ අර්ථකථනය **වෙන ම නිජබිමක්** යන්න ය. දෙමළ ඊළම අර්ථ දැක්විය හැක්කේ වෙන ම දෙමළ රාජ්‍යයක් යනුවෙනි. ඊට අයත් වූයේ ද්‍රවිඩ ත්‍රස්තවාදීන් විසින් බලය ස්ථාපිත කිරීමට උත්සාහ දැරූ ශ්‍රී ලංකාවේ උතුරු සහ නැඟෙනහිර ප්‍රදේශ ය.

ශ්‍රී ලංකා රජය සහ LTTE ය අතර ඇති වූ වසර 30 ක යුද්ධය ඊළාම් යුද්ධය ලෙස හැඳින්වේ. මේ යුද්ධය ශ්‍රී ලංකා රජය විසින් 1983 දී නිල වශයෙන් ප්‍රකාශ කළ අතර, 2009 දී අවසන් වුණි. මේ කාල සීමාව තුළ දී විදේශීය සහ අභ්‍යන්තර මැදිහත් වීම් හේතු කරගෙන ශ්‍රී ලංකා රජයට ත්‍රස්තවාදීන් සමඟ සාම සාකච්ඡාවලට එළඹීමට සිදු විය. මේ සාම සාකච්ඡා සඳහා යුද්ධය පිට පිට ම තුන්වාරයක් තාවකාලික ව නවතා දැමීමට ද සිදු විය.



එක්සත් ප්‍රවෘත්ති පත්‍ර සමාගමේ ඡායාරූපයකි

බලකාමය මූලික කරගත් අදූරදර්ශී දේශපාලන ප්‍රතිලාභ ලබාගැනීමේ පරමාර්ථයක් මත ත්‍රස්තවාදීන් සමඟ කෙරුණු ඊනියා සාම සාකච්ඡා හේතුකොටගෙන ඉතා සුළුවෙන් ආරම්භ වූ ඊළාම් යුද්ධය ක්‍රමයෙන් වර්ධනය වී ලොව සිදු වුණ අති බිහිසුණු සිවිල් යුද්ධයක් බවට පත් විය. එසේ ම සුළුවෙන් ආරම්භ වූ ද්‍රවිඩ ත්‍රස්ත සංවිධාන ජාත්‍යන්තර සහය සහ බලවත් රටවලින් යුද පුහුණුව ලබමින් ලොව බිහි වූ දරුණුතම ත්‍රස්තවාදීන් ලෙසට ජාත්‍යන්තර මාධ්‍යයේ ශ්‍රේණිගත විය. LTTE ය අනිකුත් ද්‍රවිඩ ත්‍රස්ත සංවිධාන විනාශකර බලවත් ම ද්‍රවිඩ ත්‍රස්ත සංවිධානය බවට පත් වී ශ්‍රී ලංකා රජයට පරාජය කළ නොහැකි බලවේගයක් ලෙසට අභියෝග කිරීමටත් ඊළාම් යුද්ධයේ නාමයෙන් අතිමහත් මනුෂ්‍ය ඝාතන සහ ආර්ථික මර්මස්ථාන, ආගමික සිද්ධස්ථාන විනාශ කරමින් සහ මුළු රට ම භීතියට පත්කරවමින් 30 වසරක් පුරා බිහිසුණු සංග්‍රාමයක් ගෙනයෑමටත් සමත් විය.

යුද්ධයේ අවසාන අදියරේ දී LTTE බල ප්‍රදේශය නන්දිකඩාල් කලපුව අසල වර්ග කිලෝමීටර් 4ක බිම් ප්‍රදේශයකට සීමා කිරීමට ශ්‍රී ලාංකේය හමුදාවට හැකි විය. LTTE ය 200,000 පමණවූ ද්‍රවිඩ සිවිල් වැසියන් බලහත්කාරයෙන් ඒ ප්‍රදේශයේ රඳවාගෙන ඔවුන් මිනිස් පලිහක් ලෙසට යොදාගනිමින් තම සටන ගෙනයෑමට අසාර්ථක උත්සාහයක් දැරී ය.

තිස් වසරක ඊළාම් යුද්ධ ජයග්‍රහණය සඳහා ශ්‍රී ලංකා සන්නද්ධ හමුදා සොල්දාදුවන්ගේ කැපවීම සහ නිර්භීත භාවය ලොව බලවත් රටවල හමුදාවලටත් වඩා අති විශිෂ්ට ව ප්‍රදර්ශනය විය. අප මවුබිම වෙනුවෙන් දිවි පිදූ ශ්‍රී ලංකා රජයේ හමුදා සාමාජිකයන් ගණන 28,000 ඉක්මවී ය. (යුද හමුදාව 23,952, නාවික 1,168, ගුවන් 443, සිවිල් ආරක්ෂක 456, පොලිස් 2,568) පූර්ණ කාලීන ව ආබාධිත වූ ශ්‍රී ලාංකේය රජයේ හමුදා සාමාජිකයන් ගණන 19,000 ඉක්මවී ය. (යුද හමුදාව 18,357, නාවික 410, ගුවන් 234, පොලිස් 151) ඝාතනයට ලක් වූ මුළු සටන්කාමීන් (ශ්‍රී ලංකා රජයේ සොල්දාදුවන් සහ ද්‍රවිඩ ත්‍රස්තයන්) ගණන 50,000 ඉක්ම විය. තවද ඝාතනයට ලක් වූ සහ අතුරුදන් වූ සිවිල් වැසියන්ගේ ගණන 100,000 ඉක්ම වූ බවට වාර්තා විය.




බෙදුම්වාදීන් අපේක්ෂා කල ඊළාම් රාජ්‍යය

## 2.1 පළමු වන ඊළාම් යුද්ධය (1983 - 1989)

| | ශ්‍රී ලංකා හමුදාව | LTTE |
|---|---|---|
| නායකත්වය | ජනාධිපති J.R. ජයවර්ධන | වේලුපිල්ලේ ප්‍රභාකරන් |

1970 කාල සීමාවේ සිට ද්‍රවිඩ ත්‍රස්තවාදීන් හා ශ්‍රී ලාංකේය රජය අතර විරුද්ධවාදීකම් සහ ගැටීම් සිදු විය. 1983 ජූලි 23 වන දා LTTE ය ශ්‍රී ලංකා යුද හමුදාව වෙත තම ප්‍රථම දරුණු ප්‍රහාරය එල්ල කළේ ය. යාපනය නගරයේ මුර සේවයේ යෙදී සිටි සොල්දාදුවන් 13 දෙනෙක් මේ ප්‍රහාරයෙන් මිය ගියහ. මෙය ජාතීන් අතර තිබූ ආරවුල, කෲරතර සිවිල් යුද්ධයකට පත් කිරීමේ හැරවුම් ලක්ෂ්‍යය වීමත් මෙහිලා සැලකිල්ලට ගනිමු.

1985 ජූලි 13 වැනි දා ශ්‍රී ලංකා රජය සහ ද්‍රවිඩ ත්‍රස්තවාදී කණ්ඩායම් භූතානයේ තිම්පු නුවර සාම සාකච්ඡා පැවැත්වීම පටන්ගත් අතර, ඊට ශ්‍රී ලංකා රජය සමඟ ද්‍රවිඩ දේශපාලන පක්ෂ සහ සටන්කාමී කණ්ඩායම් ද සහභාගි වූහ. ඔවුන් TULF, PLOTE, LTTE, EPRLF, TELO සහ EROS වේ. මේ සාකච්ඡා අසාර්ථක වීමෙන් පසු ව රට තුළ දරුණු යුද්ධයක් නිර්මාණය විය.

1987 දී ශ්‍රී ලංකා යුද හමුදාව සිදු කළ වඩමාරච්චි මෙහෙයුම මඟින් දෙමළ සටන්කාමී කොටස් යාපනයේ කෙළවරකට සීමා කිරීමට හැකි විය. මෙය ද්‍රවිඩ සන්නද්ධ පිරිස් සම්පූර්ණයෙන් ම හමුදා ග්‍රහණයට හසුකිරීමට තුඩු දුන් අවස්ථාවක් ලෙස ගිණිය යුතු ය. නමුත් ඉන්දියාවේ සිටින මිලියන 50 ක දෙමළ ජාතිකයින් ශ්‍රී ලංකාවේ සිටි සන්නද්ධ ද්‍රවිඩ කණ්ඩායම් වෙනුවෙන් කළ උද්ඝෝෂණය ඉන්දීය රජයේ මැදිහත්වීම දක්වා බලවත් විය.

ඉන්දීය රජයෙන් හමුදා මෙහෙයුම නැවැත්වීමට අණ ලැබුණු අතර, ශ්‍රී ලංකාව එය නොපිළිගත්තේ ය. ශ්‍රී ලංකා රජයේ තීරණයට ප්‍රතික්‍රියාවක් ලෙස, ඉන්දීය අගමැති රජීව් ගාන්ධි ඔවුන්ගේ නාවික හමුදා නෞකා ද්‍රවිඩ සන්නද්ධ තරුණයන් තම රටට ගෙන යෑමට සහ සහනාධාර ලබා දීමට උතුරට එවීමට

අණ කළේ ය. මේ ඉන්දීය නාවික හමුදා නෞකා ශ්‍රී ලංකා නාවික හමුදාව විසින් ශ්‍රී ලංකා මුහුදු තීරයේ දී අවහිර කෙරිණින්, ඉන් නොනැවතුණ ඉන්දීය රජය ඔවුන්ගේ ගුවන් හමුදාව යොදා උතුරට ආහාර ද්‍රව්‍ය ගුවනින් හෙළීම ආරම්භ කළේ ය.

මුලින් ඉන්දීය හමුදාව LTTE ය සමඟ සුහද සම්බන්ධතා පවත්වාගෙන ගිය ද, පසු ව ශ්‍රී ලංකා ජනාධිපති ජේ. ආර්. ජයවර්ධන ඉන්දීය රජය සමඟ මේ තත්ත්වය සමනය කිරීම සඳහා සාකච්ඡා පැවැත්වී ය. මේ සාකච්ඡාවල අවසාන ප්‍රතිඵලය වූයේ ඉන්දු - ශ්‍රී ලංකා ගිවිසුම 1987 ජූලි 29 වන දා ජේ. ආර්. ජයවර්ධන සහ රජීව් ගාන්ධි අත්සන් කිරීමයි. මේ ගිවිසුමට අනුව ශ්‍රී ලංකා හමුදාව උතුරේ මෙහෙයුම් නැවැත්විය යුතු අතර, ඉන්දීය සාම සාධක හමුදාව (IPKF) උතුරු නැඟෙනහිර ආරක්ෂාව තහවුරු කළ යුතු විය. ද්‍රවිඩ සන්නද්ධ කල්ලි තම ආයුධ IPKF හට භාර දිය යුතු විය.

පළමුවන ඊළාම් යුද්ධයට සහභාගි වූ ශ්‍රී ලාංකේය හමුද සොල්දදුවන් කිසිවකු හට පරම වීර විභූෂණය පදක්කම ලබාගැනීමේ භාග්‍යය හිමි වූයේ නැත.




කොටි ඩයස්පෝරාවේ ප්‍රචාරක රැලියක්

## 2.2 දෙවන ඊළාම් යුද්ධය (1992 - 1994)

| | ශ්‍රී ලංකා හමුදාව | LTTE |
|---|---|---|
| නායකත්වය | ජනාධිපති රණසිංහ ප්‍රේමදාස | වේලුපිල්ලේ ප්‍රභාකරන් |

IPKF හමුදාව බහුතර ශ්‍රී ලාංකිකයන්ගේ අප්‍රසාදයට බඳුන් වී තිබිණි. 1989 රණසිංහ ප්‍රේමදාස ජනාධිපති ලෙස පත් වූ පසු ඔහුගේ තීරණය වූයේ 80,000 පමණ වූ IPKF හමුදාව වසරක් තුළ දී රටින් පිට කිරීම ය.

ප්‍රේමදාස රජය LTTE සමග සාම සාකච්ඡා පැවැත්වී ය. මේ සාකච්ඡාවල එක් කොන්දේසියක් වූයේ IPKF හමුදාව ඉන්දියාවට යායුතු බව යි. තව ද කොටි ත්‍රස්තවාදයෙන් පහර ලත් ඉන්දීය හමුදාව ඉන්දියාවට හැකි ඉක්මනින් යැමට උත්සාහ දැරීමත් පුදුමයක් නොවේ. ඔවුන් අවුරුදු 3 ක පමණ කාලයක් උතුරේ සිටි නමුත්, ස්ථාපිත කළ සාමයක් ද නොවී ය. මේ කාලය තුළ ඉන්දීය භටයෝ 1,200ක් පමණ මරණයට පත් වූ අතර, 2,900ක් පමණ තුවාල ලැබූහ. ඉන්දීය අගමැති විශ්වනාත් ප්‍රතාප්, ශ්‍රී ලංකා ජනපති රණසිංහ ප්‍රේමදාසගේ ඉල්ලීමට එකඟ වී හමුදාව නැවත ගෙන්වාගැනීමට කටයුතු කළේ ය. අවසාන ඉන්දීය හමුදා ඛණ්ඩය 1990 මාර්තු 30 වැනි දා ත්‍රිකුණාමලයෙන් පිටත් වූයෙන්, කොටි තම බලය උතුරු සහ නැගෙනහිර නැවතත් ස්ථාපිත කළහ.

LTTE ය සහ ශ්‍රී ලංකා රජය අතර සාම සාකච්ඡා කොළඹ හිල්ටන් හෝටලයේ දී ආරම්භ විය. මුල දී මේ සාකච්ඡා සාර්ථක වුව ද, ශ්‍රී ලංකා ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවේ 6 වන සංශෝධනයත්, උතුරු නැගෙනහිර පළාත් සභා විසුරුවා හැරීමත් මතභේදවලට ලක් විය.

LTTE ය සාම සාකච්ඡා පවත්වන අතරේ දී මඩකලපුව ප්‍රදේශයේ පොලිස් නිලධාරීන් 600 ක් පමණ අත් අඩංගුවට

ගෙන මරා දැම්මේ ය. මේ පොලිස් නිලධාරීන් හට LTTE යට යටත්වන ලෙස ශ්‍රී ලංකා රජයෙන් 1990 ජූනි 10 වන දා අණ ලැබී තිබුණු බවට වාර්තා වීමත් වේදනාබර කතාපුවතකි.

ඒ අවුරුද්දේ ඔක්තෝබර් මාසයේ දී LTTE ය විසින් උතුරු ප්‍රදේශයේ ජීවත් වූ මුස්ලිම් ජාතිකයන් 65,000 කට පැය 48 ඇතුළත තම නිවෙස්වලින් සහ උතුරු ප්‍රදේශයෙන් පිට වන ලෙස අණ ලැබිණි.

රජයේ සහ LTTE සාම සාකච්ඡා නිසා ශ්‍රී ලංකා යුද හමුදාවට කඳවුරුවලින් පිටත කටයුතු කිරීමට අවසර ලැබී තිබුණේ ද නැත.

LTTE ය විසින් කෙරුණු පොලිස් භටයන් 600 ක ඝාතනය නිසා සාම සාකච්ඡා බිඳ වැටුණි. එවකට සිටි ආරක්ෂක ඇමැති රන්ජන් විජේරත්න පාර්ලිමේන්තුවේ දී දෙවන ඊළාම් යුද්ධය කළ යුතු බව නිවේදනය කළේ ය.

මේ වන විට රජයේ හමුදා ප්‍රදේශ LTTE විසින් අත්පත් කරගෙන තිබුණි. සමහර යුද හමුදා කඳවුරු, පොලිස් ගොඩනැගිලි අතහැර දමා හුදෙකලා වී තිබුණි. 1990 ජූලි මාසයේ දී ද්‍රවිඩ සන්නද්ධ කණ්ඩායම් යාපන අර්ධද්වීපයට අන් අය ඇතුළු වීම ද අවහිර කොට තිබුණි. මේ අනුව උතුරු නැගෙනහිර පාලන බලය ද්‍රවිඩ කණ්ඩායම් විසින් ම අත්පත් කරගෙන තිබූ අයුරු ඉතා පැහැදිලි ය.

දෙවන ඊළාම් යුද්ධයට දයක වී පරම වීර විභූෂණය පදක්කම පිරිනැමුණු සොල්දදුවන්ගේ විස්තර ;

1. කපිතාන් එස් යූ. අලදෙනිය
   1990 ජූලි 11/ කොකාවිල්
2. කෝප්රල් වයි. ජී. ගාමිණී කුලරත්න
   1991 ජූලි 13 / අලිමංකඩ
3. ලුතිනන් කේ. ඩබ්. ටී. නිශ්ශංක
   1993 නොවැම්බර් 11 / පූනරීන්.

## 2.3 තුන්වන ඊළාම් යුද්ධය (1995 - 2002)

| | ශ්‍රී ලංකා හමුදාව | LTTE |
|---|---|---|
| නායකත්වය | ජනාධිපති චන්ද්‍රිකා බණ්ඩාරනායක කුමාරතුංග | වේලුපිල්ලේ ප්‍රභාකරන් |
| පිරිස් බලය | 200,000 පමණ | 18,000 - 24,000 |
| මිය ගිය සහ තුවාලකරුවන් | 7,838 පමණ | 2,876 පමණ |

1994 අගෝස්තු මාසයේ ජනතා පොදු පෙරමුණු රජය බලයට පත් විය. නව රජය LTTE ය සමඟ සාම සාකච්ඡා ඇරඹුවේ ය. 1995 ජනවාරි 8 වන දා ශ්‍රී ලංකා රජය සහ LTTE ය සටන් විරාම ගිවිසුමකට එකඟ වූහ.

සටන් විරාමය දින 100 කට සීමා කෙරිණි. දෙවන ඊළාම් යුද්ධයේ සටන් විරාමය 1995 දී ආරම්භ වී දින 100 අවසන් වනවාත් සමඟ ම LTTE ය ත්‍රිකුණාමලය ශ්‍රී ලංකා නාවික හමුදා වරායේ නවතා තිබූ ආයුධ සන්නද්ධ වේග මුර යාත්‍රා දෙකට බෝම්බ සවිකර පුපුරුවා හැරීමෙන් පසු ව තුන්වන ඊළාම් යුද්ධය ආරම්භ විය.

දීර්ඝ කාලීන ඊළාම් යුද්ධයත්, වෙනත් රටවලින් ලැබූ ගරිල්ලා සටන් පුහුණුවත්, නවීන ආයුධ භාවිතයත් නිසා LTTE ය ක්‍රමානුකූල ව බලවත් සටන් කණ්ඩායමක් බවට පත් වී තිබිණි. ඔවුන් සතු ව ගුවන් යානා නාශක අවි තිබිණ. ඔවුහු යාපනය අර්ධද්වීපයට ඉහළින් ගිය ශ්‍රී ලංකා ගුවන් හමුදා අහස් යානා කිහිපයක් ම මිසයිල මඟින් බිම දැමූහ.

ශ්‍රී ලංකා යුද හමුදාවට යාපනය අර්ධද්වීපයේ පාලනය තමන්ට නතුකරගැනීමට හැකි වුවත්, LTTE සංවිධානයට ද පුනරින්, මුලතිව් වැනි යුද හමුදා කඳවුරු කිහිපයක් සහමුලින් ම විනාශ කර දැමීමට සමත්කම ලැබිණ. මුලතිව් කඳවුරේ මිය ගිය සහ තුවාල වූ සංඛ්‍යාව 1,600 ඉක්මවී ය.

2001 පාර්ලිමේන්තු මැතිවරණයෙන් රනිල් වික්‍රමසිංහගේ නායකත්වයෙන් UNP ය බලයට පත් විය. රනිල් වික්‍රමසිංහ අගමැති වූ පසු නෝර්වේ රාජ්‍යයේ මැදිහත්වීමෙන් LTTE ය සමඟ ගැටලු නිරාකරණය සඳහා සාම සාකච්ඡා යළි ඇරඹී ය.

2001 දෙසැම්බර් මාසයේ දී නෝර්වේ රජය මැදිහත්වීමෙන් දෙපාර්ශ්වය අතර තවත් සටන් විරාම ගිවිසුමකට අත්සන් තැබිණි (CFA).

තුන්වන ඊළාම් යුද්ධයට දයක වී පරම වීර විභූෂණය පදක්කම පිරිනැමුණු සොල්දදුවන් ;

1. බලලත් නිලධාරි එච්. පී. බී. ගුණසේකර
   1995 නොවැම්බර් 30/ විරතිව්
2. ලාන්ස් කෝප්‍රල් ඩබ්. අයි. එම්. සෙනවිරත්න
   1995 ජූලි 4 / යාපනය
3. කර්නල් ඒ. එෆ්. ලෆීර්
   1996 ජූලි 19 / මුලතිව්
4. මේජර් ජී. එස්. ජයනාත්
   1997 දෙසැම්බර් 4 / මාන්කුලම්
5. ලුතිනන් ජේ. එල්. ඩී. එස්. විජේතුංග
   1996 මාර්තු 30/ චලෙයි
6. වින්ග් කමාන්ඩර් ටී. ඩී. එස්. සිල්වාපුල්ලේ
   1999 දෙසැම්බර් 19 / තම්ලමඩම


01 ජනවාරි 2009
පරන්තන්
02 ජනවාරි 2009
කිලිනොච්චි නගරය
28 ජනවාරි 2009
විශ්වමඩු නගරය
15 නොවැම්බර් 2008
පූනරීන්
13 අප්‍රේල් 2008
ඩෙවිල්ස් පොයින්ට් සහ වල්ලයිපාඩු
05 පෙබරවාරි 2009
චලෙයි
21 අගෝස්තු 2008
නයාරු බටහිර කලපුව
29 ඔක්තොම්බර් 2008
නාච්චිකුඩා
29 ඔක්තොම්බර් 2008
අක්කරායකුලම් වැව් බැම්ම
15 දෙසැම්බර් 2008
අම්පකාමම්
25 ජනවාරි 2009
මුලතිව් නගරය
22 අගෝස්තු 2008
තුනුක්කායි නගරය
02 මැයි 2008
මල්ලාවි නගරය
04 ජනවාරි 2009
ඔඩ්ඩුසුඩාන් නගරය
15 ජූන් 2008
පෙරියමඩු ගම්මානය
16 ජූලි 2008
වෙඩිතලතිව් නගරය
12 ජනවාරි 2009
නෙඩුන්කර්නි
17 නොවැම්බර් 2008
මාන්කුලම්
04 දෙසැම්බර් 2008
පුලියන්කුලම්
16 මැයි 2008
පෙරියමඩු නගරය
02 සැප්තැම්බර් 2007
සිලාවතුර
24 අප්‍රේල් 2008
මඩු පල්ලිය සංකීර්ණය
23 මැයි 2008
මුන්ඩුමුරිප්පු
04 සැප්තැම්බර් 2007
සාම්පූර්
08 අගෝස්තු 2007
මාවිල් ආරු
21 ජනවාරි 2007
වාකරෙයි
12 ජූලි 2007
තොප්පිගල
Jaffna
Kilali
Palla
Vettilaikeni
Elephant Pass
Chundikkulam
Paranthan
Chalai
Dharmapuram
Visuamadu
Kilinochchi
Muthiankattu Kulam
Devil's Point
Veravil
Manniyankulam
Akkarayankulam
Iranativu
Nachchikuda
පුදුමාතලන්
වලයාන්මඩම්
මුලතිව්
අම්පකාමම්
ඔලුමඩු
මාන්කුලම්
ඔඩ්ඩුසුඩාන්
තුනුක්කයි
අට්ටිමොඩයි
ඔඩ්ඩන්කුලම්
නෙඩුන්කර්නි
ඔට්ටියමලෙයි
පෙරියකුලම්
කනකාරායකුලම්
මුන්ඩුරිප්පු
පුලියම්කුලම්
වෙඩිතලතිව්
පෙරියමඩු
පුලියනතිව්
ආන්දන්කුලම්
පාලම්පිඩ්ඩි
පලාමොඩි
ඔමන්තෙයි
මඩු
වව්නියා
පරයියානම්කුලම්
සිලාවතුර
කුම්බුරුපිඩ්ඩි
නිලාවේලි
ත්‍රිකුණාමලය
සාම්පූර්
සේරුවාවිල
කතිරවේලි
වාකරෙයි
තොප්පිගල
මඩකලපුව
55
58
53
58 Division
TASK FORCE 2
57 Division
TASK FORCE 3
59 Division
TASK FORCE 4

4 වන ඊළාම් යුද්ධය

## 2.4 හතර වන ඊළාම් යුද්ධය :(2006 - 2009)

| | ශ්‍රී ලංකා හමුදාව | LTTE |
|---|---|---|
| නායකත්වය | ජනාධිපති මහින්ද රාජපක්ෂ | වේලුපිල්ලේ ප්‍රභාකරන් |
| පිරිස් බලය | 200,000 පමණ | 18,000 - 30,000 |
| මිය ගිය ගණන | 20,000 පමණ | 15,000 - 22,000 |
| තුවාලකරුවන් | 10,000 පමණ | දත්ත නැත |

2006 ජූලි මාසයේ දී හතර වන ඊළාම් යුද්ධය ආරම්භ විය. ත්‍රිකුණාමලයේ මාවිල්ආරු ජලාශයෙන් වගාබිම්වලට කළ වතුර සැපයුම LTTE ය විසින් නවත්වා තිබීම මේ හතර වන යුද්ධය ආරම්භ වීමට මූලික වූ හේතුවයි. හමුදා මෙහෙයවීම් අවුරුද්දක් පමණ පැවතුණ අතර, ශ්‍රී ලංකා යුද හමුදාව තොප්පිගල වැනි LTTE බල ප්‍රදේශ යටත් කරගනිමින් නැගෙනහිර බලය තහවුරු කරගත්තේ ය.

හතර වන ඊළාම් යුද්ධයේ ප්‍රධාන සටන් සාම්පූර්, වාකරේ සහ තොප්පිගල වැනි LTTE බල ප්‍රදේශවල පැවතුණි. සිවිල් වැසියන් මේ ප්‍රදේශවලින් පිටතට යෑම LTTE ය වැළකී ය. ලෝක සෞඛ්‍ය සංවිධානයට අනුව 200,000 - 300,000 ආසන්න සිවිල් වැසියන් ප්‍රමාණයක් යුද්ධය නිසා අවතැන්ව සිටියහ.

නන්දිකඩාල් කළපුව අසල සිදු වූ අවසන් සටන ත්‍රස්තවාදයේ ඉරණම තීන්දු කළ ඓතිහාසික සටනයි. සිවිල් වැසියෝ 300,000ක් පමණ ඒ වන විටත් LTTE ග්‍රහණයට හසු වී සිටියහ. 2009 මැයි 18 දින ඊළාම් යුද්ධය ජයග්‍රාහී ව අවසන් කිරීමට ශ්‍රී ලංකා ත්‍රිවිධ හමුදව සමත් වීම ඉතිහාසයේ ලියැවී හමාර බව ද අපි දනිමු. ශ්‍රී ලංකා හමුදාව මඟින් LTTE බල ප්‍රදේශ අල්ලා ගත්තේ ය. LTTE නායක වේලුපිල්ලේ ප්‍රභාකරන් මේ සටනේ දී මිය යෑමෙන් ත්‍රස්ත කල්ලි නායකත්වය අවසන් හුස්ම හෙළී ය.

හතරවන ඊළාම් යුද්ධයට දයක වී පරම වීර විභූෂණයෙන් පිදුම්ලත් සොල්දාදුවන්;

1. ලුතිනන් කර්නල් ඒ. ජේ. එල්. ජයසිංහ
   2008 නොවැම්බර් 20 / ඔඩ්ඩුසුඩාන්
2. මේජර් කේ. ඒ. ගමගේ
   2009 අප්‍රේල් 20/ පුදුමාතලන්
3. කපිතන් යු. ජී. එස්. සමරනායක
   2009 මාර්තු 2/ පුදුකුඩුඉරිප්පු
4. කපිතන් එච්. එම්. කේ. අයි මේසවර්ණ
   2009 මාර්තු 2/ පුදුකුඩුඉරිප්පු
5. සැරයන් එච්. ජී. එස්. බණ්ඩාර
   2009 මැයි 17 / නන්දිකඩාල්
6. සැරයන් පී. එන්. සුරංග
   2006 අගෝස්තු 19/ මුහුමාලේ
7. කෝප්‍රල් පී. එම්. එන්. පුෂ්ප කුමාර
   2009 පෙබරවාරි 1/ විශ්වමඩු
8. සැරයන් ඩී. එම්. එස්. චන්‍ද්‍රසිරි බණ්ඩාර
   2009 පෙබරවාරි 3 / පුදුකුඩුඉරිප්පු
9. කෝප්‍රල් කේ. චන්දන
   2008 ජූලි 25 / මාන්කුලම්
10. ලාන්ස් කෝප්‍රල් ආර්.එම්. ඩී. එම්. රත්නායක
    2009 මැයි 11/ වලෙයි
11. කෝප්‍රල් ඒ. එම්. එම්. එම්. පී. අබේසිංහ
    2008 ජූලි 25/ තුණුක්කායි
12. ලාන්ස් කෝප්‍රල් ඒ. එම්. බී. එච්. ජී. අබේරත්න බණ්ඩා
    2009 ජූලි 13/ විශ්වමඩු
13. ලාන්ස් කෝප්‍රල් ටී. පී. ආර් දයානන්ද
    2008 සැප්තැම්බර් 16/ කිලිනොච්චිය
14. කපිතන් පී. එන්. පුන්සිරි
    2007 ජූලි 2/ පාලම්පිඩ්ඩි

15. ලුතිනන් ඩබ්. සී. ජයතිලක
2009 අප්‍රේල් 20 / ඉරණමඩු

16. මාණ්ඩලික සැරයන් කේ. ජී. එන්. එල්. ආර්. පෙරේරා
2009 අප්‍රේල් 21/ පුදුමාතලන්

17. සැරයන් කේ. පී. ඩී. ටී. ගුණසේකර
2009 පෙබරවාරි 16 / පුදුකුඩුඉරිප්පු

18. කෝප්‍රල් එච්. ඒ. නිලන්තකුමාර
2009 ජනවාරි 29 / තිලාවේලි

19. කෝප්‍රල් එස්. වී. ඒ. එම්. පුෂ්පමාල්
2009 අප්‍රේල් 21/පුදුමාතලන්

20. මේජර් ඩබ්. එම්. එස්. බී. වලිසුන්දර
2006 අගෝස්තු 11/ නගර්කෝවිල්

21. සැරයන් ඒ. එම්. අනුර
2007 නොවැම්බර් 11/ පෙරියම්පතේ

22. ලාන්ස් කෝප්‍රල් කේ. ජී. එම්. රාජපක්ෂ
2008 දෙසැම්බර් 22 / අඩම්පත්

23. ප්‍රධාන සුළු නිලධාරී කේ. ජී. ශාන්ත/ 2008
නොවැම්බර් 11/ නගර්කෝවිල්



LTTE නායක වේලුපිල්ලේ ප්‍රභාකරන්ගේ මෘත දේහය
එක්සත් ප්‍රවෘත්ති පත්‍ර සමාගමේ ඡායාරූපයකි

*"අනතුරු මැද ජීවත් වීමේ දී අමුතු ම උද්‍යෝගයක් ඇති වේ... සියල්ල සිදු වන ආකාරය හෝ ඊළඟ මොහොතේ සිදු වන දේ කලින් දන්නවා නම් ඔහු ගෙවන්නේ අක්‍රිය ජීවිතයකි...*

*අනතුරුවලින් මිදුණු සුරක්ෂිත බව තහවුරු කළ පරිසරයක ඔබ වෙසෙනවා නම් ඔබ මළ සොල්දාදුවෙකි.... මළ මිනිසෙකි...*

*ජීවත් ව සිටින අයට පමණයි අනාරක්ෂිත බව දැනෙන්නේ..."*

*(සතුරාට යටත් නොවන මා... පි. 112)*

## තුන් වන කොටස

# පරම වීර විභූෂණ පදක්කම් ලාභී සොල්දාදුවන්ගේ වික්‍රමාන්විත ක්‍රියාකාරකම්.

යුද ක්‍රියාන්විතවල දී මිය ගිය ශ්‍රී ලාංකේය ත්‍රිවිධ හමුදා සොල්දාදුවන් හට කරන උපහාරයක් ලෙස ඔවුන්ගේ නිලය උසස් වීමට ලක් කිරීම අගනා පිළිවෙතකි.

බොහෝ අවස්ථාවල දී මාධ්‍ය මඟින් මේ රණවිරුවා ඔහුගේ ජීවිත පරිත්‍යාගයෙන් පසු ව ලත් නිලයෙන් ආමන්ත්‍රණය කරන්නේ නැති වීමත් මහා අභාග්‍යයකි.

මේ ගැටලුව මඟ හැරීම සඳහා, අප මේ පොතෙහි රණවිරු-වන් අමතන්නේ ජීවිත පරිත්‍යාගයට පසු ඔහු දැරූ නිලයෙනි.

## ශ්‍රී ලංකා යුද හමුදාව

### 3.1 කපිතාන් එස්. යූ. අලදෙනිය
### **O/3113**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 3 වන බළඇණිය,<br>ශ්‍රී ලංකා සිංහ රෙජිමේන්තුව<br>ස්වේච්ඡා බළසේනාව |
| මිය ගිය ස්ථානය | : කොකාවිල් |
| උපන් දිනය | : 1963 මැයි 01 |
| මිය ගිය දිනය | : 1990 ජූලි 11 |
| වයස | : 27 |
| පදක්කම ලැබුණු දිනය | : 1991 ඔක්තෝබර් 10 |
| විවාහක/අවිවාහක භාවය | : විවාහක |
| මව | : ඊ. විජේසිංහ අලදෙනිය |
| පියා | : එස්. එම්. කුඩාබණ්ඩා<br>අලදෙනිය |
| බිරිඳ | : ඉයන්තා |
| ලිපිනය | : 109/1, ලේවැල්ල පාර,<br>මහනුවර |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය |

පරම වීර විභූෂණය පිදුම් ලත් ප්‍රථම රණවිරුවා ශ්‍රී ලංකා සිංහ රෙජිමේන්තුවේ ස්වේච්ඡා බලසේනාවට අනුගත වූ **සාලිය උපුල් අලදෙනිය** වන්නේ ය.

ඔහු තම තුවාල වූ සහෝදර භට පිරිස ඉදිරියේ සිටිමින් අභීත ව නොනවත්වා ම සතුරාට ප්‍රහාර එල්ල කරමින් සිය කණ්ඩායමේ අවසාන මොහොත තෙක් සටන් කළ අපූරු සටන්කාමියෙකි.

උපුල් සාලිය අලදෙනිය 1963 මැයි 01 වන දින උපත ලැබී ය. ඔහුගේ මව ඉන්ද්‍රානි විජේසිංහ වූ අතර පියා කුඩබංඩා අලදෙනිය විය. සාලියට රේණුකා උදේනි නම් වැඩිමහල් සහෝදරියක් ද චමින්ද සංජය නම් බාල සහෝදරයෙක් ද විය. දිවයිනේ උසස් පාසලක් වූ මහනුවර ත්‍රිත්ව විද්‍යාලයෙන් සාලිය අධ්‍යාපනය හැදෑරුවේ ය.

පාසල් අධ්‍යාපනය නිම කිරීමෙන් පසු ව සාලිය වතු අධිකාරිවරයකු ලෙස සේවය ඇරඹී ය. 1989 අප්‍රේල් 21 වන දින ශ්‍රී ලංකා යුද හමුදාවේ ස්වේච්ඡා බළ සේනාවේ කෙඩෙට් නිලධාරියකු ලෙස සම්බන්ධ වී සිය මූලික පුහුණුව දියතලාව හමුදා පීඨයෙන් නිමාකර 1989 සැප්තැම්බර් 22 වැනි දා දෙවන ලුතිනන් වරයකු ලෙස ශ්‍රී ලංකා සිංහ රෙජිමේන්තුවේ 3 වන ස්වේච්ඡා බළඇණියට අනුයුක්ත විය. පසු ව අයන්තා අබේසිංහ සමඟ විවාහ විය.

එදා කොකාවිල් යුද හමුදා අනුබණ්ඩය මාන්කුලම කඳවුර අසල පිහිටි ශ්‍රී ලංකා රූපවාහිනී සම්ප්‍රේෂණා-ගාරයෙහි ආරක්ෂාව සඳහා යොදවා තිබිණි. දෙවන ඊළාම් යුද්ධයේ ආරම්භයත් සමඟ ම මාන්කුලම් සහ කොකාවිල් කඳවුරුවලට කොටි ප්‍රහාරක අවදානම වැඩිවෙමින් පැවතුණි. දෙවන ලුතිනන් අලදෙනිය, කොකාවිල් කඳවුර භාර නිලධාරියා ලෙස 43 කින් සමන්විත භට පිරිසක් සමඟ කොටි ප්‍රහාරයකට මුහුණ දුන්නේ ය.

මේ අතර වව්නියාවට උතුරින් පිහිටි මාන්කුලම්, කිලිනොච්චි, අලිමංකඩ පලාලි හා කන්කසන්තුරෙයි යන ප්‍රදේශවල ස්ථානගත

කර තිබූ අනෙකුත් කඳවුරු වෙත ද ත්‍රස්ත ප්‍රහාර එල්ලවන්නට විය. එයිනුත් වැඩි බලපෑමක් එල්ලවූයේ හුදකලා කඳවුරු ඉලක්ක කරගෙන ය. ත්‍රස්තයෝ උපක්‍රමශීලී ව ගොඩබිම් සැපයුම් මාර්ග සියල්ල ම බිම් බෝම්බ මගින් හා ගස් සිට පහරදීම මගින් අවහිර කළෝ ය.

ඔවුහු ගුවන් යානාවලට කඳවුරු තුළට ගොඩබැසීමට ඉඩනොදීමට ගුවන් යානා නාශක අවි ප්‍රහාර එල්ල කළෝ ය.

කොටි තම පිරිස් බලය පස් ගුණයකින් පමණ වැඩි කර දැඩි ප්‍රහාර එල්ල කරන ලදි. නමුත් අලදෙනිය සහ ඔහුගේ භට පිරිස අභීත ව දින 14 ක් මුළුල්ලේ කොටින්ට ප්‍රහාර එල්ල කරමින් කඳවුර ආරක්ෂා කිරීමට දැවැන්ත උත්සාහයක් ගත්හ. සටනින් වෙඩි වැදුණු තුවාලකරුවන් සංඛ්‍යාව ක්‍රමයෙන් ඉහළ ගියෙන්, කඳවුරෙහි ආයුධ සහ වෙඩි බලය අඩුවීමට පටන්ගත්තේ ය. ආහාර සහ ජලය අවම විය. කොකාවිල් කඳවුරට තිබූ සැපයුම් මාර්ග අවහිර වී තිබුණි.

ජූනි 10 දා වන විට තුවාල නොවූ සොල්දාදුවන් ගණන 15 ට බැස තිබුණි. වෙඩි බලය ද 300 දක්වා අඩු වී තිබුණි. කොටින්ගේ ප්‍රහාරවල බලවත්කම හේතුවෙන් ගුවන් සැපයුම් ද අත්හිටුවා තිබීම තවත් අවාසනාවක් ම විය.

1990 ජූලි 11 වන දින කඳවුරේ සිටිය භට පිරිසට උග්‍ර ආහාර හිඟයකට මුහුණ පෑමට සිදු විය. මේ අසීරුතාව තේරුම්ගත් 4 වන බළසේනා මූලස්ථානය උපදෙස් දුන්නේ සටන ඉදිරියට ගෙනයෑම අපහසු නිසා කඳවුර අතහැර උපක්‍රමශීලී ව පසුබසින ලෙසට ය. තමා සමඟ සටන් කල සහෝදර සෙබල පිරිස තුවාල වී සිටිය දී තමා ප්‍රධානියා ලෙස කඳවුර අතහැරයෑම ප්‍රතික්ෂේප කළේ ය. සතුරු ප්‍රහාරය රාත්‍රියේ දී තවත් තීව්‍ර විය. ලුතිනන් අලදෙනියට වුවමනා වී තිබුණේ සතුරන්ගෙන් වෙඩිකා මියයනවාට වඩා ශ්‍රී ලංකා ගුවන් හමුදාව ලවා කඳවුර තුළට බෝම්බ හෙළීමට අනකර සතුරා සමඟ ම කඳවුරත් සියලු ම

පිරිසත් මියයෑමට ය. නමුත් මෙවැනි ඉල්ලීම් නීතියට පටහැනි වූ බැවින් ගුවන් හමුදාව කොකාවිල් කඳවුරට බෝම්බ හෙළීම ප්‍රතික්ෂේප කළේ ය.

පසු ව කොට් විසින් කඳවුරෙහි තිබුණ ඉන්ධන ගබඩාව පුපුරුවා හැරිණි. මේ ගින්නෙන් අලදෙනිය ඇතුළු ව මුළු කඳවුර ම දැවී අළු වී ගියේ හදවත් සසල කරවමිනි.

අලදෙනිය නම් වූ ශ්‍රී ලාංකේය රණවිරුවා මෙලෙස තම දේශයට - සිය ජීවිතය පරිත්‍යාග කළේ ය.

මේ රණවිරුවාගේ වික්‍රමාන්විතයට උපහාරයක් ලෙස ඔහුගේ නිලය කපිතාන්වරයෙකු ලෙසට උසස් කෙරිණි. තව ද ඔහුට ශ්‍රී ලංකා සන්නද්ධ හමුදා සාමාජිකයකු විසින් ලබාගත හැකි ඉහළ ම සම්මානය වන, පරම වීර විභූෂණය පදක්කම ප්‍රථම වරට ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ ජනාධිපතිතුමා විසින් ප්‍රදානය කෙරිණි.

## 3.2 කෝප්‍රල් වයි. ජී. ගාමිණී කුලරත්න (හසලක ගාමිණී) **S/34553**



| | | |
|---|---|---|
| හමුදා ඒකකය | : | 6 වන බළඇණිය, ශ්‍රී ලංකා සිංහ රෙජිමේන්තුව |
| මිය ගිය ස්ථානය | : | අලිමංකඩ |
| උපන් දිනය | : | 1966 නොවැම්බර් 22 |
| මිය ගිය දිනය | : | 1991 ජූලි 13 |
| වයස | : | 25 |
| පදක්කම ලැබුණ දිනය | : | 1991 ඔක්තෝබර් 10 |
| විවාහක/අවිවාහක භාවය | : | අවිවාහක |
| මව | : | වයි. ජී. ජුලියට් |
| පියා | : | වයි. ජී. බබානිස් |
| ලිපිනය | : | වීර සෙබළ නිවාස, 1 ඇළ, හසලක. |
| ලබාගෙන ඇති පදක්කම් | : | පරම වීර විභූෂණය |

ගාමිණී කුලරත්න රණවිරුවා **හසලක ගාමිණී** නමින් ජනාදරයට පත් ව ඇත. ඔහු පරම වීර විභූෂණය ලබාගත් දෙවන පදක්කම් ලාභියා වේ.

ගාමිණී මූලික අධ්‍යාපනය, හසලක රණසිංහ ප්‍රේමදාස මහා විද්‍යාලයෙන් ලබාගත්තේ ය. ඔහු සහෝදරයන් හතරක් සහ එක් සොහොයුරියක් සිටින පවුලේ දෙවන දරුවා විය. ගාමිණීගේ හමුදා ජීවිතය ආරම්භ වූයේ 1987 අගෝස්තු 22 වැනි දා ය. මූලික යුද හමුදා පුහුණුවෙන් පසු ඔහු ශ්‍රී ලංකා සිංහ රෙජිමේන්තුවේ 6 වෙනි බළඇණියට අනුයුක්ත කෙරිණි.

දෙවන ඊළාම් යුද්ධයේ ආරම්භයත් සමඟ ම කොටි ත්‍රස්තවාදීහු තම පිරිස් බලය වැඩි කරමින් හමුදා කඳවුරුවලට දැඩි ප්‍රහාර එල්ල කිරීමට පටන්ගත්හ.

අලිමංකඩ පිහිටියේ යාපන අර්ධද්වීපයට ඇතුළුවීමේ ගොඩබිම් මාර්ගයේ දොරටුව ලෙසයි. අලිමංකඩ කඳවුර කොටින්ගේ යාපනය අර්ධද්වීපයේ මෙහෙයුම්වලට බාධකයක් වී තිබුණි. මෙහි ස්ථාපිත ව ඇති යුද හමුදා කඳවුර මේ වික්‍රමාන්විතය වන අවස්ථාවේ දී 800ක පමණ භට පිරිසකින් සමන්විත විය. කොටි තම පිරිස් බලය ජූලි 10 වන දා වන විට 5000 කට ආසන්න ප්‍රමාණයකට වැඩි කර තිබුණි.

කොටි තම ගුවන් යානා නාශක අවි යොදාගනිමින් කඳවුර වෙත ගුවනින් ලැබෙන සැපයුම් මාර්ග අවහිර කරමින් සිටියහ. ඊළඟ දින තුන තුළ දී ම අලිමංකඩ කඳවුර කොටින්ගේ ප්‍රහාරවලට දැඩි ප්‍රතිප්‍රහාර එල්ල කිරීමට සමත් විය.

මේ අතර කොටි තම වැඩි පිරිස් බලය යොදාගනිමින් නොනවතින මිනිස් රැල්ලක් ලෙස මරාගෙන මැරෙන භට පිරිස් ඉදිරියට එවීමට සැලැස්වීම හමුදාවට ලොකු අභියෝගයක් එල්ල කරමින් තිබිණ.

13 වන දා වන විට කොටි ප්‍රබල ප්‍රහාර එල්ල කරමින් තානායම් කඳවුර අත්පත් කරගත්තේ ය. මෙය දකුණු පසින් ඇතුළු වීම අවහිර කරන මර්මස්ථානයක් විය. මේ පහර දීම නිසා දෙවන ආරක්ෂක වළල්ලේ ලුණුලේවාය අසල ස්ථානගත ව සිටි භට පිරිස් යුද හමුදා බලයෙන් හුදෙකලා වූහ.

තව ද කොටි තම ප්‍රහාරක උපක්‍රම වෙනස් කිරීමත්, තත්ත්වය තවත් බැරෑරුම් කළේ ය. ඔවුහු වෙඩි නොවදින තහඩුවලින් ආවරණය කෙරුණු බුල්ඩෝසරයකට පුපුරණ ද්‍රව්‍ය පුරවා මරාගෙන මැරෙන පිරිසක් යොදවා එය ලුණුලේවාය දිශාවෙන් කඳවුරු දෙසට යවන්නට තැත් කළහ. මේ ආවරණය කෙරුණු බුල්ඩෝසරයේ සිටි ත්‍රස්තවාදීහු හමුදාවට ප්‍රහාර එල්ල කරමින් කොටි භට පිරිසට ඉදිරියට ඒමට මාර්ග පාදමින් එය හමුදා කඳවුර දෙසට පදවන්නට වූහ.

මේ වෙඩි නොවදින බුල්ඩෝසරය යුද හමුදා බංකර විනාශ කරමින් එහි ආරක්ෂක වළල්ලට ද ඇතුළු විය. දැන් මේ වානේ දැවැන්තයා භට හමුදා භටයන්ගෙන් තර්ජනයක් නැත. දරුණු ප්‍රහාර හමුවේ යුද හමුදා භටයෝ අසරණ වූහ.

මේ සීමාවේ ඇති බංකරයක ආරක්ෂාව සඳහා ගාමිණී කුලරත්න සහ තවත් හමුදා තුවක්කුකරුවෙක් සේවයේ යෙදී සිටියහ. ගාමිණීට බුල්ඩෝසරය කරන විනාශයේ භයානක කම වැටහෙමින් තිබුණි. තමන් ව සතුරු වෙඩිවලින් බේරාගැනීම සඳහා ඔවුන් දෙසට වෙඩි තැබීමට ඔහු තම සහායකයාට නියෝග කර ග්‍රනේඩ් දෙකක් තම අත්දෙකට ගෙන සතුරු වෙඩි වර්ෂා මැදින් බුල්ඩෝසරය වෙත දිව ගියේ ය.

ගාමිණී දිවයෑමේ දී ඔහුට වෙඩි වැදුණ නමුත් එය නොතකා ඉදිරියට ම ගොස් බුල්ඩෝසරයට නැග ඔහුගේ අත්දෙකේ තිබුණ බෝම්බ වාහනය තුළට මුදාහැරියේ ය. බුල්ඩෝසරයේ ඇති පුපුරණ ද්‍රව්‍ය ගිනිගෙන එහි සිටි ත්‍රස්තවාදීන් හතර දෙනා සමඟ ගාමිණී ද ජීවිතක්ෂයට පත් විය. බුල්ඩෝසරය ද මියැදී නැවතිණ. තම සහෝදර සොල්දාදුවන්ගේ ආරක්ෂාව වෙනුවෙන් දිවි පිදූ මේ රණවිරුවාගේ සිරුර පසුදින සොයා ගැනිණි.

සටන ඉතාමත් තීව්‍ර ලෙස දින 18 ක් පුරා පැවතුණේ ය. පසු ව ලැබුණ හමුදා ප්‍රතිපාදන මඟින් කොටි පිරිස්වලට ප්‍රතිප්‍රහාර එල්ලකොට අලිමංකඩ කඳවුර ආරක්ෂා කරගැනිණි. මේ ගැටුම ශ්‍රී ලංකා යුද ගැටුම්වල සිදු වූ භයානකම අවස්ථාවක් ලෙස වාර්තා වී ඇත. මේ ජයග්‍රහණයේ මූලිකත්වය **ගාමිණී කුලරත්නට** හිමි විය යුතු බවට තවත් තර්ක අවශ්‍ය නැත.

ගාමිණීගේ වික්‍රමාන්විත ක්‍රියාව ඇගයීම පිණිස ඔහුගේ නිලය කෝප්‍රල් තනතුරට උසස් කෙරිණි. ගාමිණී කුලරත්න පරම වීර විභූෂණයෙන් පිදුම් ලත් දෙවන රණවිරුවා විය.

ඔහුගේ වික්‍රමාන්විත ක්‍රියාව අනුස්මරණය කිරීමට අලිමංකඩ A 9 මාර්ගයේ ස්මාරකයක් ඉදිකර තිබේ. ඒ අසල ඔහු විනාශ කළ බුල්ඩෝසරයේ කොටස් ද තබා ඇත. ඔහු නමින්, සංගීතවේදී ධනපාල උඩවත්ත ගීතයක් ද ගැයුවේ ය. ඔහුගේ වික්‍රමාන්විත ක්‍රියාව Readers' Digest සඟරාවේ ලිපියකින් ද ප්‍රසිද්ධියට පත් කර තිබිණ.

අම්මලා දූයට දයාද කරනවා නම්, සැබවින් ම දයාද කළ යුත්තේ මෙවන් අමිල පුතුන් ම නොවේ දැයි සිතා බලමු.

## 3.3 ලුතිනන් කේ. ඩබ්ලිව්. ටී. නිශ්ශංක **O/61672**



| | | |
|---|---|---|
| හමුදා ඒකකය | : | 3 වන බළඇණිය, ගජබා රෙජිමේන්තුව |
| මිය ගිය ස්ථානය | : | පූනරීන් |
| උපන් දිනය | : | 1971 ඔක්තෝබර් 21 |
| මිය ගිය දිනය | : | 1993 නොවැම්බර් 11 |
| වයස | : | 22 |
| පදක්කම ලැබුණු දිනය | : | 1996 පෙබරවාරි 4 |
| විවාහක/අවිවාහක භාවය | : | අවිවාහක |
| මව | : | කේ. පී. දයාවතී |
| පියා | : | කේ. ඩබ්ලිව්. කරුණාරත්න |
| ලිපිනය | : | 61/8, ලුතිතන් නිශ්ශංක මාවත, පහළ ඉඹුල්ගොඩ, ගම්පහ. |
| ලබාගෙන ඇති පදක්කම | : | පරම වීර විභූෂණය |

නිශ්ශංක කොළඹ ඩී.එස්. සේනානායක විද්‍යාලයෙන් අධ්‍යාපනය හැදෑරී ය. ඔහු විද්‍යාලීය රග්බි කණ්ඩායම සහ පාපන්දු කණ්ඩායම වසර කිහිපයක් නියෝජනය කළේ ය. 1983 පාසැල් ශිෂ්‍යභට කණ්ඩායමට අනුයුක්ත ව 1989 හා 1990 වසරවල තම නායකත්වය ප්‍රදර්ශනය කරමින් සැරයන් තනතුරට උසස් කෙරිණි. 1990 ශ්‍රී ලංකා යුද්ධ හමුදාවේ නිත්‍ය බලසේනාවට කෙඩෙට් නිලධාරියකු ලෙසට අනුයුක්ත වී පාකිස්ථාන ආරක්ෂක විද්‍යා පීඨයේ යුද පුහුණු පාඨමාලාව හැදෑරී ය. එහි දී දක්ෂතම වෙඩික්කරු ලෙසට වාර්තා විය.

දෙවන ලුතිනන් **නිශ්ශංක** ගජබා රෙජිමේන්තුවේ 3 වන බළඇණියට අනුයුක්ත හමුදා ඛණ්ඩයක් භාර නිලධාරියා ලෙස පුනරීන්වල පිහිටි නගතෙවන්තුරෙයි නාවික කඳවුරෙහි ආරක්ෂක ක්‍රියාන්විතයේ යෙදී සිටියේ ය. මේ නාවික කඳවුර ආරක්ෂක ක්‍රමෝපායවලට ඉතාමත් යෝග්‍ය ස්ථානයක පිහිටා තිබුණි. එහෙයින්, එය යාපනය කළපුවේ බස්නාහිර ප්‍රදේශයේ ආරක්ෂාව ස්ථාපිත කිරීමට මහෝපකාරී විය. මේ ස්ථානයේ සිට නාවික හමුදාව සතු ආයුධ සන්නද්ධ බෝට්ටු මඟින් කරන ප්‍රහාර නිසා ම කළපුවේ ගමන් කළ කොටි බෝට්ටුවලට මුහුණ පෑමට සිදු වූයේ විශාල තර්ජනයකටයි.

1993 නොවැම්බර් 11 වන දින අලුයම නගතෙවන්තුරෙයි නාවික කඳවුරට සහ පුනරීන් අසල ඇති යුද හමුදා ස්ථානවලට කොටි විශාල සංඛ්‍යාවක් බෝට්ටුවලින් සහ ගොඩබිමින් පැමිණ දරුණු ප්‍රහාර එල්ල කරන්නට වූහ. සන්නද්ධ වූ කොටි රහසින් කඳවුරු හා ආරක්ෂක වළලු තුළට ඉතා සූක්ෂ්ම ව ඇතුළු වී සිටියහ. කොටි, බලෙන් ම හමුදා බංකර සහ සමහර මර්මස්ථාන අත්පත් කර ගැනීමට සමත් වූහ. මෙය යුද හමුදාවට සංවිධානාත්මක ප්‍රහාරයකට අවස්ථාවක් නොතැබූ ගරිල්ලා ප්‍රහාරයකි. යුද හමුදා සොල්දාදුවන්ට සිදු වූයේ කුඩා කණ්ඩායම්වලට එකතු වී සතුරාට ප්‍රහාර එල්ල කිරීමට ය. ප්‍රධාන කඳවුර ද දරුණු ත්‍රස්ත ප්‍රහාරයකට ලක්වෙමින් තිබුණ නිසා ඔවුහු ද ආයුධ සහ පිරිස් බලයෙන් අන් අයට උපකාර කළ නොහැකි මට්ටමක සිටියහ.

නිශ්ශංකගේ සේනාංකය බළඇණියේ සීමාවලට පිටතින් සහ පුනරීන් කඳවුරට දුරින් ස්ථානගත වී තිබුණි. ඔවුන් හට දහවල් 01.30 ට පමණ ප්‍රහාර එල්ලවීමට පටන්ගත්තේ ය. ඔවුහු කොටින්ට ප්‍රතිප්‍රහාර එල්ල කර කොටි පලවා හැරීමට සමත් වූහ. නමුත් පසු ව කොටි නැවතත් සංවිධානය වී ඉදිරියෙන් සහ පිටුපසින් නිශ්ශංකගේ සේනාංකයට ප්‍රහාර එල්ල කිරීමට පටන්ගත්හ.

සටන ඉතා තීව්‍ර විය. නිශ්ශංක තම ආරක්ෂාව නොසලකා බංකරයෙන් බංකරයට දිවයමින් තම සොල්දාදුවන් දිරිමත් කරන්නට විය. නිශ්ශංකට ද වෙඩි වැදී තුවාල විය. වේලාව සවස 05.00 පමණ වන විට නිශ්ශංකගේ සේනාංකයේ බොහොමයක් දරුණු ලෙස තුවාල වී සිටි අතර, සමහරු මිය ගොස් සිටියහ. තුවාල නොලබා සිටි සුළු පිරිසට, තුවාල වූ තම සගයන් ඉවතට ගෙන යෑමට කොටි ඉඩක් නොතැබූයේ, උපරිම පිරිස් බලය යොදා කොටි ප්‍රහාර එල්ල කරන්නට වීම නිසා ය. නිශ්ශංක තම තුවාලවල වේදනාව නොසලකා ප්‍රහාරය මෙහෙයවන්නට විය.

කොටි නැවත ප්‍රහාරයකට ඉදිරියට එමින් සිටියහ. මේ ප්‍රහාරය සිදු වුවහොත් තම සේනාංකයේ සියල්ලන් ම විනාශ වනු නියත බව ඔහුට අවබෝධ විය. ඔහු කොටින්ගේ ඉදිරියට ඒම වැළැක්වීමට තනි ව ම ඉදිරිපත් විය. ඔහු තම දෑතට ග්‍රනේඩ් දෙකක් ගෙන එහි 'පින්' ගලවා දමා සතුරන් වෙත දිව ගියේ ය. ඔහුට කිහිප වාරයක් ම වෙඩි වැදිණ. නමුත් එය නොතකා සතුරු කණ්ඩායම් මැදට ඇතුළු වීමට ඔහුට හැකි විය. සතුරන් සමඟ ඔහු ද මිය ගියේ සිය ජාතික වගකීම මවුබිමට ප්‍රදනය කිරීමට තරම් නිහතමානී පුත්‍රයෙකු බවට පත් වෙමිනි.

නිශ්ශංකගේ මේ ජීවිත පරිත්‍යාගය නිසා ඔහුගේ සහෝදර හට පිරිසකට ආරක්ෂිත ප්‍රදේශයකට යෑමට ඉඩ සැලසුණි. නමුත් පුනරීන් සහ නගතෙවන්තුරෙයි කඳවුරුවල ගජබා සහ නාවික සෙබළු විශාල සංඛ්‍යාවක් මේ කොටි ප්‍රහාරය නිසා විනාශයට ලක් වූහ.

තම සහෝදර සෙබළුන්ගේ ආරක්ෂාව සඳහා තම ජීවිතය කැප කළ නිශ්ශංකගේ ඉදිරිපත් වීම ඇගයීමට, ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලද්දේ ය.

## 3.4 බලලත් නිලධාරී එච්. පී. බී. ගුණසේකර **S/77304**



| | | |
|---|---|---|
| ඒකකය | : | 10 වන බළඇණිය, ගජබා රෙජිමේන්තුව |
| මිය ගිය ස්ථානය | : | චිරතිව් |
| උපන් දිනය | : | 1964 සැප්තැම්බර් 04 |
| මිය ගිය දිනය | : | 1995 නොවැම්බර් 30 |
| වයස | : | 31 |
| පදක්කම ලැබුණ දිනය | : | 1998 ඔක්තෝබර් 10 |
| විවාහක/අවිවාහක භාවය | : | අවිවාහක |
| මව | : | පද්මා මාලිනි |
| පියා | : | එච්. ජිනදාස ගුණසේකර |
| ලිපිනය | : | 44, අමර විලා, ජබුරලිය, මඩපාත, පිළියන්දල. |
| ලබාගෙන ඇති පදක්කම් | : | පරම වීර විභූෂණය දේශ පුත්‍ර<br>වීර වික්‍රම විභූෂණය<br>රණ වික්‍රම පදක්කම<br>රණ ශූර පදක්කම<br>උතුර නැගෙනහිර සංග්‍රාමික පදක්කම |

**පසන් ගුණසේකර** 1964 වර්ෂයේ මිල්ලෑව ග්‍රාමයේ උපත ලැබී ය. ඔහු පවුලේ බාලයා විය. ඔහුගේ පියා මිය යෑමෙන් පසු ඔහු ආයුර්වේද ඖෂධ නිෂ්පාදනාගාරයක රැකියාවක් කළේ ය. එහි දී ඔහුට හමු වූ විශ්‍රාමික හමුදා නිලධාරියෙක්, යුද හමුදාවට බැඳීමට ඔහු ව දිරිමත් කළේ ය.

1985 දී ඔහු යුද හමුදාවට බැඳී උතුරේ ක්‍රියාන්විතවල යෙදුණේ ය. ගුණසේකර සහභාගි වූ හමුදා ක්‍රියාන්විත ලෙස වඩමාරච්චි, හයේ පහර, බලවේගය 1 සහ 2, වන්නි වික්‍රමය 1, 2 සහ 3 සඳහන් කළ හැකි ය. මේ ක්‍රියාන්විතයක දී ගුණසේකරගේ උදරය දරුණු වෙඩි ප්‍රහාරයකට ලක් විය. අණදෙන නිලධාරියා ඔහු ව කොළඹට මාරු කිරීමට නිර්දේශ කළත් ගුණසේකර යාපනයේ මෙහෙයුම් සඳහා ඉදිරිපත් වීමට මනාප ව සිටියේ ය.

1995 දී ගුණසේකර විදේශ පුහුණුවක් සඳහා නිර්දේශ වූයෙන්, එයට සූදානම් වන අවස්ථාවක දී ඔහු ව නැවතත් රිවිරැස මෙහෙයුම සඳහා යාපනයට කැඳවිණි.

රිවිරැස මෙහෙයුම සාර්ථක ව ක්‍රියාත්මක වෙමින් 1995 නොවැම්බර් 29 දින වන විට යාපනය යුද හමුදා පාලනයට සම්පූර්ණයෙන් නතු කරගැනීමට ආසන්න වෙමින් තිබිණ. නමුත් සතුරා මුහුදු කොටින්ගේ ආධාර ලබාගනිමින් දරුණු ප්‍රතිප්‍රහාර එල්ල කරන්න විය. මුහුදු කොටි ඔවුන්ගේ යාත්‍රා යොදාගනිමින් ඔවුන්ගේ තුවාලකරුවන් ප්‍රවාහනය සහ අනෙකුත් සැපයුම් නොකඩවා රාත්‍රි කාලයේ දී කරන්නට වූහ. මේ යාත්‍රාවලට ආරක්ෂාව LTTE හමුදාව චිරතිව් දූපතේ සිට සැපයී ය. යාපනයේ සහ මන්ඩතිව් දූපතේ ද ගජබා රෙජිමේන්තුවේ භට පිරිස් රඳවා තිබුණි. මේ උපාය මාර්ගික පිහිටීම නිසා චිරතිව් අත්පත් කරගැනීම මඟින් මුහුදු කොටි යාත්‍රාවල ගමන් නැවැත්වීම අප හමුදාවෝ අරමුණු කළහ.

මේ චිරතිව් දූපත අත්පත් කරගැනීමේ ක්‍රියාන්විතයට ගුණසේකර ස්වේච්ඡාවෙන් ඉදිරිපත් විය. ඔහු 16 දෙනෙකුගේ

කණ්ඩායමක් සමඟ පාන්දර 2.00 ට පමණ දූපතට විත් කොටින් පලවා හැරියේ ය. පැය කිහිපයක් තුළ දී ඉතා සාර්ථක ලෙස ගුණසේකර මුහුදු කොටි යාත්‍රා විනාශ කිරීම සඳහා චිරතිව්වල කඳවුරක් ස්ථාපිත කළේ ය. ඔවුහු ස්වයංක්‍රීය අවි, RPG යොදාග නිමින් පැය 48ක් තුළ දී සාර්ථක ලෙස මුහුදු කොටින්ගේ ගමනාගමනය මර්දනය කළහ. මේ ක්‍රියාවලිය මඟින් එල්ටීටීඊ ය වෙතට මුහුදෙන් ලැබෙන සැපයුම් නවතා දැමීමට යුද හමුදාවට හැකි විය.

මේ ක්‍රියාන්විතය නොවැම්බර් 30 වන දා රාත්‍රි 9.00 දක්වා දිග ඇදී ගොස් අවසන් වන විට, පසන් ගුණසේකර දරුණු තුවාල ලබා මේ ක්‍රියාන්විතයේ දී ම මිය ගොස් තිබිණ. දෙසැම්බර් 1 වන දින යාපනයේ පාලනය යුද හමුදාව නතු කරගත්තේ ය.

ජීවිත පරිත්‍යාගයෙන් කළ වික්‍රමාන්විතයට උපහාර වශයෙන් පසන් ගුණසේකර ව මාණ්ඩලික සැරයන් 2 නිලයට උසස් කෙරිණි. මේ අනුව ඔහු ද පරම වීර විභූෂණයෙන් පිදුම් ලද වීර විකුම් පෙළහර පෑ ශ්‍රී ලාංකේය පුත් රුවනකි.

## 3.5 ලාන්ස් කෝප්‍රල් ඩබ්ලිව්. අයි. එම්. සෙනෙවිරත්න **S/15296**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 7 වන බළඇණිය,<br>ශ්‍රී ලංකා පාබල හමුදාව |
| මිය ගිය ස්ථානය | : යාපනය |
| උපන් දිනය | : 1969 මැයි 03 |
| මිය ගිය දිනය | : 1996 ජූලි 04 |
| වයස | : 27 |
| පදක්කම ලැබුණ දිනය | : 1998 ඔක්තෝබර් 10 |
| විවාහක/අවිවාහක භාවය | : අවිවාහක |
| මව | : ආර්. ඇම්. පුංචිහාමි |
| පියා | : අයි. ඩබ්ලිව්. එච්.ගුණවර්ධන |
| ලිපිනය | : කපුගම, කොබෙයිගනේ |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය<br>උතුර නැගෙනහිර සංග්‍රාමික පදක්කම<br>පූර්ණ භූමි පදක්කම |

ලාන්ස් කෝප්‍රල් **ඩබ්. අයි. ඇම්. සෙනෙවිරත්න** ශ්‍රී ලංකා යුද හමුදාවට 1987 දී අනුයුක්ත වී ඇත. 1996 ජූලි 4 වන දින ඇමැති නිමල් සිරිපාල ද සිල්වා උතුරේ කළ සංචාරයක දී LTTE මරාගෙන මැරෙන බෝම්බ කරුවෙකුගෙන් ඔහු ආරක්ෂා කිරීමට ඉදිරිපත් වීම නිසා මොහු ජීවිතක්ෂයට පත් විය. ඔහු තම ජීවිතය පරදුකොට කළ වීර වික්‍රමාන්විතයට උපහාර වශයෙන් පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබුවේ ය.

කුරුණෑගල, කොබෙයිගනේ ගොවි පවුලක උපත ලත් මොහු කුඩා කාලයේ සිට ම රණවිරුවෙකු වීමේ සිහිනය දුටුවේ ය. මූලික අධ්‍යාපනය කොබෙයිගනේ පරාක්‍රම විද්‍යාලයෙන් හැදෑරූ ඔහු, 1987 දී ශ්‍රී ලංකා පාබල හමුදාවේ 7 වෙනි බළඇණියට අනුයුක්ත ව සිටියේ ය.

මාදුරුඔය යුද අභ්‍යාස විද්‍යාලයෙන් මූලික පුහුණුව ලැබූ පසු ඔහුට ත්‍රිකුණාමලය, අම්පාර සහ යාපනය යන ප්‍රදේශවල හමුදා ක්‍රියාන්විතවල යෙදීමට අවකාශය ලැබුණි. අලිමංකඩ සහ පලාලි සටන්වල දී ඔහුට තෙවරක් ම දරුණු තුවාල සිදු විය.

සෙනෙවිරත්න යුද හමුදාව තුළ දී ම සාර්ථක ලෙස යතුරු පැදි පාඨමාලාව හදාරා ක්ෂණික විහිදුම් යතුරුපැදි අංශයේ (QRT) සේවයට අනුයුක්ත වී සිටියේ ය. QRT භට පිරිස්, යතුරු පැදි සහ ලෑන්ඩ් රෝවර් ජීප් රථ යොදාගනිමින් යුද හමුදා ආරක්ෂක ක්‍රියාන්විතවලට යොදවන ලද පිරිසක් වූහ.
යාපනයේ පාලනය LTTE ය විසින් 1980 අග සිට සියතට ගෙන තිබුණි. යාපනය නගරය, උතුරු ප්‍රදේශයේ පිහිටි LTTE විශාලතම බල ප්‍රදේශය විය. 1995 දී ශ්‍රී ලංකා යුද හමුදාව යාපන අර්ධද්වීපයේ බලය නැවත තහවුරු කරගත්තේ ය.

එවකට සිටි නිවාස ඇමැති නිමල් සිරිපාල ද සිල්වාගේ යාපනය සංචාරයේ ආරක්ෂාව සැපයීම සඳහා අනුයුක්ත කර තිබුණේ සෙනෙවිරත්න රණවිරුවායි. එදා ඇමැතිතුමාගේ

සංචාරය යෙදී තිබුණේ යාපනය නගරයේ ස්ටැන්ලි මාවතේ පිහිටි ගොඩනැඟිලි ද්‍රව්‍ය සංස්ථාවේ ශාඛාව විවෘත කිරීම සඳහායි.

උත්සවය අවසාන වීමෙන් පසු දවල් 12.45 ට පමණ ඇමැතිතුමා පිරිවර මධ්‍යයේ තම රථයට ඇතුළු වන විට ම එක් බඩ දරු කාන්තාවක් දෑතින් බෑග් දෙකක් ඔසවාගෙන ඇමැතිතුමා ඇතුළු පිරිස ආසන්නයට එමින් සිටීම සෙනෙවිරත්නගේ අවධානයට ලක් විය. ඔහු ඇමැතිතුමාට මීටර 20 ක් පමණ පිටුපසින් තම යතුරුපැදිය සමඟ සිටියේ ය. මේ කාන්තාවගේ ඉරියව් නිරීක්ෂණය කිරීමෙන් ඇය මරාගෙන මැරෙන කොටි කතක් බව ඔහුට පැහැදිලි විය.

සෙනෙවිරත්න නිමේෂයකින් තම යතුරුපැදිය පණගන්වා වේගයෙන් ඉදිරියට ගොස් ඇයගේ ගමන් මඟ හරස් කළේ ය. මරාගෙන මැරෙන බෝම්බ දරා සිටි කොටි කත එය පුපුරවාගත්තා ය. මේ පිපිරීම නිසා සෙනෙවිරත්න ඇතුළු 20 දෙනෙකු ජීවිතක්ෂයට පත් වූහ. මේ පිරිස අතර යාපනයේ 512 වන සේනාංකයේ ආඥාපති බ්‍රිගේඩියර් ආනන්ද හමන්ගොඩ ද ඇතුළත් විය.

තම ජීවිතය පරදුවට තබා අන් අයගේ ආරක්ෂාව වෙනුවෙන් සෙනෙවිරත්න කළ පරිත්‍යාගය සඳහා ඔහු 1998 ඔක්තෝබර් 10 වන දා පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබූ රණ විරුවකු බවට පත් විය.

## 3.6 කර්නල් ඒ. එෆ්. ලෆීර්
**O/50981**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 1 වන රෙජිමේන්තුව, විශේෂ බලකාය |
| මිය ගිය ස්ථානය | : මුලතිව් |
| උපන් දිනය | : 1958 දෙසැම්බර් 26 |
| මිය ගිය දිනය | : 1996 ජූලි 19 |
| වයස | : 38 |
| පදක්කම ලැබුණු දිනය | : 2001 අප්‍රේල් 24 |
| විවාහක/අවිවාහක භාවය | : විවාහක |
| මව | : එස්. ඇල්. එන්. හනූන් ලෆීර් |
| පියා | : වෛද්‍ය ලෆීර් |
| බිරිඳ | : අනෝමා |
| ලිපිනය | : A 04/03/02 මැනිං ටවුන් නිවාස යෝජනා ක්‍රමය, කොළඹ 8. |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය<br>රණ වික්‍රම පදක්කම<br>රණ ශූර පදක්කම |

**කර්නල් ලාෆීර්** විශේෂ බලකායේ 1 වෙනි බළඇණියේ අණදෙන නිලධාරියා ලෙස තම රාජකාරිය ඉටු කළේ ය. ඔහු විශේෂ සේවා බලකාය ස්ථාපිත කිරීම සඳහා එහි මුල් ම කණ්ඩායම පුහුණු කිරීමට කැප වුණු නිලධාරියෙක් විය. සාම්ප්‍රදායික යුද හමුදා විධික්‍රමවලින් බැහැර ව කුඩා කණ්ඩායම් මඟින් රහසිගත ව අනාරක්ෂිත ප්‍රදේශවලට ඇතුළු වී සතුරාට පහර දීම වැනි මෙහෙයුම් සඳහා සිය පිරිස පුරුදු පුහුණු කළ දක්ෂ ශූර වීරයෙකි.

ඔහු තම මූලික අධ්‍යාපනය කටුගස්තොට ශාන්ත අන්තෝනි විදුහලෙන් ලබාගන්නා කාලයේ දී කැපීපෙනෙන ශිෂ්‍යයක් වූ අතර බාලදක්ෂ ක්‍රියාකරුවෙක් ද, තුන් ඉරියව්වෙන් දක්ෂතා ඇති ක්‍රිකට් ක්‍රීඩකයක් ද විය. දෙමාපියන්ගේ අපේක්ෂාව වූයේ ඔහුව ඉංජිනේරු ක්ෂේත්‍රයේ උසස් අධ්‍යාපනය ලබා දීමට වුව ද ඔහුගේ අභිප්‍රාය වූයේ යුද හමුදවට අනුයුක්ත වීමට ය. කැඩෙට් නිලධාරියෙකු ලෙස ශ්‍රී ලංකා යුද හමුදාවට බැඳුණේ ය. පසු ව ඔහු රජරට රයිෆල් පාබළ බලකායට අනුයුක්ත කෙරිණි. පසු ව ඔහු විජයබාහු සහ ගජබා රෙජිමේන්තුවල විශාල කණ්ඩායම් මෙහෙයවීම සඳහා පත් කෙරුණේ, ඔහුගේ දක්ෂකම් රටට ලබාගැනීමේ මහඟු අභිප්‍රායෙන් ම බවට සැකයක් නැත.

ලෆීර් වැඩි වශයෙන් සේවය කළේ උතුරු නැගෙනහිර ප්‍රදේශවලයි. ඔහුගේ දෙමළ භාෂා දැනුම හමුදා බුද්ධිමය ක්‍රියාවලට ඉමහත් පිටුවහලක් විය. 1989 දී යාපනය කොටුව ත්‍රස්තවාදීන්ගෙන් මුදවාගැනීමේ ක්‍රියාවලියට ලෆීර් සක්‍රිය ව දයක විය.

ලෆීර්, විශේෂ බළකායේ මුල් සාමාජිකයෙක් විය. මේ බළකා පිරිස් සංකීර්ණ ගරිල්ලා සටන් මෙහෙයුම්, රහසිගතව සෝදිසි මෙහෙයුම් ක්‍රියාත්මක කිරීමට සහ ත්‍රස්තවාදී ක්‍රියා ඇරඹීමට පෙර මුලිනුපුටා දැමීම වැනි යුද උපායශීලී ක්‍රියාමාර්ගවල ප්‍රවීණයෝ වූහ.

1996 ජූලි 18 වන්නි ප්‍රදේශයේ ප්‍රධාන හමුදා කඳවුරක් වන මුලතිව් හට LTTE ය විසින් දැවැන්ත ප්‍රහාරයක් එල්ලකර එහි සිටි 1200 පමණ හමුදා සෙබලුන් තම ග්‍රහණයට ගැනිණි. මුලතිව් කඳවුරට ආරක්ෂක වෙඩිබලය සැපයීම කෙරුණේ කිලෝමීටර 27ක් දකුණින් පිහිටි වැලිඔය කඳවුරේ ස්ථානගතකර තිබූ කාලතුවක්කුවලිනි. නමුත් වැලිඔය කඳවුරද ත්‍රස්තවාදීන්ගේ ග්‍රහණයට නතු වීම නිසා මුලතිව් හට ආරක්ෂක වෙඩි බලය ද නොමැති විය.

මුලතිව් කඳවුර ආධාරක වෙඩි බලයක් හෝ ගුවන්විදුලි සම්බන්ධතාවක් හෝ ගොඩබිමින්, මුහුදින් සම්බන්ධතා කිසිවක් කළ නොහැකි සම්පූර්ණයෙන් ම ත්‍රස්තවාදී ග්‍රහණයට නතු වූ කඳවුරක් බවට පත් විය.

මුලතිව් කඳවුරේ සිර වී සිටි සොල්දාදුවන් 1200ක් මුදා ග ැනීම සඳහා ලුතිනන් කර්නල් ලෆීර්ගේ නායකත්වයෙන් විශේෂ බලකා සාමාජිකයන් 275ක් ‘ත්‍රිවිධ පහර’ නම් මෙහෙයුමකින් ගුවනින් සහ මුහුදින් ගොඩබැස්සවීමේ මෙහෙයුමක් ක්‍රියාත්මක විය. කොටින්ගේ වෙඩි වරුසා මැද MI 17 හෙලිකොප්ටර, කෆීර් සහ MI 24 හෙලිකොප්ටර යානා මගින් ලෆීර් ඇතුළු පිරිස යානා ගොඩ බස්සවන අතරතුර ගුවනේ සිට ම ත්‍රස්තවාදීන්ගේ බර අවි ස්ථානගත කර තිබූ ස්ථානවලට ප්‍රහාර එල්ල කර ඒවා විනාශ කරමින් සහ දරුණු ත්‍රස්ත ප්‍රහාරවලට ලක්වෙමින් ගොඩබිමට අවතීර්ණ වූහ.

ගුවන් විදුලි සම්බන්ධතාවල දුර්වලතා හේතුවෙන් අවශ්‍ය පරිදි ගුවන් ප්‍රහාර එල්ල කරගත නොහැකි විය. බිහිසුණු රැයක් ගත විය. එහෙත් ත්‍රස්ත ප්‍රහාරයේ අඩුවක් සිදු නොවී ය.

විශේෂ බලකා සාමාජිකයන්ට මුහුණ දීමේ අසීරුතාව වටහාගත් ත්‍රස්තයෝ ලෆීර් ඇතුළු පිරිස සිටින ස්ථාන තෝරාගෙන සිවු දෙසින් ප්‍රහාර එල්ල කළහ. ලෆීර්ගේ පිරිස ද යුහුසුලු ව ප්‍රති ප්‍රහාර එල්ල කරමින් සතුරා අඩපන කිරීමට උත්සාහ දැරූහ.

දහවල වනවිට ත්‍රස්ත ප්‍රහාර වඩාත් තීව්‍ර විය. එයින් බොහොමයක් හමුදා නායකයන් ඉලක්ක කරගෙන සිදු විය. ලුතිනන් කර්නල් ලෆීර්ද සතුරාගේ ඉලක්ක කරගෙන කෙරුණු වෙඩි පහරකට ලක් වී සටන් බිමේ දී ම මරණයට ලක් විය.

තම ජීවිතය ගැන නොසලකා ඔහු කළ වික්‍රමාන්විත ක්‍රියාවට උපහාර ලෙස ලෆීර්ගේ නිලය කර්නල් දක්වා උසස් කෙරිණ. ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලද්දේ ය. **ලුතිනන් කර්නල් ෆස්ලි ලෆීර්** පරම වීර විභූෂණ ලාභීන් අතරින් ඉහළ ම නිලය දැරූ ශ්‍රී ලාංකික රණවිරුවා වීමත් අපට ආඩම්බරයක් ම නොවේ ද? රණවිරුව! ඔබට අප හැමගේ ශ්‍රේෂ්ඨ ආචාරය පිරිනමන්නෙමු.

## 3.7 මේජර් ජී. එස්. ජයනාත් **O/61736**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 2 වන බළඬය, කමාන්ඩෝ රෙජිමේන්තුව |
| මිය ගිය ස්ථානය | : මාන්කුලම් |
| උපන් දිනය | : 1971 ජනවාරි 21 |
| මිය ගිය දිනය | : 1997 දෙසැම්බර් 04 |
| වයස | : 27 |
| පදක්කම ලැබුණ දිනය | : 2001 අප්‍රේල් 24 |
| විවාහක/අවිවාහක භාවය | : අවිවාහක |
| මව | : ඇම්. කේ. පෙරේරා |
| පියා | : පී. එඩ්වින් |
| ලිපිනය | : 36/181, තිස්ස මාවත, ගල්වල පාර, හෝමාගම. |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය<br>රණ ශුර පදක්කම<br>පූර්ණ භූමි පදක්කම<br>දේශ පුත්‍ර සම්මානය<br>උතුරු නැගෙනහිර- සංග්‍රාමික පදක්කම |

1971 ජනවාරි 21 වන දින ගිනිමලගේ සමන්ත ජයනාත් කොළඹ කාසල් රෝහලේ දී උපත ලැබුවේ ය. ජයනාත්ගේ පියා ගිනිමැලගේ එඩ්වින් ශ්‍රී ලංකා යුද හමුදාවේ පළමුවන පාබල රෙජිමේන්තුවේ සේවය කළ අතර මව මහවත්තගේ කුසුමා පෙරේරා වූවාය. ජයනාත් හට වැඩිමහලු සොහොයුරක් සහ බාල සොහොයුරියක් ද වූහ.

ජයනාත් සිය මූලික අධ්‍යාපනය මහනුවර ශාන්ත පාවුළු විද්‍යාලයෙන් ද පසු ව පන්නිපිටියේ ධර්මපාල විද්‍යාලයෙන් ද හැදෑරූ අතර සිය දහම් අධ්‍යාපනය ගලවිලවත්ත විදර්ශනා භාවනා මධ්‍යස්ථානයට අනුබද්ධිත දහම් පාසලකින් ලබාගත්තේ ය. පාසලේ කැපීපෙනෙන ශිෂ්‍යයෙක් වූ ඔහු ශිෂ්‍ය භට කණ්ඩායමේ සාමාජිකයෙක් ද විය.

1987 අ.පො.ස සාමාන්‍ය පෙළ උසස් ප්‍රතිඵල සහිත ව සමර්ථ වූ ඔහු වානිජ්‍ය අංශයෙන් උසස්පෙළ හැදෑරී ය.

1989 ජූලි 14 වැනි දා ශ්‍රී ලංකා යුද හමුදාවේ නිත්‍ය බලසේනා කෙඩෙට් නිලධාරියකු ලෙසට අනුයුක්ත වී දියතලාව හමුදා පුහුණු පාසලෙන් කෙඩෙට් නිලධාරියකු ලෙස පුහුණුව ලැබුවේ ය. පසු ව 2 වන ලුතිනන් ලෙස අධිකාරියට පත් වූ ජයනාත් කමාන්ඩෝ පාඨමාලාව හැදෑරීමට ගනේමුල්ලේ කමාන්ඩෝ රෙජිමේන්තුවට අනුයුක්ත විය.

2 වන කමාන්ඩෝ රෙජිමේන්තුවේ බණ්ඩභාර නිලධාරියකු ලෙස යාපනය අර්ධද්වීපය මුදාගැනීම සඳහා කෙරුණු 'රිවි රැස' සහ වැලිඔය කොක්කුතුඩායි ප්‍රදේශයේ සිදු කෙරුණු 'හයේ පහර' යන ක්‍රියාන්විතවලට සක්‍රිය ව දායකත්වය සැපයුවේ ය.

මේ ක්‍රියාන්විතවලට ඔහු පිරිනැමූ දායකත්වය අගයමින් රණ ශූර පදක්කම, පූර්ණ භූමි පදක්කම, උතුරු නැගෙනහිර සංග්‍රාමික පදක්කම යන පදක්කම් වලින් පිදුම් ලැබුවේ ය.

තම ජීවිතය පරදුවට තබා ජය සිකුරු මෙහෙයුම තුළ කළ වික්‍රමාන්විත කැප කිරීමට උපහාර පිණිස ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබී ය.

1997 මැයි මාසයේ දී ශ්‍රී ලංකා යුද හමුදාව LTTE යට එරෙහි ව ජය සිකුරු මෙහෙයුම දියත් කළේ ය. මේ මෙහෙයුමේ ප්‍රධාන අරමුණ වූයේ යාපනය අර්ධ ද්වීපයට ඇති සැපයුම් මාර්ගවල පාලනය ශ්‍රී ලංකා රජයට නතු කරගැනීමයි. කිලිනොච්චි සහ වවුනියා නගර සම්බන්ධ කරන මාර්ගය මේ සැපයුම් මාර්ගයට අයත් වේ.

1997 දෙසැම්බර් මාසයේ දී මාන්කුලම් අසල දරුණු සටන් ඇති විය. දෙසැම්බර් 4 වන දින කපිතාන් ජයනාත් කොමාන්ඩෝ භට පිරිසක් සමග LTTE කාලතුවක්කු ඇති ස්ථානයක් සෙවීමේ මෙහෙයුමක නිරත ව සිටි නමුත්, නියමිත ස්ථානයට පැමිණීමෙන් පසු එය සතුරා විසින් අටවන ලද උගුලක් බව අනාවරණය වූයේ, ජයනාත්ගේ කණ්ඩායම සතුරන් විසින් වටකර මැෂින් තුවක්කු සහ මෝටාර් ප්‍රහාර එල්ල කිරීමට පටන්ගත් විට දී ය.

ජයනාත් සහ ස්වේච්ඡාවෙන් ඉදිරිපත් වූ භටයන් කිහිප දෙනෙක් සතුරාගේ අවධානය ඔවුන් වෙත ගැනීම සඳහා ඉදිරියට ප්‍රහාර එල්ල කරමින්, ඒ ප්‍රහාර අතරේ දී අනෙකුත් සාමාජිකයන්ට බේරී ආරක්ෂාව ඇති ස්ථාන බලා යෑමට ද ඉඩ සැලැස්වූහ.

සතුරා තම ආරක්ෂක කලාපයට ඇතුළුවීමේ දී ජයනාත් රේඩියෝ පණිවිඩ මඟින් තම පිරිස් බලය වැඩි කිරීම සඳහා ආධාර පැතී ය. තව ද අලුත් භට පිරිස් පැමිණෙන තුරු සතුරාට පහර දී ඔවුන් ඉදිරියට ඒම තමාට නවතා තබාගත හැකි බව ද ඔහු අවධාරණය කළේ ය.

කෙසේ වෙතත්, මේ වන විට මුළු සටන ම තීරණාත්මක අවස්ථාවකට පත් ව තිබූ බැවින්, ජයනාත් භට අමතර පිරිස් බලය ලබාගැනීමේ හැකියාවක් නොමැති විය. තම භට පිරිස

සමඟ ආරක්ෂක ස්ථානවලට පසුබසින ලෙස ජයනාත් හට නියෝග ලැබිණ. මේ නියෝගය පිළිපැදීමට නම් ජයනාත්ට, තම තුවාල වූ සගයන් සටන්බිමේ තනිකර දැමිය යුතු වේ. ඔහු තම ආරක්ෂාව ගැන නොතකමින් මේ නියෝගයට එකඟ නොවී ය. ජයනාත් අභීත ලෙස සතුරු වෙඩි ප්‍රහාරවලින් මිය යන තෙක් සටන් කළේ එලෙස ය. මෙය අතිබිහිසුණු සටනක් විය. රණවිරුවෝ විශාල සංඛ්‍යාවක් මෙහි දී ජීවිත පරිත්‍යාග කළහ.

රණවිරු ජයනාත්! ඔබ ජීවිතය පුදා ආත්මාර්ථය පරාජය වීමට ඉඩ හැරිය ද, ඉන් ජයගත්තේ සමස්ත දේශය ම බව ඔබ වෙනුවෙන් ලියා තබන්නෙමු.

තම ජීවිතය පරදුවට තබා ජයනාත් කළ වීර වික්‍රමයට උපහාරයක් වශයෙන් ඔහුගේ නිලය මේජර් තනතුරට උසස් කෙරිණි. 2001 අප්‍රේල් 24 වන දා මොහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලද්දේ ය.

## 3.8 ලුතිනන් කර්නල් ඒ. ජේ. එල්. ජයසිංහ **O/64314**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 3 වන රෙජිමේන්තුව, විශේෂ බලකාය |
| මිය ගිය ස්ථානය | : ඔඩ්ඩුසුඩාන් |
| උපන් දිනය | : 1976 අප්‍රේල් 29 |
| මිය ගිය දිනය | : 2008 නොවැම්බර් 20 |
| වයස | : 32 |
| පදක්කම ලැබුණු දිනය | : 2012 මැයි 19 |
| විවාහක/අවිවාහක භාවය | : විවාහක |
| මව | : ඩී. ජී. සුමනාවතී |
| පියා | : ජේ. ඒ. ජයසිංහ |
| බිරිඳ | : එස්. කෞශල්‍යා රුද්‍රිගු |
| ලිපිනය | : 353/10, පාම්හැම් වත්ත, පුවක්පිටිය. |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය<br>වීර වික්‍රම විභූෂණය<br>රණ වික්‍රම පදක්කම |

**මේජර් ලලිත් ජයසිංහ** ශ්‍රී ලංකා යුද හමුදාවට අනුයුක්ත ව විශේෂ බලකායේ නිලධාරියෙකු ලෙස සේවය කළේ ය. යුද මෙහෙයුම්වල දී දැක්වූ වීරත්වය ඇගයීම සඳහා ඔහුට දෙවරක් ම වීර වික්‍රම විභූෂණය පිරිනැමිණි. එය සොල්දාදුවකුට ලබාගත හැකි දෙවන ඉහළ ම සම්මානය වේ. 2008 නොවැම්බර් මාසයේ දී විශේෂ බලකායේ ක්‍රියාන්විතයකට සතුරු බල ප්‍රදේශයක කිලෝමීටර් 40 ක් ඇතුළතට කළ මෙහෙයුමක දී ඔහු තම අටදෙනෙකුගෙන් යුත් පිරිසේ ආරක්ෂාව සඳහා සතුරා එරෙහි ව අභීත ව ඉදිරියේ සිට සටන් කර මරුමුවට පත් විය.

ජයසිංහ මූලික අධ්‍යාපනය ලැබුවේ අවිස්සාවේල්ල ජනාධිපති විද්‍යාලයෙන් සහ කොළඹ ලුම්බිණි විද්‍යාලයෙනි. ඔහු දක්ෂ රගර් ක්‍රීඩකයෙකු විය. 2008 දී ඔහු කෞශල්‍යා රුද්‍රිගු සමඟ විවාහ වූ අතර, ඔහු මිය යන විට බිරිඳ පස් මසක ගැබිනියක ව සිටියා ය.

ඔහු කැඩෙට් නිලධාරියෙකු ලෙස 1997 ජනවාරි 22 දින ශ්‍රී ලංකා යුද හමුදාවට බැඳුණේ ය. ඉන් පසු ව දෙවන ලුතිනන්වරයෙකු ලෙස ගැමුණු බලකායට අනුයුක්ත විය. ඔහු බංග්ලාදේශ යුද හමුදා පාසලෙන් විශේෂ පුහුණුවක් ද ලබා ඇත. පසු ව ලැබූ විශේෂ බලකා පුහුණුවකින් පසු ඔහු විශේෂ බලකා 3 වන බළඇණියට අනුයුක්ත කෙරිණි.

ජයසිංහ සතු වූ විශේෂ කුසලතා නිසා ම, උසස් ආරක්ෂක නිලධාරීන් විසින් විදේශ පුහුණුවීම් සඳහා ඔහු ව නිතර නිර්දේශ කර ඇත. ඔහු ඉන්දියාව, චීනය, උතුරු ඇමරිකාව සහ බංග්ලාදේශය යන රටවල පුහුණුවීම් ලබාගත්තේ ය. හමුදා ජීවිතයට දස වසරක් පිරීමේ දී ඔහු කැප්ටන් නිලයටත් පසු ව මේජර් නිලයටත් උසස්වීම් ලැබුවේ ය. මේ කාලය තුළ දී ඔහු අණදෙන නිලධාරියෙකු ලෙස කණ්ඩායමකට ද, බලසනයකට ද පසු ව බළඇණිවලට ද නායකත්වය සපයා තිබුණි.

ජයසිංහ, විශේෂ සේවා බලකායේ දිග දුර මෙහෙයුම්වලට (LRRP) විශේෂිත වූ නිලධාරියෙක් විය. මේ මෙහෙයුම් මගින් ඔහු LTTE නායකයන් විනාශ කිරීම සහ ගුවන් ප්‍රහාර සඳහා සතුරු මර්මස්ථාන සෙවීම කළේ ය.

LRRP මඟින් විනාශ කළ නායකයන් අතර, කොටි ගුවන් හමුදා නායක කර්නල් ශංකර්, මුහුදු කොටි දෙවන නායක ලුතිනන් කර්නල් කන්ගි අමරන් සහ කර්නල් චාල්ස් ද වේ. ගුවන් ප්‍රහාරයකින් විනාශ කළ LTTE දෙවන නායක තමිල් චෙල්වම් සිටි ස්ථාන සොයා ගත්තේ ද මෙකී LRRP මෙහෙයුමකිනි.

ජයසිංහ සහ ඔහුගේ දිග දුර මෙහෙයුම් කණ්ඩායම කොටි බල ප්‍රදේශයේ කි. මී. 60 පමණ ඇතුළට ගමන් කර කොටි නායකයකු වන තන්ගමරන් ගමන් කළ මාර්ගයේ ක්ලේමෝ බෝම්බයක් අටවා ඔහුගේ වාහනය පුපුරවා හැරියේ ය. පසු ව දින 18 වෙනත් මාර්ගවලින් ඝන වනාන්තරයේ ගමන්කර කඳවුරට පැමිණියහ.

කොටි ගුවන් බලකායේ දෙවැනියා වූ කර්නල් ශංකර්ගේ ජීප් රිය පුදුකුඩුඉරිප්පු අසල දී පුපුරුවා හැරියහ. මෙයට ඔවුන් හට වැලිඔය ආරක්ෂක වළල්ලේ සිට කි.මී. 50 කොටි බල ප්‍රදේශයට ඇතුළු වී දින 20 දුෂ්කර ගමනක් යෑමට සිදු විය.

ජයසිංහ සහ කණ්ඩායම මාන්කුලම් සිට මුලතිව් දක්වා දිවෙන A34 දී ඔඩ්ඩුසුඩාන් අසල දී කොටි නායකයකු ගමන්ගත් ටාටා කැබ්රිය පුපුරවා හැරියහ. මේ මෙහෙයුමට ඔවුන්ට කොටි බල ප්‍රදේශයේ කි.මී. 45 දුෂ්කර පාගමනක් යෑමට සිදු විය.

2008 නොවැම්බර් 20 වැනි දා ප්‍රභාකරන්ගේ උපන්දිනය වෙනුවෙන් සංවිධානය කෙරෙන මහ විරු උත්සවයට සහභාගි වීමට යන කොටි නායකයන් ගමන්ගත් රථයක් ඔඩ්ඩුසුඩාන් අසල දී ජයසිංහ ඇතුළු කණ්ඩායම ක්ලේමෝ බෝම්බයක් දුරස්ථ පාලකයකින් පුපුරුවා හැරීමෙන් විනාශ කළහ. ඔවුන් සතුරු බල ප්‍රදේශයේ කි.මී. 40 පමණ ඇතුළට ගොස් සිටියහ. ඔවුන්ගේ ගමනට තද වර්ෂාවෙන් බාධා එල්ල විය. දින ගණනක් එක දිගට කළ දුෂ්කර පාගමන නිසා ජයසිංහ රෝගාතුර වී සිටි නමුත්, ඔහු අසනීප තත්ත්වය නොසලකා සතුරුබල ප්‍රදේශයෙන් ඉවත් වීමට

තම කණ්ඩායම දිරිමත් කළේ ය. නමුත් අනපේක්ෂිත ආකාරයට ඔවුන්ට කොටි හමුදා ප්‍රහාරයකට මුහුණදීමට සිදු විය. ජයසිංහ සතුරන් හට ප්‍රතිප්‍රහාර දීමට තම කණ්ඩායම දිරිමත් කළේ ය. LTTE ප්‍රහාරවලින් ජයසිංහ සහ තවත් සොල්දාදුවක් තුවාල ලැබූහ. නමුත් ඔහු පසුනොබැස ඉදිරියෙන් සිටිමින් සතුරාට ප්‍රතිප්‍රහාර එල්ල කළේ ය. ජයසිංහ ඉදිරියෙන් සිට කළ ප්‍රහාර නිසා පිටුපසින් සිටි සගයන්ට ආරක්ෂිත ස්ථාන කරා යෑමට අවස්ථාව උදා විය. ජයසිංහ හිසට වෙඩි වැදීම නිසා මිය ගියේ ය.

පසු ව ගුවන් මඟින් කළ මුදවාගැනීමේ මෙහෙයුමක් මඟින් ජයසිංහගේ කණ්ඩායම බේරාගත් අතර, ඔහුගේ මෘත දේහය ද සොයා ගැනිණි.

රණවිරු ජයසිංහ! ඔබේ ජීවිතය පැරදුණ ද, ඉන් ලක් මව ජය ලැබූ බව අපි අනාගත පරපුරේ දැන ගැනීම පිණිස සටහන් තබන්නෙමු.

ජයසිංහගේ වික්‍රමාන්විතයට උපහාර වශයෙන් ඔහු ලුතිනන් කර්නල් නිලයට උසස් කළ අතර, පරම වීර විභූෂණයෙන් පිදුම් ලද්දේ ය.

## 3.9 මේජර් කේ. ඒ. ගමගේ
**O/64743**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 1 වන රෙජිමේන්තුව, විශේෂ බලකාය |
| මිය ගිය ස්ථානය | : අම්පලවන්පොකනයි |
| උපන් දිනය | : 1978 සැප්තැම්බර් 17 |
| මිය ගිය දිනය | : 2009 අප්‍රේල් 20 |
| වයස | : 31 |
| පදක්කම ලද දිනය | : 2012 මැයි 19 |
| විවාහක/අවිවාහක භාවය | : විවාහක |
| මව | : එස්. ඒ. ඩබ්ලිව්.සමරකෝන් |
| පියා | : කේ. ජී. මර්සියන් |
| බිරිඳ | : කේ. ජී. සී. අයි. කරුණාරත්න |
| ලිපිනය | : 81/83 මේජර් අජිත් ගමගේ මාවත, පානළුව වත්ත, පානළුව, වටරැක, පාදුක්ක. |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය. රණ වික්‍රම පදක්කම. රණ ශූර පදක්කම. |

අජිත් ගමගේ 1978 සැප්තැම්බර් 17 වන දින නාවලපිටිය වෙරළුගස්හින්න ග්‍රාමයේ උපත ලැබුවේ ය. මව කේ. ජී. මර්සියන් වූ අතර පියා එස්. ඒ. බඩ්ලිව් සමරකෝන් විය.

අජිත් මූලික අධ්‍යාපනය වෙරළුගස්හින්න සිරිපැරකුම්බා විදුහලෙන් ලබාගත් අතර පසු ව නාවලපිටිය මධ්‍යමහා විද්‍යාලයට ඇතුළු විය. පාසලේ දීප්තිමත් ශිෂ්‍යයෙක් වූ අජිත් ප්‍රධාන ශිෂ්‍ය නායක පදවිය ද දරූ අතර ශිෂ්‍ය භට කණ්ඩායමේ ප්‍රබල ක්‍රියාකරුවෙක් ද විය.

අ.පො.ස. සාමාන්‍ය පෙළ සහ උසස් පෙළ සාර්ථක අයුරින් සමත් වූ අජිත් 1998 ජූලි 7 වන දා කෙඩෙට් නිලධාරියකු ලෙස ශ්‍රී ලංකා යුද හමුදාවට බැඳී දියතලා යුද හමුදා පාසලෙන් අංක 48 කෙඩෙට් නිලධාරී පාඨමාලාව හැදෑරුවේ ය. පසු ව 2 වන ලුතිනන් වරයකු ලෙසට 2000 ජූනි 7 වන දා විජයබාහු පාබල රෙජිමේන්තුවට අනුයුක්ත විය.

මාවිල්ආරු සොරොව්ව ත්‍රස්තවාදීන්ගෙන් මුදාගැනීමේ ක්‍රියාන්විතයට අජිත් මූලිකත්වය දුන්නේ ය. අජිත්ගේ කණ්ඩායම රාත්‍රියේ ඝන අඳුරේ සොරොව්වේ ඊකවලේ යෙදී සිටි ත්‍රස්තයන් හට අනපේක්ෂිත ප්‍රහාර එල්ල කළේ ය. එසැනින් ත්‍රස්තයෝ ද තමන් සතු කාලතුවක්කු වැනි ප්‍රහල අවි යොදාගනිමින් ප්‍රතිප්‍රහාර එල්ල කිරීමට පටන්ගත්හ. මේ ප්‍රහාරවලින් නිකුත් වූ කාලතුවක්කු උණ්ඩ කැබැල්ලකට අජිත් තුවාල වූ නමුත් තම කණ්ඩායම දිරිමත් කරමින් සොරොව්ව ත්‍රස්ත ග්‍රහණයෙන් මුදාග න්නා තෙක් අජිත් සටනේ යෙදුණේ ය.

පසු ව නැගෙනහිර ත්‍රස්ත ග්‍රහණයෙන් මුදාගැනීම සඳහා කුඩා කණ්ඩායම්වලට අනුයුක්ත වූ අජිත් සාම්පූර්, වාකරේ වැනි ත්‍රස්ත ග්‍රහණයේ තිබූ ප්‍රදේශ නිදහස් කරගැනීමේ ක්‍රියාන්විතවලට සක්‍රිය ව දායක විය. මේ ක්‍රියාන්විතවලදී දැක්වූ දක්ෂතා අගය කිරීම සඳහා අජිත් රණශූර, රණ වික්‍රම පදක්කම්වලින් පිදුම් ලැබී ය.

මේජර් කේ. ඒ. ගමගේ විශේෂ බලකායේ සේවය කරමින් කළ වික්‍රමවලට උපහාර වශයෙන් පරම වීර විභූෂණයෙන් පිදුම් ලබන්නේ ය. විශේෂ බලකායට අනුගතවීමට පෙර ඔහු විජයබාහු පාබල හමුදාවට අනුයුක්ත ව සේවය කළේ ය.

සිවිල් යුද්ධයේ දරුණුතම අවධිය වූයේ 2009 වසරේ අප්‍රේල් මැද භාගයයි. මේ අවසන් අදියරේ දී ශ්‍රී ලාංකේය හමුදාව සතුරා නන්දිකඩාල් කළපුව අසල වර්ග කිලෝමීටර් 20 ප්‍රදේශයකට සීමා කිරීමට සමත් විය. මේ ප්‍රදේශයේ සිර වී සිටින 200,000කට අධික සිවිල් වැසියන්ගේ ආරක්ෂාව පිණිස එය යුද මුක්ත කලාපයක් ලෙස රජය විසින් ප්‍රකාශ කර තිබුණි. මේ ප්‍රදේශයේ ආරක්ෂාව පිණිස කිලෝමීටර් 3 ක් දිග පස් බැම්මක් ද LTTE ය විසින් ඉදි කර තිබුණේ ය.

හිර වී සිටි සිවිල් වැසියන් නිදහස් කරගැනීම සඳහා මේ පස්බැම්මේ කොටසක් විනාශ කර ඒ විවරයෙන් විශේෂ බලකායේ 1 වන බළඇණිය විසින් මෙහෙයුමක් දියත් කෙරිණි. 2009 අප්‍රේල් 19 වන දින රාත්‍රියේ අම්පලවන්පොක්කනායි ප්‍රදේශයේ දී ප්‍රහාරය ආරම්භ විය. මේ ක්‍රියාන්විතයේ එක් කණ්ඩායමක් ගමගේ විසින් මෙහෙයවිණි. ඔහුට අණ ලැබී තිබුණේ පස් බැම්ම අත්පත් කරගැනීම සහ ඉන් පිටතට පැමිණෙන සිවිල් වැසියන්ට නිදහස් වී යෑමට ඉඩ සැලසීමයි. ඉන් ඉදිරියට යෑමට ඔහුට අවසර තිබුණේ නැත.

එදින රාත්‍රියේ ගමගේ ඔහුගේ කණ්ඩායම සමඟ සතුරාට නොපෙනෙන සේ කළපුව තරණය කර පස්බැම්මට ළඟා වූහ. අරුණෝදයට පෙර ඔවුහු පස් බැම්මට උඩින් ග්‍රනේඩ් ප්‍රහාර එල්ල කරමින් කොටින් ස්ථානගත වී ඇති ස්ථානවලට ක්ෂණික ප්‍රහාර එල්ල කළහ. කොටි බංකර ආක්‍රමණය කර පස්බැම්මේ කොටසක් නතු කරගෙන, සිරවී සිටි සිවිල් වැසියන් රජයේ ආරක්ෂිත ප්‍රදේශවලට යැවීමට ද එහි දී කටයුතු කළහ.

පස් බැම්මේ අනෙක් පැත්තේ සිටි සිවිල් වැසියන් කොටින්ගේ වෙඩි ප්‍රහාරවලට බිය නොවී කළපුවේ නොගැඹුරු තැන් හරහා

පස්බැම්ම වෙත ළඟා වී විශේෂ බලකාය එහි ඇති කළ සිදුර තුළින් රජයේ ආරක්ෂිත කලාපයට ඇතුළු වූහ. නමුත් මේ සංක්‍රමණයට එරෙහි ව කොටි, පස්බැම්මේ අනෙක් පැත්තේ සිට සිවිල් වැසියන්ට සහ විශේෂ බලකා සෙබළුන්ට වෙඩි ප්‍රහාර එල්ල කරන්නට වූහ. කොටින්ගේ වෙඩි ප්‍රහාරවලින් ආරක්ෂා වීමට ගමගේ, සිවිල් වැසියන් බේරා යවමින් තෝරාගත් ඉලක්කවලට වෙඩි තියන්නට ද විය. මෙය විශේෂ බලකා සොල්දාදුවන්ට ඇති වූ දැවැන්ත අභියෝගයක් විය. ඔවුන් සිවිල් වැසියන් හට ආරක්ෂාව සැපයිය යුතු ව ඇත. එසේ ම ඔවුන් හට වෙඩි තියන කොටින් මර්දනය කිරීම ද දැඩි අවශ්‍යතාවකි. මේ අභියෝගය හමුවේ ගමගේ ඇතුළු කණ්ඩායමේ සෙබළු සමහරෙක් දරුණු ලෙස තුවාල වූහ. සමහරක් මිය ගියහ. ගමගේ මිය යන තුරු ම සටන මෙහෙයවීම සිදු විය.

අප්‍රේල් 20 වන විට 25,000කට වැඩි සිවිල් වැසියන් ප්‍රමාණයක් රජයේ ආරක්ෂිත කලාපවලට යැවීමට යුද හමුදාවට හැකි විය. හමුදාව පස්බැම්ම අත්පත් කරගත්තේ ය. පසු දින සිවිල් වැසියෝ ඉතිරි කොටස ද ආරක්ෂිත කලාපයට නිදහස් වූහ.

හමුදාව, අවසාන ඉලක්ක කොටි නායකයන් වෙත එල්ල කළේ ය. දශක තුනක් පැවැති සිවිල් යුද්ධය අවසන් විය. යුද්ධය අවසාන වූ බව 2009 මැයි 19 වන දා රජය නිවේදනය කළේ ය.

තම ජීවිතය පුදා සහෝදර ද්‍රවිඩ ජනතාව මුදාගැනීමේ අරමුණින් ගමගේ කළ වික්‍රමාන්විතය ඇගයීම සඳහා ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබුවේ ය. අපේ සිංහල වීර පුත්‍රයෙකු අතින් අහිංසක ද්‍රවිඩ වැසියන් රැසක් ත්‍රස්තවාදී ග්‍රහණයෙන් මුදගත් පුවත ස්මරණය කිරීමත් අපට කොතරම් අභිමානයක් ද?

## 3.10 කපිතාන් යූ. ජී. එස්. සමරනායක
**O/65746**



| | | |
|---|---|---|
| හමුදා ඒකකය | : | 9 වන බළඇණිය,<br>ගැමුණු හේවා බලකාය |
| මිය ගිය ස්ථානය | : | පුදුකුඩුඉරුප්පු |
| උපන් දිනය | : | 1980 මැයි 31 |
| මිය ගිය දිනය | : | 2009 මාර්තු 02 |
| වයස | : | 29 |
| පදක්කම ලද දිනය | : | 2012 මැයි 19 |
| විවාහක/අවිවාහක භාවය | : | විවාහක |
| මව | : | ඇක්මන් විමලසිරි |
| පියා | : | සිරිල් සමරනායක |
| බිරිඳ | : | ගයනි නන්දසිරි |
| ලිපිනය | : | ග්‍රාමෝදය සෞඛ්‍ය මධ්‍යස්ථානය, රෝහල පාර, මාදිපොල, ගලේවෙල. |
| ලබාගෙන ඇති පදක්කම් | : | පරම වීර විභූෂණය<br>රණ ශූර පදක්කම<br>පූරණ භූමි පදක්කම<br>වන්නි මානුෂීය මෙහෙයුම් -පදක්කම<br>උතුරු නැගෙනහිර -සංග්‍රාමික පදක්කම |

**උඩහගෙදර අමිල සම්පත් සමරනායක** යහපත් වැදගත් සබඳතා ඇති පවුලක උපත ලැබීමට තරම් වාසනාවන්ත විය. නමුත් තම පියාගේ මරණින් පසු ව පවුලේ ආර්ථික අපහසුතා ඔහුට දැනෙන්නට ඇත.

ඔහු මුලින් ම අධ්‍යාපනය හැදෑරුවේ උඩගස්ගිරිය නන්දන මහා විද්‍යාලයෙනි. පසු ව වීර කැප්පෙටිපොළ මහා විද්‍යාලයෙන් සිප් සතර හැදෑරී ය. ඔහුගේ ආදර්ශවත් හැසිරීම නිසා ඔහු පාසලේ ගුරුවරුන්ගේ හා ශිෂ්‍යයන්ගේ ගෞරවය දිනා ගත් දරුවෙක් ද විය.

මවගේ රැකියාවේ ස්ථාන මාරුවීම අනුව සමරනායකට පාසල් ද වෙනස් කිරීමට සිදු විය. ඔහු සිය ගමේ පිරිස් සමඟ සහයෝගයෙන් කටයුතු කළේ ය. ක්‍රිකට් සහ වොලිබෝල් ක්‍රීඩා සඳහා ක්‍රීඩා සංගම් ස්ථාපිත කර ඒ ක්‍රීඩාවලට තරුණයන් දිරිමත් කළේ ය.

ඔහු තම වෘත්තිය ලෙස පරිගණක තාක්ෂණයට නැඹුරු වුවත් රටේ පවතින යුද වාතාවරණය ඔහු හමුදාවට බැඳීමට නැඹුරු කළා විය යුතු ය. සිය මවගේ ද විරුද්ධතාව මැද 2000 ජූලි 10 වන දින ඔහු කැඩෙට් නිලධාරියකු ලෙස ශ්‍රී ලංකා යුද හමුදාවට බැඳුණේ ය.

යුද හමුදා පුහුණුවෙන් පසු 2 වන ලුතිනන් වරයකු ලෙස ඔහු 2003 දෙසැම්බර් මාසයේ දී පත් විය. ඔහුගේ හමුදා ජීවිතය මුළුමනින් ම වාගේ ගෙවී ගියේ උතුරු- නැගෙනහිර යුද ක්‍රියාන්විතවල යෙදීම සඳහා ම ය. ඔහු යුදබිමේ කළ ජයග්‍රහණවල ඇගයීමක් ලෙස ලුතිනන් වරයෙකු ලෙස නිලයෙන් උසස් වීමක් ලැබුවේ ය. ඔහු පූර්ණ භූමි සම්මානයෙන් ද පිදුම් ලද්දේ ය.

තම යුද බිමේ රාජකාරිවලට අමතර ව ඔහු තම සේවයට අදාළ යුද පාඨමාලා හැදෑරුවේ ය. ඔහු 2008 ඔක්තෝබර් මාසයේ දී ගයනි නන්දනී සමඟ විවාහ විය.

ලුතිනන් සමරනායක අනුයුක්ත වූ 9 වන ගැමුණු හේවා බළඇණිය 2009 වර්ෂයේ ආරම්භයත් සමඟ ම මන්නාරමේ සහල්නැලියේ සිට වෙඩිතලතිව්, වෙල්ලක්කුලම, නච්චිකුඩා යන ස්ථානවල ස්ථාපිත කර තිබූ ත්‍රස්ත බලමුළු විනාශ කරමින් සතුරාගේ අවසාන බලකොටුව වූ කිලිනොච්චි හා මුලතිව් දක්වා ජයග්‍රාහී සටන් දියත් කළේ ය.

සමරනායක, පුදුකුඩුඉරිප්පු සටනේ පුරෝගාමියෙක් විය. පුදුකුඩුඉරිප්පු යනු LTTE පාලනයට නතු වූ ඔවුන්ගේ ප්‍රබල බළකොටුවක් වැනි වූ ප්‍රදේශයකි. ඔවුන් එය ආරක්ෂා කිරීම සඳහා ප්‍රබල සටනක නියුක්ත ව සිටියහ. ඔහු සිය ගැමුණු බලකායේ 9 වන බළඇණිය සහ තවත් පිරිස් සමඟ එකට එකමුතු ව පුදුකුඩුඉරිප්පු කොටි ග්‍රහණයෙන් මුදවා ගත්තේ ය.

පුදුකුඩුඉරිප්පු සටන ඉතා බිහිසුණු විය. කපිතාන් අමිල සම්පත් සමරනායක තම සහෝදර සොල්දාදුවන් දිරිමත් කරමින් ඔවුන් සමඟ ඉදිරියෙන් සිටිමින් අභීත ව සතුරාට මුහුණට මුහුණ දී සටන් කරන්නට විය. ඔහු වෙඩි වැදී තුවාල විය. නමුත් තම දරුණු තුවාල නොතකා සතුරාට ප්‍රහාර එල්ල කරමින් තුවාල වූ තම සගයන් ආරක්ෂිත ස්ථානවලට ගෙන යන තුරු ඔහු සටන් කළේ ය. ඔහු තම උපරිම ශක්තිය යොදා අවසන් හුස්ම පොද දක්වා සටන් කළේ එලෙස හිස් කළ නොහැකි වීර්යයක් සිය හදවත තුළ රඳවා ගනිමිනි.

මෙකී වික්‍රමාන්විතය ඇගයීම සඳහා පරම වීර විභූෂණයෙන් ඔහු පිදුම් ලද්දේ ය.

## 3.11 කපිතාන් එච්. එම්. කේ. අයි. මේසවර්ණ **O/66514**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 4 වන බළඇණිය ගැමුණු හේවා බලකාය. |
| මිය ගිය ස්ථානය | : පුදුකුඩුඉරුප්පු |
| උපන් දිනය | : 1984 දෙසැම්බර් 9 |
| මිය ගිය දිනය | : 2009 මාර්තු 02 |
| වයස | : 25 |
| පදක්කම ලද දිනය | : 2012 මැයි 19 |
| විවාහක/අවිවාහක භාවය | : අවිවාහක |
| මව | : ජී. ඒ. ද සිල්වා |
| පියා | : එච්. ජී. එම්. කේ. මේසවර්ණ |
| ලිපිනය | : බණ්ඩාරහේන යාඉන්න පාර, කහවත්ත. |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය රණ ශූර පදක්කම |

**කිත්සිරි** මේසවර්ණ 1984 දෙසැම්බර් මස 9 වන දා කහවත්තේ දී උපත ලැබූ අතර, ඔහු අධ්‍යාපනය කහවත්ත මධ්‍ය මහා විද්‍යාලයෙන් ලබාගත්තේ ය. මේසවර්ණ, අධ්‍යාපන කටයුතුවලට මෙන් ම පාසලේ අනෙකුත් ක්‍රියාකාරකම්වලට ද සහජ දක්ෂතාවක් දැක්වූ කැපී පෙනෙන ශිෂ්‍යයෙක් විය. ඔහු ආධුනික ශිෂ්‍ය භට කණ්ඩායමේ ද, බාලදක්ෂ කණ්ඩායමේ ද, විද්‍යාලීය ක්‍රිකට් කණ්ඩායමේ ද සාමාජිකයෙක් විය. ඔහු පෙන්වූ නායකත්ව ගුණාංග ඇගයීමට ලක්කරමින් ගුරු මණ්ඩලය ඔහු ශිෂ්‍ය නායක තනතුරකට ද පත් කළේ ය.

2005 වර්ෂයේ දී මේසවර්ණ උසස් පෙළ විභාගය සමත් වීමෙන් පසු තම සේවය ශ්‍රී ලංකා හමුදාවට කැප කිරීමට අධිෂ්ඨාන කරගත්තේ ය. ඔහු, දෙමාපියන්ගේ ආශීර්වාද මැද කැඩෙට් නිලධාරියෙකු ලෙස ශ්‍රී ලංකා යුද හමුදාවට අනුයුක්ත විය.

ඔහු ලැබූ මූලික හමුදා පුහුණුවෙන් පසු දෙවන ලුතිනන්වරයෙකු ලෙස ගැමුණු බලකායේ 9 වන බළඇණියට අනුයුක්ත වී උතුරු නැඟෙනහිර ක්‍රියාන්විතවලට සක්‍රීය ව දායක විය. මෙය සටන් තීව්‍ර ව තිබූ කාලවකවානුවක් විය. මේසවර්ණගේ කැප වීම අගයමින් ඔහුට පූර්ණ භූමි සම්මානය පිරිනැමිණි. ඔහුට ලුතිනන්වරයෙකු ලෙසට නිලයේ උසස් වීමක් ද ප්‍රදානය කෙරිණි. ඔහු හමුදා ක්‍රියාන්විතවලට අමතර ව හමුදා පුහුණු පාඨමාලා ද හැදෑරුවේ ය. තමන්ට වඩා උසස් නිලධාරීන් මෙන් ම පහළ නිලධාරීන් ද සමඟ සුහද ව තම රාජකාරිය කිරීමට දක්ෂතාවක් පෙන්වූ ඔහු, වීර ලංකා පුත්‍රයෙකි.

පුදුකුඩුඉරිප්පු සටනේ දී ලුතිනන් මේසවර්ණ තම සහෝදර භට පිරිස මෙහෙයවමින් අභීත ව සතුරාට මුහුණ දී සටන් කරන්නට විය. ත්‍රස්තවාදීන්ගේ බංකර සහිත කඳවුරේ සිට මේසවර්ණගේ කණ්ඩායමට දරුණු ප්‍රහාර එල්ල විය. ත්‍රස්තවාදීහු MPMG මැෂින් තුවක්කු, LMG මැෂින් තුවක්කු, RPG රොකට් ප්‍රහාර, මෝටාර් අවි පමණක් නොව කාලතුවක්කු අවි මගින් ද නොනවත්වා ප්‍රහාර එල්ල කළහ. සටනේ දරුණුතම අවස්ථාව

පැමිණි මොහොතේ දී ලුතිනන් මේසවර්ණ තම ජීවිතය ගැන පවා නොතකා ස්වේච්ඡාවෙන් ම සතුරු බංකර වෙතට කඩාපනිමින් සතුරන් විනාශ කිරීමට ඉදිරිපත් විය.

සතුරු බංකරවල සැඟවී සිටි ත්‍රස්තවාදීහු විශාල පිරිසක් MPMG, LMG, RPG, මෝටාර් ඇතුළු සුළු හා බර අවි යොදාගනිමින් දැඩි ප්‍රහාර එල්ල කර මේසවර්ණගේ කණ්ඩායම අල්ලාගත් ප්‍රදේශ නැවත අත්පත් කරගැනීමට උත්සාහ දැරූහ. මේ ප්‍රහාරවලින් මේසවර්ණ බරපතළ ලෙස තුවාල විය. නමුත් තුවාල ගැන තැකීමක් නොකර තම සෙබළුන් සතුරු බංකර අත්පත්කරගන්නා තෙක් යුද බිමේ රැඳී සිටිමින් තම සටන් සගයන් දිරිමත් කළේ ය.

ඔහුට වෙඩි වැදුණ නමුත් තම තුවාල වූ සගයන් ආරක්ෂිත ස්ථාන කරා ගෙන යන තුරු ම ඉදිරියෙන් මේසවර්ණ සටන් කළේ ය. ඔහු සටන් බිමේ දී රට වෙනුවෙන් ජීවිතය පරිත්‍යාග කළේ එකී පරහිතකාමී ගුණාංගය සිය හදවත තුළ යළි යළිත් ප්‍රගුණ කරවමිනි.

මේසවර්ණගේ මේ වීරත්වය අගයමින් ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලද්දේ ය.

## 3.12 සැරයන් එච්. ජී. එස්. බංඩාර
## **S/511904**



| | | |
|---|---|---|
| හමුදා ඒකකය | : | 4 වන බළඇණිය, විජය -බාහු පාබල රෙජිමේන්තුව |
| මිය ගිය ස්ථානය | : | නන්දිකඩාල් |
| උපන් දිනය | : | 1979 අප්‍රේල් 29 |
| මිය ගිය දිනය | : | 2009 මැයි 17 |
| වයස | : | 30 |
| පදක්කම ලද දිනය | : | 2012 මැයි 19 |
| විවාහක/අවිවාහක භාවය | : | විවාහක |
| මව | : | ඇම්. ජී. චන්‍ද්‍රලතා |
| පියා | : | එච්. එන්. කේ. අබේසේකර |
| බිරිඳ | : | දර්ශනී නයනා වේරගොඩ |
| ලිපිනය | : | හේවාදිවෙල, දූල්මුණේ. |
| ලබාගෙන ඇති පදක්කම් | : | පරම වීර විභූෂණය<br>රණ ශූර පදක්කම<br>වන්නි මානුෂීය මෙහෙයුම පදක්කම<br>නැගෙනහිර මානුෂීය -මෙහෙයුම් පදක්කම<br>පූර්ණ භූමි පදක්කම |

උතුර නැගෙනහිර -සංග්‍රාමික පදක්කම

රිවිරැස මෙහෙයුම් -පදක්කම

පනස්වන නිදහස් ස්වර්ණ -ජයන්ති පදක්කම

හොරණෑගෙදර සෙනරත් බංඩාර උපත ලැබුවේ 1979 ජනවාරි 26 දින ය. ඔහුගේ මව මහකුඹුරේ ගෙදර චන්‍ද්‍රලතා වූ අතර පියා හොරණෑගෙදර කරුණාරත්න අබේසේකර විය. බංඩාර හට බාල සොහොයුරෙක් ද, සොහොයුරියක් ද වූහ. ඔහු මූලික අධ්‍යාපනය සමෝදයා විදුහලින් ද දහම් අධ්‍යාපනය කොටිකාපොළ ශ්‍රී ආනන්දාරාම පොත්ගුල් විහාරයට අනුබද්ධ ශ්‍රී රාහුල දහම් පාසලෙන් ද ලැබී ය.

1997 නොවැම්බර් 26 වැනි දා ශ්‍රී ලංකා යුද හමුදාවේ විජයබාහු පාබල රෙජිමේන්තුවට අනුයුක්ත විය. පසු ව 4 වන විජයබාහු පාබල රෙජිමේන්තුවට මාරුවීමක් ලබාගෙන පරන්තන්, අලිමංකඩ, වෙන්කලකේනි, චාවකච්චේරි, කිළිනොච්චිය වැනි ප්‍රදේශවල යුද ක්‍රියාන්විතවලට සක්‍රිය ව දායක විය. පසු ව ලාන්ස් කෝප්‍රල් නිලයටත්, කෝප්‍රල් නිලයටත් උසස්වීම් ලැබුවේ ය. 2007 වර්ෂයේ දී දර්ශනී නයනා වේරගොඩ සමඟ විවාහ විය.

2008 වර්ශයේ වව්නියාව පාලමොඩෙයි ප්‍රදේශයේ ඉදිරි ආරක්ෂක වළල්ලේ රාජකාරි කරමින් ත්‍රස්තවාදීන්ගේ නිරීක්ෂණ ස්ථානයකට ප්‍රහාරයක් දීමට ද ත්‍රස්තයන් සතු ප්‍රබල අවි විනාශ කිරීමට ද දායක විය.

වසර 30 ක පමණ සිවිල් යුද්ධයේ අවසාන භාගය වන විට ශ්‍රී ලංකා හමුදාවට LTTE ය නන්දිකඩාල් කළපුව අසල වර්ග කිලෝමීටර් 4 ක පමණ ප්‍රදේශයකට සීමා කිරීමට හැකියාව ලැබුණි. ශ්‍රී ලංකා යුද හමුදාව උතුරින් සහ දකුණින්, කොටින් මුල්ලිවෙක්කාල් තුඩුවට සිර කළ අතර, නාවික හමුදාව

වෙරළට ආරක්ෂාව දී තිබුණි. ශ්‍රී ලංකා යුද හමුදාව LTTE ප්‍රතිප්‍රහාර බලාපොරොත්තුවෙන් කළපුවේ බටහිර ප්‍රදේශය ආවරණය කරමින් සිටියහ. කුඩා කණ්ඩායමින් යුත් ස්වයංක්‍රීය තුවක්කු, රොකට් අවි සහ ස්නයිපර්කරුවන් කළපුව අවට කොටි මර්මස්ථානවලට පහර දීම සඳහා රඳවා සූදානමින් තිබුණි.

සැරයන් බංඩාර අටදෙනෙකුගෙන් යුත් කුඩා කණ්ඩායමකට නායකත්වය දෙමින් නන්දිකඩාල් කළපුවේ කුඩා කොදෙව්වක රැඳී සිටියේ ය. ඔවුන්ගේ වගකීම වූයේ කොටි ප්‍රහාරයක් පිළිබඳ පූර්ව දැනුම් දීමක් වෙතොත් එය යුද හමුදාවට සැපයීමයි.

බලාපොරොත්තු වූ පරිදි ම 17 වන දා පාන්දර 1.50 - 2.00 පමණ වන විට සන්නද්ධ කොටි පිරිසක් ඉදිරියට පැමිණෙනු බංඩාර දුටුවේ ය. බංඩාර ක්ෂණයෙන් කොටින් හට ප්‍රහාර නිකුත් කිරීමට තම පිරිසට නියෝග දුන්නේ ය. ඔහුගේ කුඩා කණ්ඩායම මේ විශාල සතුරු පිරිසට දරුණු ප්‍රහාරයක් එල්ල කළේ ය. මේ අනපේක්ෂිත ප්‍රහාරයෙන් විවෘත ප්‍රදේශයක සිටි සතුරෝ බොහොමයක් විනාශ වූහ.

නමුත් සුළු වේලාවකට පසු කොටි නැවත සංවිධානය වී ප්‍රතිප්‍රහාර එල්ල කරන්නට වූහ. මෙය බංඩාරගේ කුඩා කණ්ඩායම සහ සන්නද්ධ කොටි විශාල සංඛ්‍යාවක් අතර සිදු වුණු අතිබිහිසුණු තීරණාත්මක සටනක් විය.

ගණනින් අඩු වුවත් බංඩාරගේ කණ්ඩායම අභීත ව සතුරාට ප්‍රතිප්‍රහාර එල්ල කරන්න වූයේ ඉපැරණි අප හෙළ විරුවන් - යෝධයන් සිහිපත් කරවමිනි. මේ කුඩා කණ්ඩායමේ අටදෙනා ම සතුරු වෙඩි පහරින් තුවාල වූ අතර, බංඩාර ද දරුණු ලෙස තුවාල වී සිටියේ ය. ඔහුගේ තුවාලවල බරපතළකම නොසලකා බංඩාර ඉදිරියෙන් ම සිටිමින් තම සගයන් ද දිරිමත් කරමින් දිගට ම ප්‍රහාර එල්ල කරන්නට විය. ඔහු තුවාල වූ තම සගයන් ආරක්ෂිත ස්ථානවලට ගෙන යෑමට ඉඩ සලසමින් සතුරාට දිගට ම ප්‍රතිප්‍රහාර එල්ල කළේ ය. බංඩාර ඇතුළු කිහිප දෙනෙක් මෙහි දී ජීවිතක්ෂයට පත් වූහ. නමුත් මොවුන් ජීවිත පරිත්‍යාග

යෙන් කළ සටනේ සැඟවුණු වැදගත්කම ඔවුන් නොදැන සිටියහ. එය නම් ඔවුන් පහර දී නවතා දැමුවේ, කොටි නායක ප්‍රභාකරන්, ඔහුගේ පවුලේ සාමාජිකයන් සහ අනෙකුත් LTTE නායකයන් පලා යෑමට ගත් උත්සාහයක් යන කාරණාවයි.

සැරයන් බංඩාර දරුණු ලෙස වෙඩි වැදී තුවාල වීම නිසා ජීවිතක්ෂයට පත් විය. දින කිහිපයකට පසු ප්‍රභාකරන්ගේ සහ තවත් LTTE ඉහළ නිලධාරීන් 34 ක ගේ මළ සිරුරු කළපුවෙන් සොයා ගැනිණි.

තම මවුබිමේ ආරක්ෂාව සඳහා කෙරෙන දරුණු සටනක යුද බිමේ දී මැරෙනවා නම් මැරෙන්න ඕනෑ මෙන්න මෙලෙසය යන්න ඔබ අපට කියා දුන් ලොකු ම පාඩමයි.

බංඩාරගේ වික්‍රමාන්විතයට උපහාර ලෙස ඔහුගේ නිලය මාණ්ඩලික සැරයන් තනතුරට උසස් කෙරිණි. ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබී ය.

## 3.13 සැරයන් පී. ඇන්. සුරංග
**S/ 513841**



| | | |
|---|---|---|
| හමුදා ඒකකය | : | 1 වන බළඇණිය, විජයබාහු පාබල රෙජිමේන්තුව |
| මිය ගිය ස්ථානය | : | මුහමාලේ - නගර්කෝවිල් |
| උපන් දිනය | : | 1981 දෙසැම්බර් 16 |
| මිය ගිය දිනය | : | 2006 අගෝස්තු 14 |
| වයස | : | 25 |
| පදක්කම ලද දිනය | : | 2012 මැයි 19 |
| විවාහක/අවිවාහක භාවය | : | විවාහක |
| මව | : | ඇන්. ජී. ගුණවතී |
| පියා | : | පී. ඇන්. ඩැනී |
| බිරිඳ | : | පී. ඩබ්ලිව්. ඩී. කේ. නදීකා |
| ලිපිනය | : | 22/8 තලපිටිය හරස් පාර, ගාල්ල. |
| ලබාගෙන ඇති පදක්කම් | : | පරම වීර විභූෂණය<br>පූර්ණ භූමි පදක්කම<br>උතුරු මානුෂීය -මෙහෙයුම පදක්කම<br>නැගෙනහිර මානුෂීය -මෙහෙයුම පදක්කම |

පාලටුවෙ නැකතිගේ සුරංග 1981 දෙසැම්බර් 16 වන දින උපත ලැබී ය. ඔහුගේ මව නම්මුන්න ආරච්චිගේ ගුණවතී ද, පියා පාලටුවේ නැකතිගේ ඩැනී ද විය. සුරංග මූලික අධ්‍යාපනය හැදෑරුවේ ගාල්ල ඕල්කට් මහාවිද්‍යාල- යෙනි. පාසලේ දී ඔහු අධ්‍යාපන කටයුතුවලට අමතර ව ක්‍රිකට්, පාපන්දු, කරාටේ යන ක්‍රීඩාවලට සමත්කම් දැක්වී ය. ඔහු ශිෂ්‍යභට කණ්ඩායමේ සාමාජිකයක් ද විය.

2000 නොවැම්බර් 28 යුද හමුදා ආධුනික සෙබලකු ලෙසට බැඳී යුද ඉන්ජිනේරු පුහුණු පාසල - තුංකම වෙතින් ආධුනික පුහුණු පාඨමාලාව හැදෑරී ය. පසු ව විජයබාහු රෙජිමේන්තුවේ 1 වන බළඇණියට අනුයුක්ත විය.

සුරංග නදීකා සමඟ විවාහ වූ අතර ඔවුන්ට නිසංසලා මධුශානි සහ හිරුෂි ප්‍රබෝධිකා නම් වූ දියණියන් දෙදෙනෙකු ද විය.

සුරංග උතුරු නැගෙනහිර යුද මෙහෙයුම්වලට සක්‍රිය ව දායක වූ අතර ඔහු පූර්ණ භූමි, උතුරු මානුෂීය මෙහෙයුම, නැගෙනහිර මානුෂීය මෙහෙයුම පදක්කම් මගින් පිදුම් ලැබුවේ ය.

තිස් අවුරුදු සිවිල් යුද්ධයේ එක් ප්‍රධාන කඩඉමක් ලෙස 2006 අගෝස්තු 11 වන දින හමුදාව විසින් සතුරාට එරෙහි ව කළ අභීත ප්‍රතිප්‍රහාරය සඳහන් කළ හැකි ය.

මෙදින කොටි මූහමාලේ නගර්කෝවිල් ශ්‍රී ලංකා යුද හමුදා කඳවුරෙහි ඉදිරි ආරක්ෂක වළල්ලට මුහුදෙන් සහ ගොඩින් දරුණු ප්‍රහාර එල්ල කර එහි වූ බංකර ග්‍රහණයට නතු කරගත්තේ ය. කෝප්‍රල් සුරංග මේ සටනේ දී අභීත ලෙස සටන් කරමින් නැවතත් කොටින් විසින් අත්පත් කරගෙන සිටි බංකර ශ්‍රී ලංකා

යුද හමුදා පාලනයට ලබා දීමට සටන් කළ වීර සොල්දාදුවෙකි.

කොටින් තම උපරිම පිරිස් බලය යොදාගනිමින් ප්‍රහාර එල්ල කිරීමට පටන්ගත්තේ ය. කෝප්‍රල් සුරංගගේ සේනාංකය ද මේ සටනට අවතීර්ණ වී තිබුණි. සුරංග RPG අවි යොදා ගනිමින් සතුරන්ට දරුණු ප්‍රහාරයක් එල්ල කළේ ය. ඔහු තම වෙඩි බලය අවසන් වන තුරු ම එක දිගට ප්‍රහාර සිදු කරන අතරවාරයේ, කොටි තම මැෂින් තුවක්කු කණ්ඩායම සතු අවි සුරංගගේ ස්ථානය අසලට ම විත් ස්ථානගත කළේ ය. ඒ අවි මඟින් සුරංගගේ භට පිරිස තුවාල ලැබූහ.

සුරංග තම දෑතට ග්‍රනේඩ් බෝම්බ දෙකක් ගෙන සතුරන් මැදට පැන ඒවා පුපුරවා සතුරන් ද සමඟ මිය ගියේ ය. සතුරු මැෂින් තුවක්කු ද විනාශ විය. මේ පහර දීම නිසා සුරංගගේ සහෝදර භට පිරිසගේ ජීවිත සුරක්ෂිත විය.

රණවිරු සුරංග! සතුරාට බියෙන් ආපස්සට යෑම නොව තව තවත් වේගයෙන් ම සතුරා හඹා ගිය ඔබ වැනි විරුවන් අද අපේ ජීවිත සුරක්ෂිත භාවය සනාථ කර ඇති බව අපි පසක් කරගත්තෙමු.

තම ජීවිතයේ ආරක්ෂාව නොතකා තම සහෝදර භට පිරිස වෙනුවෙන් කළ ජීවිත පරිත්‍යාගයට උපහාර ලෙස ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබුවේ ය.

## 3.14 කෝප්‍රල් පී. ඇම්. ඇන්. පුෂ්පකුමාර
**S/ 410053**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 7 වන බළඇණිය<br>ගැමුණු හේවා බලකාය |
| මිය ගිය ස්ථානය | : විශ්වමඩු A 35 මාර්ගය |
| උපන් දිනය | : 1977 ජනවාරි 11 |
| මිය ගිය දිනය | : 2009 පෙබරවාරි 1 |
| වයස | : 32 |
| පදක්කම ලද දිනය | : 2012 මැයි 19 |
| විවාහක/අවිවාහක භාවය | : අවිවාහක |
| මව | : පී. එම්. ඇග්නස් පලන්සූරිය |
| පියා | : ලෙස්ලි රණසිංහ |
| ලිපිනය | : අලුත්වත්ත, මාදම්පේ,<br>අටකලම්පන්න |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය<br>පූර්ණ භූමි<br>උතුරු නැගෙනහිර -සංග්‍රාමික පදක්කම |

**නිලන්ත පුෂ්පකුමාර** 1977 ජනවාරි මස 11 වන දා රත්නපුර නගරයේ උපත ලැබී ය. ඔහු දරුවන් හතර දෙනෙකුගෙන් යුත් පවුලක වැඩිමලා විය. ඔහු මූලික අධ්‍යාපනය හැදෑරුවේ මාදම්පේ විජය මහා විද්‍යාලයෙනි. ඔහු ඒ විද්‍යාලයෙන් අ.පො.ස සාමාන්‍ය පෙළ දක්වා අධ්‍යාපනය ලැබී ය.

පාසල් අධ්‍යාපනයෙන් පසු ව ඔහු ශ්‍රී ලංකා යුද හමුදාවට බැඳී, දියතලාවේ පිහිටි ගැමුණු බලකායට අයත් හමුදා පුහුණු පාසලෙන් ද මූලික පුහුණුව ලැබුවේ ය.

හමුදා පුහුණුවෙන් පසු ඔහු ගැමුණු හේවා බලකායේ 5 වන බළඇණියට ද පසු ව 7 වන බළඇණියට ද අනුයුක්ත කෙරිණි. ඔහු තම කැප වීම සහ කුසලතා LTTE යට එරෙහි ව කළ හමුදා ක්‍රියාන්විතවල දී මනා ව විදහා දැක්වූ රණ විරුවෙකි.

උතුරේ සහ නැගෙනහිර මෙහෙයුම්වල දී ඔහුගේ දායකත්වය ඇගයීම පිණිස පූර්ණ භූමි සම්මානයෙන් පිදුම් ලැබී ය. 50 වන නිදහස් සැමරුම් උත්සවයේ දී ඔහුට උතුරු නැගෙනහිර සංග්‍රාම පදක්කම පිරිනැමිණි.

2009 ජනවාරි මාසයේ දී ශ්‍රී ලංකා යුද හමුදාව A 35 මාර්ග යේ සම්පූර්ණ පාලනය LTTE දැඩි විරෝධතා අභිභවා අත්පත් කරගෙන තිබුණි. හමුදාව A 35 මාර්ගයේ ඉදිරියට යෑමේ දී, සතුරන් විසින් හමුදා ප්‍රහාර නිෂ්ක්‍රීය කිරීම සඳහා විවිධ ක්‍රමෝපාය යොදාගැනිණි. පසු ව කොටි යුද හමුදාව වෙත ප්‍රතිප්‍රහාර එල්ල කළහ.

කෝප්‍රල් පුෂ්පකුමාර අනුයුක්ත ව සිටි 7 වන බළඇණිය, සතුරන්ට ප්‍රහාර එල්ල කොට මේ මාර්ගය, ඔවුන්ගෙන් අත්පත් කරගෙන සිටියහ. පෙබරවාරි මාසය මුල දී පුෂ්පකුමාරගේ භට පිරිස් බොහෝ දෙනෙක් සතුරු ප්‍රහාරවලට ලක් ව තුවාල ලැබූහ. ඔවුන්ට ඉදිරියට එන සතුරාට ප්‍රතිප්‍රහාර එල්ල කිරීමේ ශක්තිය හීන වී තිබුණි. පුෂ්පකුමාර තුවාල ලත් තම භට පිරිස

තනි කොට හැර යෑම දැඩි ව ප්‍රතික්ෂේප කළේ ය. සතුරු භටයන් ප්‍රහාර එල්ල කරමින් ඉදිරියට ම එමින් සිටියේ මේ අතරවාරයේ ය.

පුෂ්පකුමාර ක්ලේමෝ බෝම්බයක් තම සිරුරේ පපු ප්‍රදේශයේ බැඳගත්තේ ය. ඔහු ඉදිරියට එන සතුරන් මැදට පැන බෝම්බය පුපුරවාගත්තේ ය. කොටි විශාල සංඛ්‍යාවක් සමඟ පුෂ්පකුමාර ද ජීවිතක්ෂයට පත් විය. සතුරාගේ ඉදිරි ගමන නැවතිණි.

රණවිරු පුෂ්පකුමාර! තම රට - දැය වෙනුවෙන් සතුරා මරාගෙන මරණය සොයා ගිය ඔබ වෙනුවෙන් තුති පිදීමට අප මුවට වදන් පෙළ ගැස්වීම ද අසීරු කාරණයකි.

තම ජීවිතය පරදුවට තබමින් කළ වීර ක්‍රියාවලට උපහාර පිණිස පුෂ්පකුමාර පරම වීර විභූෂණයෙන් පිදුම් ලද්දේ ය.

## 3.15 සැරයන් ඩී. එම්. එස්. චන්ද්‍රසිරි බංඩාර
## S/462696



| | | |
|---|---|---|
| හමුදා ඒකකය | : | 2 වන රෙජිමේන්තුව,<br>විශේෂ බලකාය. |
| මිය ගිය ස්ථානය | : | පුදුකුඩුඉරිප්පු |
| උපන් දිනය | : | 1977 ජූනි 10 |
| මිය ගිය දිනය | : | 2009 පෙබරවාරි 03 |
| වයස | : | 32 |
| පදක්කම ලැබුණ දිනය | : | 2012 මැයි 19 |
| විවාහක/අවිවාහක භාවය | : | විවාහක |
| මව | : | කේ.පී. කැතරින් සිල්වා |
| පියා | : | ඩී. ඇම්. ගුණපාල |
| බිරිඳ | : | ආර්. ඇම්. කුමාරි රණසිංහ |
| ලිපිනය | : | මහියංගණය පාර, මොරගහ කඳුර,<br>4 වන කණුව, දියකොඹල, බිබිල. |
| ලබාගෙන ඇති පදක්කම් | : | පරම වීර විභූෂණය<br>රණ ශූර පදක්කම |

**දිසානායක මුදියන්සේලාගේ සුගත් චන්ද්‍රසිරි බංඩාර** විශේෂ බලකායට අනුයුක්ත ව සිටියේ ය. ඔහු 4 වන ඊළාම් යුද්ධයේ අවසාන කාලයේ දී තම ජීවිතය පරදුවට තබමින් මරාගෙන මැරෙන කොටි ත්‍රස්තවාදීන්ට එරෙහි ව කළ වික්‍රමයට උපහාර වශයෙන් පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබුවේ ය.

1977 ජූනි 10 වන දින දිසානායක මුදියන්සේලාගේ සුගත් චන්ද්‍රසිරි බංඩාර බිබිල රජයේ රෝහලේ දී උපත ලැබුවේ ය. ඔහුගේ මව කැතරින් සිල්වා වූ අතර පියා දිසානායක මුදියන්සේලාගේ ගුණපාල විය.

චන්ද්‍රසිරි මූලික අධ්‍යාපනය හැදෑරුවේ මොනරාගල වැගම කනිටු විදුහලෙනි. ඔහු ඉගනීමේ කටයුතුවලට අමතර ව වොලිබෝල් ක්‍රීඩාවට ද සමත්කම් දැක්වී ය. ඔහු පාසලේ වොලිබෝල් කණ්ඩායමේ නායකයා වී ප්‍රාදේශීය තරඟ ජයග්‍රහණ තම පාසලට ගෙන දුන්නේ ය.

1996 චන්ද්‍රසිරි ආධුනික පොලිස් භටයකු ලෙස පොලිස් දෙපාර්තමේන්තුවට බැඳුණේ ය. පසු ව 1997 ජූනි 15 ශ්‍රී ලංකා යුද හමුදාවට බැඳී ආධුනික සෙබලෙකු ලෙස විශේෂ බලකා පුහුණු පාසලින් පාඨමාලා අංක 1 පුහුණුව හැදෑරී ය. චන්ද්‍රසිරිගේ දක්ෂතා ඇගයීමට ලක් කර ඔහු හට අභියෝගාත්මක විශේෂ බලකා පාඨමාලා අංක 22 පුහුණුව ද ලබාගැනීමට අවස්ථාව සැලසිණි.

චන්ද්‍රසිරි 2001 මංගලිකා කුමාරි සමඟ විවාහ විය. ඔවුන් සශිකලා සිතුමිණි නම් දුවක් ලැබීමට ද භාග්‍යවන්තයෝ වූහ. විවාහයෙන් පසු ඔවුහු රත්මලානේ පදිංචියට පැමිණියහ.

චන්ද්‍රසිරි LTTE ත්‍රස්තයන්ට එරෙහි ව කෙරුණු ජයසිකුරු, රණ ගොස, අග්නිඛීල වැනි යුද ක්‍රියාන්විතවලට සක්‍රිය ව දායක විය.

ශ්‍රී ලංකා යුද හමුදාව, LTTE ය පුදුකුඩුඉරිප්පුවල ඉතා කුඩා බිම් ප්‍රදේශයකට සීමා කිරීමට සමත් විය. මෙසේ සිරවී සිටි LTTE ය මරාගෙන මැරෙන බෝම්බ කරුවන් යොදා ප්‍රතිප්‍රහාර එල්ල කිරීමට පටන්ගත්තේ ය. විශේෂ සේවා බලකායට අනුයුක්ත චන්ද්‍රසිරි බංඩාර සහ ඔහුගේ කණ්ඩායම මෙවැනි ප්‍රතිප්‍රහාර මැඩ පැවැත්වීම සඳහා යැවිණි.

LTTE ය වෙඩි නොවදින තහඩුවලින් ආවරණය කළ වාහනයක පුපුරණ ද්‍රව්‍ය පුරවා, මරාගෙන මැරෙන කොටි යොදා ශ්‍රී ලංකා හමුදා භට පිරිස් දෙසට ධාවනය කරමින් සිටියේ ය. මෙය නැවැත්විය හැක්කේ RPG ප්‍රහාරයකින් බව චන්ද්‍රසිරි බංඩාරට අවබෝධ විය. චන්ද්‍රසිරි ඉදිරියට එන මරාගෙන මැරෙන වාහනය ඉදිරිපසට ගොස් RPG අවිය මුදා හැරී ය. මරාගෙන මැරෙන රියෙහි එය ගැටුණේ පැත්තකින් ය. එය වාහනය නැවතීමට සමත් නොවී ය. රථය තව තවත් ආසන්න විය. චන්ද්‍රසිරි බංඩාර නැවත ප්‍රහාරයකට තම RPG අවිය සකස් කළේ ය. රථය එන මාර්ගය ඉදිරියෙන් ඔහු දණ ගසා ස්ථාවර ඉරියව්වකින් සිට නියම ඉලක්කය බලා ප්‍රහාරය එල්ල කළේ ය. මේ වන විට රථය සහ චන්ද්‍රසිරි බංඩාර අතර දුර ඉතා අල්ප වූ බැවින් ම රථය චන්ද්‍රසිරි බංඩාර සමඟ ම පුපුරා ගියේ ය.

ජීවිතය දන් දී ඔබ අප අතරින් වෙන්ව ගිය ද සතුරා අබියස යුද ශිල්ප හා දක්ෂ වේගවත් විරුවකු වූ ඔබට අපගේ ප්‍රණාමය පිරිනමන්නෙමු.

මේ වීර වික්‍රමවලට උපහාර පිණිස ඔහුගේ නිලය සැරයන් දක්වා උසස් කෙරිණි. ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබී ය.

## 3.16 කෝප්‍රල් කේ. චන්දන
**S/467722**



| | | |
|---|---|---|
| හමුදා ඒකකය | : | 3 වන රෙජිමේන්තුව, විශේෂ බලකාය, |
| මිය ගිය ස්ථානය | : | මාන්කුලම් |
| උපන් දිනය | : | 1980 පෙබරවාරි 22 |
| මිය ගිය දිනය | : | 2008 ජූලි 25 |
| වයස | : | 28 |
| පදක්කම ලැබුණ දිනය | : | 2012 මැයි 19 |
| විවාහක/අවිවාහක භාවය | : | විවාහක |
| මව | : | බී. ඩී. ඩිංගිහාමි |
| පියා | : | කේ. පොඩිනෝරිස් |
| බිරිඳ | : | ඩබ්ලිව්. එච්. එම්. මල්කාන්ති |
| ලිපිනය | : | වටගොඩ ගෙදර, බද්දෙවෙල, ගවරවෙල, දෙමෝදර. |
| ලබාගෙන ඇති පදක්කම් | : | පරම වීර විභූෂණය |

චන්දන 1980 පෙබරවාරි 22 හම්බන්තොට දිස්ත්‍රික්කයේ මොරයාය ප්‍රදේශයට අයත් වැකඳවල ගමේ උපත ලැබුවේ ය. ඔහුගේ මව ඩබ්ලිව් ඩිංගිහාමි වූ අතර පියා කේ. පොඩිනේරිස් විය. ඔහුගේ පවුලේ සොහොයුරු සොහොයුරියෝ නව දෙනෙක් වූහ.

චන්දන මූලික අධ්‍යාපනය ලැබුවේ හම්බන්තොට ගෙ ්නදෙනිය මහ විදුහලෙහි ය. අධ්‍යාපන කටයුතුවලට අමතරව චන්දන කලාකටයුතු සහ ක්‍රීඩාවලට සමත්කම් දැක්වී ය. නාට්‍ය හා රංග කලාවට නැඹුරු වී පාසලේ නාට්‍යවල රණකාමී චරිත රඟපෑවේ ය. දක්ෂ වොලිබෝල් ක්‍රීඩකයෙක් විය. කරාටේ කළු පටි ධාරියෙක් ද විය.

2002 අගෝස්තු 20 චන්දන ආධුනික සෙබලකු ලෙස ශ්‍රී ලංකා යුද හමුදාවට බැඳුණේ ය. ශ්‍රී ලංකා පාබල හමුදා පුහුණු පාසලේ අංක 43 දරණ ආධුනික පාඨමාලාව සාර්ථක ව නිම කිරීම නිසා ඔහුව විශේෂ බලකා මූලික පුහුණු පාඨමාලා අංක 31 පුහුණුවට ද නිර්දේශ විය.

කේ. චන්දන විශේෂ සේවා බලකායේ දිග දුර මෙහෙයුම් (LRRP) ක්‍රියාන්විතවලට පුහුණුව ලත් සොල්දාදුවෙකි. ඊළාම් යුද්ධය අවසාන වීමට ආසන්න කාලයේ දී ඔහු සතුරු බල ප්‍රදේශවලට රහසින් ඇතුළු වී ඔවුන්ගේ මර්මස්ථානවලට සහ සතුරු ජ්‍යෙෂ්ඨ නිලධාරීන්ට ප්‍රහාර එල්ල කිරීමේ දුෂ්කර ක්‍රියාන්විතවල යෙදී සිටියේ ය.

2008 ජූලි මස මැද භාගයේ දී 6 දෙනෙකුගෙන් යුත් LRRP කණ්ඩායමකට චන්දන ද ඇතුළත් විය. ඔවුහු කොටි බල ප්‍රදේශයකට රහසින් ඇතුළු වී එහි කිලෝමීටර් 30 පමණ ඇතුළට ගොස් A 9 මාර්ගයේ මාන්කුලම් සහ කිලිනොච්චි අතර ස්ථාපිත කර තිබූ කොටි මර්මස්ථානයකට රහසිගත ව ප්‍රහාර එල්ල කර කොටි නායකයින් දෙදෙනෙකු ජීවිතක්ෂයට පත් කළහ.

තම මෙහෙය සාර්ථක ව ඉටු කිරීමෙන් පසු ඔවුන් කොටි පාලන ප්‍රදේශයෙන් රහසිගත ව ඉවතට ගිය අතර, ඔවුන් හට මාන්කුලම් - තුනුක්කායි මාර්ගය හරහා යෑමට සිදු විය. මෙහි දී ඔවුහු අනපේක්ෂිත LTTE ප්‍රහාරයකට ලක් වූහ. චන්දනගේ කණ්ඩායමට තුවාල සිදු විය. මේ කණ්ඩායමේ නායකයා වන සැරයන් ජයකොඩි ඉදිරියෙන් සිටිමින් කොටින් හට ප්‍රතිප්‍රහාර එල්ල කරමින් සතුරාගේ අවධානය ඔහු වෙත ලබාගෙන, තම තුවාල වූ සගයින් ආරක්ෂිත ස්ථානවලට ගෙන යෑමට ඉඩ සලසා දුන්නේ ය. වෙඩි පහර ලත් චන්දන ද ඇවිදීමට නොහැකි තත්ත්වයට පත් ව සිටියේ ය. චන්දන, සතුරාට ප්‍රතිප්‍රහාර එල්ල කිරීමේ වගකීම සියතට ගෙන කණ්ඩායමේ අනෙක් පිරිසෙන් ඉල්ලා සිටියේ ආරක්ෂාව ඇති ස්ථානවලට පසුබසින ලෙස ය. මෙය ඔහු විසින් ම දැන දැන ම තම මරණ වරෙන්තුව ලිවීම වැනි මාරාන්තික ක්‍රියාවකි. තමා LTTE වෙඩි පහරින් නියත ව ම මිය යන බව ඔහු දැන සිටියේ ය.

චන්දන එක දිගට ප්‍රතිප්‍රහාර එල්ල කරමින් කොටින්ගේ අවධානය ඔහු වෙතට ම ගත් අතර, ඔහුගේ කණ්ඩායම ආරක්ෂිත ස්ථාන කරා පසුබැස ගියහ.

මේ වික්‍රමාන්විත ක්‍රියාව ඇගයීමක් ලෙස චන්දනගේ නිලය කෝප්‍රල් දක්වා උසස් කෙරුණු අතර, ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලද්දේ ය. මේ වීර සෙබළා ද පරාර්ථයේ මානවයෙකු ලෙස අප ලක් ඉතිහාසයේ රන් අකුරින් ම ලියැවෙනු නිසැක ය.

## 3.17 ලාන්ස් කෝප්‍රල් ආර්. එම්. ඩී. එම්. රත්නායක **S/197405**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 6 වන බළඇණිය, ශ්‍රී ලංකා පාබල හමුදාව |
| මිය ගිය ස්ථානය | : වලේයි |
| උපන් දිනය | : 1990 ජනවාරි 29 |
| මිය ගිය දිනය | : 2009 මැයි 11 |
| වයස | : 19 |
| පදක්කම ලැබුණ දිනය | : 2012 මැයි 19 |
| විවාහක/අවිවාහක භාවය | : අවිවාහක |
| මව | : ඩී. ඇම්. යසවතී |
| පියා | : ආර්. එම්. පුංචි බණ්ඩා |
| ලිපිනය | : යාලගමුව, ගල්පොතුදූව, අඹගස්කැටිය, ලුනුවත්ත. |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය |

රත්නායක පරම වීර විභූෂණයෙන් පිදුම් ලත් ළාබාලතම රණවිරුවා ලෙස ඉතිහාසගත ව තිබේ.

1990 ජනවාරි 29 රත්නායක මුදියන්සේලාගේ දිල්ෂාන් මධුසංඛ බදුලු දිස්ත්‍රික්කයේ ඌව පරණගම ප්‍රදේශයේ යාලගමුව ග්‍රාමයේ උපත ලැබුවේ ය. ඔහුගේ මව දිසානායක මුදියන්සේලාගේ යසවතී වූ අතර පියා රත්නායක මුදියන්සේලාගේ පුංචි බංඩා විය. රත්නායක මූලික අධ්‍යාපනය යාලගමුව මහා විද්‍යාලයෙන් ආරම්භ කර වැඩිදුර අධ්‍යාපනය බණ්ඩාරවල මාහපත්න බණ්ඩාරනායක විද්‍යාලයෙන් ලබාගත්තේ ය. මොහු අධ්‍යාපන කටයුතුවලට අමතරව බාහිර ක්‍රියාකාරකම් වලදී ද දක්ෂකම් දැක්වී ය. රත්නායක වොලිබෝල්, දුර දිවීම්, හෙල්ල සහ කවපෙත්ත විසි කිරීම වැනි ඉරියවුවලින් දක්ෂතා දැක්වී ය.

2008 මැයි 21 ශ්‍රී ලංකා යුද හමුදා නිත්‍ය බලසේනාවට ඇතුළත් වී මූලික පුහුණුව බූස්ස පාබල හමුදා පාසලෙන් ලබාගත්තේ ය.

2009 මැයි මාසයේ 11 වන දින වන විට, ශ්‍රී ලංකා හමුදාවට LTTE ය ගොඩනැගූ ආරක්ෂිත පස්බැම් කිහිපයක් ම තම ග්‍රහණයට හසුකරගැනීමට හැකියාව ලැබිණ.

යුද හමුදාව කණ්ඩායම් දෙකකට බෙදී නන්දිකඩාල් කළපුව මුහුදින් වෙන්වන බිම් තීරුව දෙසට සූක්ෂම ව සංක්‍රමණය වීමට පටන්ගත්තේ ය. මේ කාලය වන විට කොටින් සිටියේ මේ බිම් තීරුවට පමණක් සීමා වෙමිනි. තව ද ඔවුන් දහස් ගණනකින් යුත් අහිංසක සිවිල් වැසියන් මිනිස් පලිහක් සේ යොදාගනිමින් ශ්‍රී ලංකා යුද හමුදා ප්‍රහාර වැළැක්වීමට උත්සාහ දැරූහ.

මේ වන විට 55 වන කණ්ඩායම චලේයි වෙරළ දිගේ ඉදිරියට එමින් සිටියහ. මුහුදු කොටි කඳවුරු බොහොමයක් විනාශ වී තිබූ අතර, ඔවුහු තම සැහැල්ලු බෝට්ටු රැසක් නන්දිකඩාල් කළපුවට ගෙනවිත් තිබුණහ. මේවා මරාගෙන මැරෙන බෝට්ටු

ලෙස යොදා ගෙන ශ්‍රී ලංකා යුද හමුදාව කළපුව හරහා ඉදිරියට පැමිණීම වැළැක්වීමට උපාය මාර්ගයක් ලෙස භාවිත කළහ.

මැයි 11 වන දා රත්නායක අනුයුක්ත ව සිටි 6 වන පාබල හමුදාව ක්‍රමයෙන් කළපුව හරහා තාවකාලික ව ගොඩනඟා ගත් පාරු මඟින් ඉදිරියට එන්නට වූහ. රත්නායක සහ පිරිස මීටර් 300 පමණ කළපුවේ නොගැඹුරු පෙදෙසින් ඉදිරියට යන අතරේ මරාගෙන මැරෙන කොටි බෝට්ටුවක් ඔවුන්ගේ දර්ශන පථයට හසු විය.

ඉදිරියට එන ශ්‍රී ලංකා හමුදා භටයින් දුටු මරාගෙන මැරෙන කොටි බෝට්ටුව ඔවුන් විනාශ කිරීම සඳහා වේගයෙන් ඔවුන් දෙසට ධාවනය කිරීම ඇරඹුවේ ය. රත්නායකගේ සහෝදර භට පිරිස, කොටි බෝට්ටුවෙන් ආරක්ෂා වීමට කළපුවේ ගැඹුර අඩු ස්ථානවලට යෑමට උත්සාහ කළහ. නමුත් රත්නායක ඔහු සිටි ස්ථානය වෙනස් නොකළේ ය. ඔහු තම අවිය ගෙන වේගයෙන් ඉදිරියට එන මරාගෙන මැරෙන කොටි බෝට්ටුවට ප්‍රහාර එල්ල කිරීමට පටන්ගත්තේ ය. රත්නායක මෙන් ම කොටි බෝට්ටුව ද තමන්ගේ ගමන් මඟ වෙනස් නොකළහ. දෙපාර්ශ්වය ම මුහුණට මුහුණ ලා අභීත ව ප්‍රහාර එල්ල කරගත්හ. බෝට්ටුවට රත්නායකගේ ප්‍රහාර කිහිපයක් වැදුණි. එහෙත් එය රත්නායක සමීපයේ දී විශාල පිපිරීමකට ලක් විය. රත්නායක සමඟ ම පුපුරා ගිය කොටි බෝට්ටුව විශාල ගිනි ජාලාවක් සේ අසල සිටි පිරිසට දර්ශනය විය.

තම ජීවිතය පරදුවට තබා සිය මවුබිම වෙනුවෙන් අභීත යුද ක්‍රියාන්විතයක නියැළුණු රත්නායකගේ වීර වික්‍රමයට උපහාර ලෙස ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලද්දේ ය.

ආධුනික සෙබළ රත්නායක වයස 19 දී තම මාතෘ භූමියේ භෞමික අඛණ්ඩතාව රැකගැනීම සඳහා තම ජීවිත පරිත්‍යාග යෙන් කළ සේවයට සම කළ හැකි සේවයක් පරමායුෂ වළඳා අභාවප්‍රාප්ත වූ බොහෝ ආත්මාර්ථකාමී පිරිස් විසින් සිදු නොකළ බවට සැක නැත.

## 3.18 කෝප්‍රල් ඒ. ඇම්. ඇම්. පී. අබේසිංහ **S/317077**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 8 වන බළඇණිය,<br>ශ්‍රී ලංකා පාබල හමුදාව. |
| මිය ගිය ස්ථානය | : තුණුක්කායි |
| උපන් දිනය | : 1982 ජනවාරි 30 |
| මිය ගිය දිනය | : 2008 ජූලි 25 |
| වයස | : 26 |
| පදක්කම ලැබූ දිනය | : 2012 මැයි 19 |
| විවාහක/අවිවාහක භාවය | : අවිවාහක |
| මව | : ආර්.ඇම්. පුංචිනෝනා |
| පියා | : ඒ.ඇම්. බාලප්පුහාමි |
| ලිපිනය | : අඹගහපිටිය, බුද්දම,<br>මොණරාගල. |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය<br>පූර්ණභූමි පදක්කම<br>උතුරු නැගෙනහිර- සංග්‍රාමික පදක්කම |

**මධුශංක ප්‍රියනාත් අබේසිංහ** 1982 ජනවාරි 30 වන දා සිරියාගල දිස්ත්‍රික් රෝහලේ දී මෙලොව එළිය දුටුවේ ය. ඔහුගේ පවුලේ සහෝදරයන් තිදෙනෙකු සහ අනෝමා නමින් එක් සහෝදරියක සිටි අතර, ඇය ද සෙබළියක ලෙස යුද හමුදාවට අනුයුක්ත ව සිටියා ය. අබේසිංහ අධ්‍යාපනය හැදෑරුවේ බුද්දම මහා විද්‍යාලයෙනි.

2002 දෙසැම්බර් 7 වැනි දා ශ්‍රී ලංකා යුද හමුදා නිත්‍ය බලසේනාවට ආධුනික සෙබළෙකු ලෙසට එක්වී පුහුණු පාඨමාලා අංක 38 සාර්ථකව හැදෑරුවේ ය. උතුරු නැගෙනහිර යුද ක්‍රියාන්විතවලට සක්‍රිය ව දායකත්වය දැක්වී ය.

මාවිල්ආරු සොරොව්ව බේරාගැනීමෙන් ඇරඹුණ මානුෂීය යුද මෙහෙයුම්වලට දායක වෙමින්, කට්ටපරිච්චාන් තෝපුර් නගරය මුදාගැනීම, පෙරියතම්පන් ප්‍රදේශය මුදාගැනීම, ත්‍රස්තයන්ගේ වියට්නාම් බේස්, කඳවුර අත්පත් කරගැනීම සහ පාලම්පිඩ්ඩි නගරය මුදාගැනීමට ද දායක විය.

2008 ජූනි මාසයේ දී අබේසිංහ අනුගත ව සිටි 8 වන පාබල හමුදා ඒකකය හට තුනුක්කායි LTTE බල ප්‍රදේශයට ප්‍රහාර එල්ල කිරීමට අණ ලැබී තිබුණි. අබේසිංහ RPG ප්‍රහාරකයකු ලෙස (Grenadier) තම කණ්ඩායමට අනුයුක්ත ව සිටියේ ය. ඔහුගේ රාජකාරිය වූයේ ඉතා ශක්තිමත් ව ගොඩනගා ඇති කොටි බංකර විනාශ කිරීම ය.

ජූනි 25 වන දින අලුයම අඩ අඳුරේ අබේසිංහගේ කණ්ඩායම කොටි බල ප්‍රදේශයේ ඉදිරි ආරක්ෂක වළල්ලේ ඇති බංකර පෙළකට අනපේක්ෂිත ප්‍රහාරයක් එල්ල කළහ. ඉන් නොනැවතී අබේසිංහ සහ පිරිස කොටින්ගේ දෙවන ආරක්ෂිත වළල්ලේ බංකරවලට ප්‍රහාර එල්ල කිරීමට ඉදිරියට ගියහ. මේ වන විට සතුරා ද සටනට සූදානම් ව සිටියේ ය. අබේසිංහ තම සගයන්ට පෙර අනපේක්ෂිත ස්ථානයක ගොඩනගා තිබූ කොටි බංකරයක් නිරීක්ෂණය කළේ

අහම්බෙන් මෙනි. ඔහු තම කණ්ඩායම පැමිණීමට පෙර වහා ම ක්‍රියාත්මක වී බංකරයට RPG ප්‍රහාර එල්ල කළේ ය. මේ ප්‍රහාරවල දී ඔහුට වෙඩි වැදුණ නමුත්, තම තුවාල ගැන නොසලකා ඔහු අනෙකුත් බංකර පිහිටා ඇති ස්ථාන නිරීක්ෂණය කරමින් ප්‍රහාර එල්ල කළේ ය.

අබේසිංහගේ RPG වෙඩි අවසාන විය. ඔහු තම සගයින්, කොටි බංකරයෙන් එන ප්‍රහාරවලින් ආරක්ෂා කිරීමේ දැඩි අධිෂ්ඨානයෙන් ම සිටියේ ය. අබේසිංහ තම දෑතට ග්‍රෙනේඩ් බෝම්බ දෙකක් ගෙන ඒවා සක්‍රීය කරගනිමින් කොටි බංකරයට පැන්නේ ය. එහි සිටි කොටි සමඟ ම අබේසිංහ ද ජීවිතක්ෂයට පත් විය. අබේසිංහගේ වික්‍රමාන්විත ක්‍රියාවට ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලද්දේ ය.

හුදෙකලා වූ සෙබළෙකු ලෙස වුව ද එදා අබේසිංහ මවුරට වෙනුවෙන් දුන් පොරොන්දුව නොපැකිළ - අනලස් ව ඉටු කොට ලක් මෑණියන්ගේ වීර පුත්‍රයෙකු බවට ම පත් වූයේ එලෙස ය.

## 3.19 ලාන්ස් කෝප්‍රල්
## ඒ. ඇම්. බී. එච්. පී. අබේරත්න බංඩා
## **S/198852**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 21 වන බළඇණිය, ශ්‍රී ලංකා සිංහ බලකාය. |
| මිය ගිය ස්ථානය | : විශ්වමඩු |
| උපන් දිනය | : 1988 ජූලි 13 |
| මිය ගිය දිනය | : 2009 ජනවාරි 29 |
| වයස | : 21 |
| පදක්කම ලැබූ දිනය | : 2012 මැයි 19 |
| විවාහක/අවිවාහක භාවය | : අවිවාහක |
| මව | : ඒ. ඇම්. බිසෝමැණිකේ. |
| පියා | : ඒ. ඇම්. උක්කුබණ්ඩා |
| ලිපිනය | : 160/5, මාගොඩ, මැදමහනුවර, මහනුවර. |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය |

1988 ජූලි 13 වන දින අබේකෝන් මුදියන්සේලාගේ බිරාහේන ගෙදර අබේරත්න බංඩා, මාංගොඩ, මැද මහනුවරදී උපත ලැබුවේ ය. ඔහුගේ මව කට්ටුගෙදර බිසෝමැණිකා ද, පියා අබේකෝන් මුදියන්සේලාගේ බිරාහේන ගෙදර උක්කු බංඩා ද විය. ඔහු හට සහෝදර සහෝදරියෝ අට දෙනෙක් වූහ.

ඔහු ප්‍රාථමික අධ්‍යාපනය රඹුක්පොත ප්‍රාථමික විද්‍යාලයෙන් ලබාගත් අතර උසස් අධ්‍යාපනය නමදගල උඩවෙල කනිෂ්ඨ විද්‍යාලයෙන් සම්පූර්ණ කරගත්තේ ය. ඔහු පාසලේ අධ්‍යාපන කටයුතුවලට මෙන් ම බාහිර ක්‍රියාකාරකම් වලට ද සහභාගි විය. තම දෙමව්පියන්ගේ ගොවිතැන් කටයුතුවලට ද අනලස් ව දායක විය.

2008 මැයි 17 වැනි දා ශ්‍රී ලංකා යුද හමුදාවේ නිත්‍ය සේවයට ආධුනික සෙබළෙකු ලෙසට අනුයුක්ත වූ ඔහු 4වන සන්නාහ සන්නද්ධ බලකා මූලස්ථානය ක්ලැපන්බර්ග් හි ආධුනික පාඨමාලා අංක 10 පුහුණුව ලබාගත්තේ ය. ශ්‍රී ලංකා සිංහ රෙජිමේන්තුවේ 14 වන බල ඇණියට අනුයුක්ත වූ ඔහු පසු ව 21 වන රෙජිමේන්තුවට අනුයුක්ත කෙරිණි.

ඔහුගේ අවසාන ක්‍රියාන්විතය 2009 දී කොටි බල ප්‍රදේශයක් ව තිබූ විශ්වමඩු ශ්‍රී ලංකා හමුදාවේ පාලනයට ගැනීම විය. ඔහු මෙහි අවසන් අදියරේ දී තම සහෝදර භට පිරිසගේ ජීවිත ආරක්ෂාව සඳහා වෙඩි ප්‍රහාර මැද කොටි බංකරයකට පැන ග්‍රනේඩයක් පුපුරුවා ගනිමින් සතුරා විනාශ කර ජීවිතක්ෂයට පත් විය.

මුලතිව්හි ස්ථාපිත ව තිබූ LTTE ප්‍රධාන හමුදා මධ්‍යස්ථානය 2009 ජනවාරි 25 වන දා ශ්‍රී ලංකා යුද හමුදාව විසින් යටත් කරගැනිණි. තව ද ශ්‍රී ලංකා යුද හමුදාවට LTTE ය පුදුකුඩුඉරිප්පු සහ විශ්වමඩු ප්‍රදේශවලට කොටුකර තැබීමට හැකියාව ලැබී තිබුණි. 58 වන කණ්ඩායමට A 35 මාර්ගයෙන් විශ්මවඩු කරා ගමන් කිරීමට සහ විශ්වමඩු ප්‍රහාරය 21 වන බළඇණියටත් භාර

දී තිබුණි. අබේරත්න බංඩා 21 වන බළඇණියේ විශ්වමඩු ප්‍රහාරයට අනුයුක්ත ව සිටියේ ය.

2009 ජනවාරි 29 වන දින අලුයම ශ්‍රී ලංකා යුද හමුදා ප්‍රහාරය ආරම්භ විය. ඇඳිරි වැටීමත් සමඟ ශ්‍රී ලංකා හමුදාව විසින් LTTE බල ප්‍රදේශයේ කොටසක් අත්පත් කරගැනීම සඳහා එහි ඉදිරි ආරක්ෂක වළල්ලේ බංකරවලට ප්‍රහාර නිකුත් කිරීමට කණ්ඩායමක් යවා තිබුණි. මේ කණ්ඩායමට අබේරත්න බංඩා ද සහභාගි විය. ඔවුන් සාර්ථක ව බංකර විනාශ කළ අතර, මේ ක්‍රියාන්විතයේ දී අබේරත්න බංඩා වෙඩි වැදී තුවාල විය.

පළමු ප්‍රහාරයෙන් ටික වේලාවකට පසු LTTE ය තම දෙවන ආරක්ෂක වළල්ලේ සිට දැවැන්ත ප්‍රහාර එල්ල කිරීමට පටන්ගත්තේ ය. තුවාල වූ යුද හමුදා භට සංඛ්‍යාව ඉහළ යමින් තිබුණි. කොටි ද නොනවත්වා දරුණු ප්‍රහාර එල්ල කරමින් සිටියහ. සතුරා තම කණ්ඩායමට වඩා බලවත් බව අබේරත්න අවබෝධ කරගත්තේ ය. ඔහු සතුරු වෙඩි ප්‍රහාර නොතකා ඉදිරියට දිවගොස් කොටි බංකරයට පැන ග්‍රනේඩය පුපුරවාගත්තේ ය. අබේරත්න සමඟ එහි සිටි සතුරු පිරිස විනාශ විය. කොටි ප්‍රහාරය නැවතිණ. අබේරත්නගේ ඉතිරි වූ කණ්ඩායමට නැවත සැපයුම් ලැබෙන තෙක් සිටීමට ඉන් ඉඩහසර ලැබිණ.

ශ්‍රී ලංකා යුද හමුදාවට විශ්වමඩු නගරය කොටි ග්‍රහණයෙන් මුදවාගැනීමට හැකි වූයේ මේ සාර්ථක ප්‍රහාරය නිසා ය. එයට අමතර ව LTTE ය සන්තකයේ තිබූ යුද අවි විශාල ප්‍රමාණයක් ද හමුදාව සතු කර ගැනීමට හැකි විය.

අබේරත්න බංඩාගේ වීර වික්‍රමයට උපහාර පිණිස ඔහුගේ නිලය ලාන්ස් කෝප්‍රල් දක්වා උසස් කෙරුණු අතර, ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලද්දේ ය. ඔහු ද පරාර්ථයේ ශ්‍රී ලාංකේය දරුවෙකු මෙන් ම වීර පුත්‍රයෙකු බව අපි අභිමානයෙන් ම සටහන් තබන්නෙමු.

## 3.20 ලාන්ස් කෝප්‍රල් ටී. ජී. ආර්. දයානන්ද
**S/319509**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 8 වන බළඇණිය,<br>ශ්‍රී ලංකා පාබල හමුදාව, |
| මිය ගිය ස්ථානය | : කිලිනොච්චිය |
| උපන් දිනය | : 1988 ඔක්තෝබර් 6 |
| මිය ගිය දිනය | : 2008 සැප්තැම්බර් 16 |
| වයස | : 20 |
| පදක්කම ලැබුණ දිනය | : 2012 මැයි 19 |
| විවාහක/අවිවාහක භාවය | : අවිවාහක |
| මව | : ජී. ඩී. ටී. එස්. චන්ද්‍රා ඥානගුරු |
| පියා | : ටී. ජී. දයානන්ද |
| ලිපිනය | : 662/බී, සේවා ජනපදය,<br>පදවි ශ්‍රී පුර |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය<br>රණ වික්‍රම පදක්කම |

තලහිටිය ගමරාලලාගේ දර්ශන රුවන් දයානන්ද 1988 ඔක්තෝබර් 6 වන දින මෙලොව එළිය දුටුවේ ය. ඔහුට සහෝදරියෝ තුන් දෙනෙක් සහ සොහොයුරෝ දෙදෙනෙක් වූහ. ඔහු පලුගස්නුවර මහා විද්‍යාලයෙන් අධ්‍යාපනය ලැබී ය. අ:පො:ස: සාමාන්‍ය පෙළ විභාගය සමත් වීමෙන් පසු 2007 මාර්තු 9 වන දින දයානන්ද ශ්‍රී ලංකා යුද හමුදාවට බැඳුණේ රට දැය හා එහි අනාගතය පිළිබඳ ව පැතුම් පුරවාගෙන විය යුතු ය.

ඔහුගේ මූලික හමුදා පුහුණුව රණසෙවණපුර හමුදා පුහුණු කඳවුරින් ලබාගත් පසු, ශ්‍රී ලංකා පාබල හමුදාවේ 8 වන බළඇණියට අනුයුක්ත කෙරිණි.

2007 දී දයානන්ද ත්‍රස්තවාදීන්ගේ ප්‍රධාන සැපයුම් මාර්ගයක් වූ මඩු පල්ලිය හා පාලම්පිඩ්ඩි මාර්ගය අත්පත් කරගැනීමේ ක්‍රියාන්විතයට සක්‍රිය ව දායක විය. ත්‍රස්තයන් සමඟ මුහුණට මුහුණලා කෙරුණු ඒ දරුණු සටනට කළ උපහාරයක් ලෙස ඔහු හට රණ වික්‍රම පදක්කම පිරිනැමිණි.

කිලිනොච්චි සහ අක්කරයන්කුලම් නගර අතර ඇති ප්‍රධාන කොටි සැපයුම් මාර්ගය අත්පත් කරගැනීමේ මෙහෙයුම 2008 සැප්තැම්බර් 16 වන දා ආරම්භ විය. මේ මෙහෙයුමට දයානන්ද සහභාගි විය.

පසුදින ඉදිරියට ගමන් කරමින් සිටි ශ්‍රී ලංකා යුද හමුදා බළසේනා වෙත ත්‍රස්තවාදීන්ගේ කාලතුවක්කු මෝටාර් සහ බර අවි සහිත ප්‍රබල ප්‍රහාරයක් එල්ල වූ අතර, ප්‍රහාරය වඩාත් දරුණු කළ ත්‍රස්තවාදීහු රැල්ලක් ලෙසින් ප්‍රහාර එල්ල කරමින් මුදාගත් ප්‍රදේශයට කඩාවැදීමට යත්න දැරූහ. තම හට පිරිසෙහි පළපුරුදු මැෂින් තුවක්කු කරුවකු වූ දයානන්ද තම හට පිරිස අනාරක්ෂිත තත්ත්වයට පත් ව ඇති බව වටහා ගත්තේ ය. ඔහු තම (General - Purpose - Machine - Gun) අවියෙන් ප්‍රතිප්‍රහාර එල්ල කරන්නට විය. ඔහු බිම දිගා වී තම අවිය ඉතා ශූර ලෙස මෙහෙයවමින් එක දිගට එන ත්‍රස්තවාදී පිරිස් රැල්ල මැඩ පැවැත්වී ය.

දයානන්ද තනි ව ම සිදු කළ මේ ප්‍රහාරය නිසා තුවාල වූ සහෝදර භට පිරිසට ආරක්ෂිත ස්ථාන කරා යා හැකි විය. අවසානයේ ඔහුගේ පතරොම් අවසන් වූයෙන් ඉදිරියට එන කොටින්ගේ වෙඩි පහරවලට ලක් වී මරණයට පත් විය. මොහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලත් දෙවන ළාබාලතම රණවිරුවා ලෙස වාර්තා වේ.

මේ වීර සෙබළා ඊට උපහාර පිණිස පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබී ය. හුදෙකලා වූ සෙබළෙකු ලෙස වුව ද සිය පිරිසට හා මවුබිමට ඔහු ආදරය කළේ එවන් අමිල පරාර්ථයකිනි.

## 3.21 කපිතාන් පී. ඇන්. පුන්සිරි
**O/66009**



| | | |
|---|---|---|
| හමුදා ඒකකය | : | 3 වන බළඇණිය,<br>ගජබා රෙජිමේන්තුව |
| මිය ගිය ස්ථානය | : | පාලම්පිඩ්ඩි |
| උපන් දිනය | : | 1983 ජනවාරි 27 |
| මිය ගිය දිනය | : | 2007 ජූලි 02 |
| වයස | : | 24 |
| පදක්කම ලැබුණ දිනය | : | 2013 මැයි 18 |
| විවාහක/අවිවාහක භාවය | : | විවාහක |
| මව | : | ආර්. එම්. ධර්මවතී |
| පියා | : | පී. ජී. පොඩිමහත්තයා |
| බිරිඳ | : | අනුෂා කෞෂල්‍යා |
| ලිපිනය | : | 14/19/2, කුසුම් පොකුණ<br>දිවුලන්කඩවල, මැදිරිගිරිය. |
| ලබාගෙන ඇති පදක්කම් | : | පරම වීර විභූෂණය<br>පූර්ණභූමි, උතුර නැගෙනහිර සංග්‍රාමික, දේශ පුත්‍ර |

**පත්තිනිගේ නුවන් පුන්සිරි** 1983 ජනවාරි 27 වන දා මෙලොව එළිය දුටුවේ ය. ඔහු ප්‍රාථමික අධ්‍යාපනය දිවුලන්කඩවල මධ්‍ය මහා විද්‍යාලයෙන් ද, ද්විතීයික අධ්‍යාපනය මැදිරිගිරිය ජාතික පාසලින් ද ලබාගත්තේ ය. 2002 ජූලි 02 වන දා ඔහු කැඩෙට් නිලධාරියෙකු ලෙස යුද හමුදාවට බැඳුණේ ය. දියතලාවේ යුද හමුදා පුහුණු පාසලින් පුහුණුව ලබාගත් පුන්සිරි, දෙවන ලුතිනන් වරයෙකු ලෙස ගජබා රෙජිමේන්තුවේ 3 වන බළඇණියට අනුයුක්ත වූයෙන්, ඔහුට උතුරු සහ නැගෙනහිර හමුදා මෙහෙයුම් වලට සක්‍රීය ව සහභාගිවීමේ අවස්ථාව ලැබිණ.

2007 ජූලි 2 වන දා පුන්සිරි කුඩා කණ්ඩායමක් සමග කොටි බල ප්‍රදේශයක නිරීක්ෂණ මෙහෙයුමක යෙදුණේ ය. කොටි බල ප්‍රදේශයට රහසිගත ව ඇතුළු වූ පුන්සිරි ඇතුළු පිරිස, එහි සිදු විය හැකි සතුරු ප්‍රහාර අධීක්ෂණය කර පාලම්පිඩ්ඩිහි ප්‍රහාරයක් කිරීමට සුදුසු ස්ථානයක ස්ථානගත වූහ. අනතුරු ව තමන්ට නුදුරින් සතුරු කණ්ඩායමක් දෛනික ව කටයුතුවල යෙදෙමින් සිටින බව නිරීක්ෂණය වූ බැවින්, ලුතිනන් පුන්සිරි අණදෙන නිලධාරි හට ඒ බව දන්වා සතුරු ක්‍රියාකාරකම් ඇති ස්ථාන වෙත මිලි මීටර් 81 මෝටර් ප්‍රහාර හා කාලතුවක්කු ප්‍රහාර නිවැරදි ව එල්ල කළේ ය. පසු ව ඒ බව කොටි ගුවන් විදුලි පණිවිඩ මඟින් ද අනාවරණය විය.

එදින ම ඉදිරි ආරක්ෂක වළල්ලෙන් ඉදිරියට ගොස් ස්ථානගත ව සිටි තවත් ශ්‍රී ලංකා යුද හමුදා නිරීක්ෂණ කණ්ඩායමක්, 30 දෙනෙකුගෙන් යුත් සතුරු පිරිසක් පුන්සිරි ස්ථානගත වී ඇති ප්‍රදේශයට ගමන් කරනු නිරීක්ෂණය කර ඒ බව වහා ම දැන්වූහ. පුන්සිරි තම පිරිසේ සෙසු සාමාජිකයින් ද සමග ක්ෂණික ප්‍රහාරයක් සඳහා සූදානම් කර උපරිම වෙඩි බලය සහ ක්ලේමෝ බෝම්බ ප්‍රහාරයක් ද යොදාගනිමින් සතුරාට දැඩි ප්‍රහාරයක් එල්ල කළේ ය.

නමුත් ප්‍රහාරයෙන් ඉතිරි වූ සතුරන් නැවත සංවිධානය වී වෙනත් දිශාවකින් පැමිණ පුන්සිරිගේ කණ්ඩායමට දරුණු ප්‍රහාර එල්ල කිරීමට පටන්ගත්තේ අනපේක්ෂිත පරිදි ය. සතුරාගේ මේ

හදිසි ප්‍රහාරය ක්‍රමයෙන් තීව්‍ර වන්නට පටන්ගත්තේ ය. සතුරු පිරිස් බලය ක්‍රමයෙන් වර්ධනය වනු පෙනිණ. පුන්සිරි තම තුවාල වූ සගයන් ආරක්ෂිත ස්ථානවලට ගෙන යෑමට අණ දුන්නේ ය. පුන්සිරි සතු වෙඩි බලය ද අඩුවෙමින් පැවතුණි. නමුත් මේ රණවිරුවා තම සහෝදර භට පිරිසෙහි ආරක්ෂාව වෙනුවෙන් දිගට ම අභීත ව සටන් කළේ ය. ඔහු සහ තවත් භටයන් කිහිප දෙනෙක් ඉතිරි වී ඇති කුමක් හෝ ආයුධවලින් සතුරාට දිගට ම පහර දුන්හ.

අවසානයේ දී පුන්සිරි තම දෑතට අත්බෝම්බ දෙකක් ගෙන සතුරු කණ්ඩායම මැදට පැන එය පුපුරුවාගත්තේ ය. මෙයින් රණවිරුවාගේ මෙන් ම සතුරු පිරිසෙහි විශාල සංඛ්‍යාවකගේ ද මරණය සිදු විය.

ඔහුගේ වීර ක්‍රියාවට උපහාර ලෙස කපිතාන් තනතුරට නිලයෙන් උසස් කළ අතර, පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබුවේ ය. සිය වගකීම අවසන් ලේ බිංදුව දක්වා පෙරට ම ගෙන ගිය උදාර පුත්‍රයෙකු මෙලෙස අපට අහිමි වීමත් අභාග්‍යයකි.

## 3.22 ලුතිනන් ඩබ්ලිව්. ඩී. ජයතිලක
**O/416581**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 9 වන බළඇණිය, ගැමුණු හේවා බලකාය |
| මිය ගිය ස්ථානය | : ඉරණමඩු |
| උපන් දිනය | : 1985 නොවැම්බර් 4 |
| මිය ගිය දිනය | : 2009 අප්‍රේල් 20 |
| වයස | : 24 |
| පදක්කම ලැබුණ දිනය | : 2013 මැයි 18 |
| විවාහක/අවිවාහක භාවය | : අවිවාහක |
| මව | : කේ. ජී. කරුණාවතී. |
| පියා | : ඩබ්ලිව්. ඩී. නන්දසේන |
| ලිපිනය | : රූනගින්න, තෙල්හවාඩියගම, මැදිවෙල, උඩුකිඳ. |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය පූර්ණභූමි, උතුරු නැගෙනහිර සංග්‍රාමික |

**වරුණ දූරයලාගේ ජයතිලක** 1985 නොවැම්බර් මස 04 වන දා හිමාලේගම දී උපත ලැබී ය. ඔහු හතර දෙනෙකුගෙන් යුත් පවුලේ වැඩිමලා විය. ජයතිලක අධ්‍යාපනය

ලැබුවේ ගලහගම ධර්මරාජ විද්‍යාලයෙනි. ජයතිලක කුඩා කාලයේ සිට ම යුද හමුදාවට ඇලුම් කළේ ය. ඔහුගේ සිහිනය මල් ඵල ගැනුණේ 2004 මැයි 11 වන දා ශ්‍රී ලංකා හමුදාවේ ගැමුණු බලකායට අනුයුක්ත වීමෙනි. ජයතිලකගේ බාල සොහොයුරා ද වැඩිමහල් සොහොයුරාගේ අඩි පාරේ යමින් යුද්ධයේ අවසාන කාලයේ දී යුද හමුදාවට බැඳීමත් මෙහිලා විශේෂත්වයකි.

දියතලාව යුද හමුදා පුහුණු පාසලෙන් මූලික පුහුණුව ලැබූ ජයතිලක, ගැමුණු බලකායේ 5 වන බළඇණියට අනුයුක්ත විය. ඔහු ඉමහත් කැපවීමෙන් යුතු ව උතුරු නැගෙනහිර හමුදා ක්‍රියාන්විත සඳහා සහභාගි විය. ඔහුගේ සේවය අගයමින් යුද හමුදාව ඔහුට දේශපුත්‍ර, පූර්ණ භූමි, උතුරු නැගෙනහිර සංග්‍රාම පදක්කම යන සම්මාන පිරිනැමී ය. තව ද ඔහු දෙවන ලුතිනන් වරයෙකු ලෙස ද නිලයෙන් උසස් කෙරිණි.

2009 අප්‍රේල් 20 වන දින ජයතිලක සහ ඔහුගේ බළ කණ්ඩායම ප්‍රධාන LTTE මර්මස්ථානයක් වූ ඉරණමඩු ප්‍රදේශයට ඇතුළු වී සතුරන් සමඟ දරුණු සටනකට අවතීර්ණ විය. මේ සටනේ දී ජයතිලකගේ කණ්ඩායමට සතුරන් පලවා හැර ඔවුන්ගේ බංකර පෙළක් අත්පත් කරගැනීමට හැකි විය.

තව තවත් මේ කණ්ඩායම ඉදිරියට යද්දී ඔවුන් හට බලවත් ප්‍රතිප්‍රහාරයක් සතුරන්ගෙන් එල්ල වන්නට වීම අනපේක්ෂිත අභියෝගයක් විය. LTTE තම උපරිම පිරිස් බලය යොදා ජයතිලකගේ කණ්ඩායමට ප්‍රබල ප්‍රහාර එල්ල කළේ ය. ජයතිලක සහ ඔහුගේ පිරිසෙහි සමහරෙක් දරුණු ලෙස තුවාල ලැබූහ. සතුරු ප්‍රහාරය මර්දනය සඳහා ජයතිලක තම දෑතට බෝම්බ දෙකක් ගෙන කොටි බංකරය තුළට පැන එය පුපුරවා සතුරන් සමඟ මිය ගියේ ය.

ජයතිලකගේ වික්‍රමාන්විත ක්‍රියාවට උපහාර ලෙස ඔහුගේ නිලය ලුතිනන් දක්වා උසස් කළ අතර, පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබුවේ ය. මොහුද රට දැය හිතැති පරාර්ථයේ දරුවෙකි. වීර වික්‍රමාන්විත පුතණුවෙකි.

## 3.23 මාණ්ඩලික සැරයන්
## කේ. පී. ඇන්. ඇල්. ආර්. පෙරේරා
## **S/552009**



| | | |
|---|---|---|
| හමුදා ඒකකය | : | 2 වන බණ්ඩය,<br>කමාන්ඩෝ බලකාය |
| මිය ගිය ස්ථානය | : | පුදුමාතලන් |
| උපන් දිනය | : | 1976 ඔක්තෝබර් 24 |
| මිය ගිය දිනය | : | 2009 අප්‍රේල් 21 |
| වයස | : | 33 |
| පදක්කම ලැබුණ දිනය | : | 2013 මැයි 18 |
| විවාහක/අවිවාහක භාවය | : | විවාහක |
| මව | : | සුමනා වාසලතන්ත්‍රී |
| පියා | : | කේ. ජී. රූබන් පෙරේරා |
| බිරිඳ | : | උදයංගනී සමරසිංහ |
| ලිපිනය | : | ග්‍රාම සේවා කාර්යාලය අසල,<br>කිරිමැටිතැන්න, බළන්ගොඩ. |
| ලබාගෙන ඇති පදක්කම් | : | පරම වීර විභූෂණය<br>රණ ශූර පදක්කම<br>දේශපුත්‍ර සම්මානය<br>පූර්ණභූමි, උතුරු නැගෙනහිර<br>සංග්‍රාමික පදක්කම |

කුරු ගමගේ නිරෝන් ලක්මාල් රුවන් පෙරේරා 1976 ඔක්තෝබර් 24 වන දා බළන්ගොඩ දී මෙලොව එළිය දුටුවේ ය. ඔහු සතර දෙනෙකුගෙන් යුත් පවුලේ දෙවැන්නා විය. පෙරේරා තම මූලික අධ්‍යාපනය, කිරිමැටිතැන්න විද්‍යාලයෙන් ද, ද්වීතියික අධ්‍යාපනය බලන්ගොඩ හෝප්වෙල් මහා විද්‍යාලයෙන් ද ලබාගත්තේ ය. අධ්‍යාපන පොදු සහතික පත්‍ර සාමාන්‍ය පෙළ සමත් වීමෙන් පසු ඔහු 1997 ජූලි 04 වන දින ශ්‍රී ලංකා යුද හමුදාවේ කොමාන්ඩෝ බලකායට අනුයුක්ත විය.

ඔහු උතුරු සහ නැගෙනහිර හමුදා මෙහෙයුම්වලට සක්‍රිය ව දායක වූ ක්‍රියාශීලී සෙබළෙකි. මේ සේවාවන් අගයමින් ඔහු රණ ශූර පදක්කමින් ද පිදුම් ලද්දේ ය.

ඔහු විවාහ වී සුරතල් දියණියන් දෙදෙනෙකු ලැබීමේ වාසනාවන්ත පියෙක් ද විය.

තිස් අවුරුදු සිවිල් යුද්ධයේ අවසාන වකවානුවේ දී ශ්‍රී ලංකා හමුදාවට කොටි බල ප්‍රදේශය වර්ග කිලෝමීටර් 4 කට සීමා කිරීමට හැකි විය. මේ සීමාව තුළ LTTE ය ලක්ෂ දෙකකට අධික සිවිල් ජනතාවක් සිය ආරක්ෂාවට මිනිස් පලිහක් ලෙස රඳවා ගෙන සිටිය ද, මේ සිවිල් ජනතාවගේ ආරක්ෂාව ස්ථාපිත කිරීමට ශ්‍රී ලංකා රජය ඒ ප්‍රදේශ 'යුද මුක්ත කලාපයක්' (NFZ) ලෙස සැලකීමට නියෝග දුන්නේ ය.

මේ යුද මුක්ත කලාපයෙහි භූගෝලීය පිහිටීම, ත්‍රස්තවාදීන්ගේ ක්‍රියාන්විත සඳහා ඉතාමත් යෝග්‍ය පරිසරයක් නිර්මාණය වී තිබීමත්, ශ්‍රී ලංකා යුද හමුදවට අවාසිදයක ව පැවතුණි. එය බටහිරින් නන්දිකඩාල් කළපුවත්, ඊසාන දෙසින් මුහුදෙනුත් ආරක්ෂා වී තිබිණ. LTTE ය තනා ඇති පස් බැම්වලින් එය ගොඩබිම් මාර්ගයෙන් අවහිර කර තිබූ බැවින් හා ශක්තිමත් ව ගොඩනගා ඇති බංකර ද නිසා බිම් බෝම්බ සහ මර උගුල්වලින් බේරී LTTE ප්‍රදේශයට යන සාමාන්‍ය පුද්ගලයකුට පවා එය මරණය කරා පමණක් කෙටි මාර්ගයකින් යා හැකි ගමනක් ම විය.

ශ්‍රී ලංකා යුද හමුදා ක්‍රියාන්විතයේ පළමු අරමුණ හා අදියර සිවිල් වැසියන් මුදා ගැනීම විය. කොමාන්ඩෝ රෙජිමේන්තුවේ A සහ D කණ්ඩායම්වලට නැගෙනහිර සහ බටහිර දිශාවලින් ප්‍රහාර එල්ල කර පස්බැම්ම තම පාලනයට නතුකරගැනීමට හැකි විය. පෙරේරා අනුයුක්ත වූ G කණ්ඩායමේ කාර්යය වූයේ කළපුව පාලනයට නතුකරගැනීමයි. විස්තීර්ණ ලෙස ප්‍රහාර සැලසුම් කිරීමට හමුදා බුද්ධි අංශ ද ක්‍රියාත්මක විය.

අප්‍රේල් 19 රාත්‍රියේ දී G කණ්ඩායම මර උගුල් වළකමින් කළපුව තරණය කරන්නට විය. ඔවුහු පාන්දර 01.30 ට ස්ථානගත වූහ. 2009 අප්‍රේල් 20 වන දා පාන්දර 02.00 ට පමණ ලොව විශාලතම සිවිල් වැසියන් බේරාගැනීමේ මෙහෙයුම ක්‍රියාත්මක කෙරිණි. ශ්‍රී ලංකා හමුදාව සිවිල් වැසියන් ලක්ෂයකට වැඩි ප්‍රමාණයක් LTTE ග්‍රහණයෙන් මුදවාගත්තේ ය.

A සහ D කණ්ඩායම්වල ක්‍රියාවලට LTTE දැඩි ප්‍රතිරෝධයක් එල්ල කරන්න විය. මොවුන් ඉදිරියට ඒම නැවැත්වීමට LTTE බර අවි ප්‍රහාර සහ මරාගෙන මැරෙන ප්‍රහාර එල්ල කිරීමට උත්සුක විය. සැරයන් පෙරේරාගේ අටදෙනාගේ කණ්ඩායම ඔවුන්ගේ ආධාර පිණිස වහා එහි යැවිණි.

ඔවුන් තබන සෑම පියවරක් ම ජීවිතයත් මරණයත් අතර සටනක් - තරගයක් ම විය. පෙරේරා තම සගයන්ගේ චිත්ත දිරිය වැඩි කළේ ය. ඔහු තම ජීවිත අවදානම නොතකා අන් සාමාජිකයන් වෙනුවෙන් ඉදිරිපත් වීමට තරම් එඩිතර හා කාරුණික විය.

ඔවුහු සතුරු බාධකවලට අභීත ව මුහුණ දී තම ඉලක්කය කරා ගමන් කළහ. නමුත් කොටි මර්මස්ථානයක ඇති බංකරයකින් 12.7 අවියකින් නොකඩවා එවන ලද වෙඩි ප්‍රහාර කණ්ඩායමේ ඉදිරි ගමනට බාධකයක් විය. ඔවුන් ඉදිරියට යෑමට නම් මේ අවිය නිෂ්ක්‍රීය කළ යුතු ය. මේ භයානක කර්තව්‍යයට පෙරේරා ඉදිරිපත් විය.

ඔහු සූක්ෂ්ම ලෙස සැලසුමක් දියත් කළේ ය. හතර දෙනෙකුගෙන් යුත් කණ්ඩායමක් බංකරයේ බටහිර සිට ප්‍රහාර එල්ල කරන අතර, උතුරු දෙසින් පෙරේරා ඇතුළු හතර දෙනෙක් බංකරය වෙත ළඟා වී ත්‍රස්තවාදී බර අවිය විනාශ කිරීමට අදිටන් කරගැනිණි. බටහිරින් ප්‍රහාර එල්ලවනවාත් සමඟ ම රහසිගත ව උතුරු දෙසින් ගමන් කොට සතුරු බංකරය ආසන්නයට විත් දැඩි ප්‍රහාරයක් එල්ල කෙරිණි. මේ අනපේක්ෂිත ප්‍රහාර හමුවේ ත්‍රස්තවාදීහු විශාල ප්‍රමාණයක් මරණයට පත් වූහ. පෙරේරා තම සගයින් ආසන්නයේ රඳවා බංකරය පරීක්ෂා කළ අවස්ථාවේ දී එහි සිටි තුවාල ලත් ත්‍රස්තවාදියෙක් බෝම්බයක් පුපුරුවා හැරියේ ය. ඒ සමඟ ම මේ රණවිරුවා දැයෙන් සමුගත්තේ ය.

රට දැය වෙනුවෙන් ඔහු කළ වික්‍රමයට උපහාර ලෙස ඔහුගේ නිලය මාණ්ඩලික සැරයන් දක්වා උසස් කෙරිණි. තව ද ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලද්දේ ය. මේ වීරෝදාර මානව හිතවාදී චරිතය ද අපට කිසි දින අප හදවත් තුළින් අකා මකා දැමිය නොහැකි ය.

## 3.24 සැරයන් කේ. පී. ඩී. ටී. ගුණසේකර
**S/552511**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 1 වන බළඩය,<br>කමාන්ඩෝ බලකාය |
| මිය ගිය ස්ථානය | : පුදුකුඩුඉරිප්පු |
| උපන් දිනය | : 1976 සැප්තැම්බර් 26 |
| මිය ගිය දිනය | : 2009 පෙබරවාරි 16 |
| වයස | : 33 |
| පදක්කම ලැබුණ දිනය | : 2013 මැයි 18 |
| විවාහක/අවිවාහක භාවය | : විවාහක |
| මව | : ඊ. පී. ඩී. නන්දාවතී |
| පියා | : කේ. පී. ඩී. ගුණසේකර |
| බිරිඳ | : කුමාරි තිලකරත්න |
| ලිපිනය | : අලුත්වැව, නක්කාවත්ත |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය<br>රණ ශූර පදක්කම |

**කරුණා පඩි දූරයලාගේ තිස්ස ගුණසේකර** 1976 සැප්තැම්බර් 26 වන දා මූනමල්දෙනියේ දී මෙලොව එළිය දුටුවේ ය. ඔහු තුන්දෙනෙකුගෙන් යුත් පවුලක බාලයා විය. ගුණසේකර අධ්‍යාපනය හැදෑරුවේ රනස්සගල ප්‍රාථමික පාසලෙනි. එහි දී ඔහු අ:පො:ස: සාමාන්‍ය පෙළ සමත් වීමෙන් පසු 1997 සැප්තැම්බර් 30 වන දින ශ්‍රී ලංකා යුද හමුදාවට බැඳුණේ ය.

අම්පාර හමුදා පුහුණු පාසලෙන් ගුණසේකර මූලික පුහුණුව සහ කොමාන්ඩෝ පුහුණුව ලබාගත්තේ ය. කොමාන්ඩෝ බලකායේ 1 වන බළඇණියට අනුයුක්ත වූ පසු ව ඔහු උතුර සහ නැඟෙනහිර මෙහෙයුම්වලට සහභාගි විය.

මුතූර් ප්‍රදේශය සතුරු ග්‍රහණයෙන් මුදගැනීමට දියත් කළ " රිවිකිරණ" I, II, III සහ යාපන කිලාලි, පලෙයි, මුහුමාලේ යන ප්‍රදේශ මුදවා ගැනීමට පැවැති "අග්නිඛීල" යන මෙහෙයුම්වලට සක්‍රියව දයක වී කළ මෙහෙයුමට උපහාර ලෙස පූර්ණ භූමි සහ උතුර - නැගෙනහිර සංග්‍රාමික පදක්කමින් ඔහු ඇගයිණි.

ඔහු 2005 දී **ප්‍රදීපා කුමාරි තිලකරත්න** සමඟ විවාහ වූ අතර, **සහන් හර්ෂමාල්** මේ දෙපළගේ සුරතල් දරුවා විය.

කෝප්‍රල් ගුණසේකර 2009 පෙබරවාරි 16 වන දා පුදුකුඩුඉරිප්පු සටනේ දී මිය ගියේ ය. පුදුකුඩුඉරිප්පු LTTE මර්මස්ථානයකි. මේ ප්‍රදේශයේ සිදු වූ සටන්වලින් ශ්‍රී ලංකා යුද හමුදා භටයින් විශාල ගණනක් මිය ගිය අතර, සමහරෙක් බරපතළ ලෙස තුවාල ලැබූහ.

පහසුවෙන් සතුරාට ප්‍රහාර දීමට හැකි වන පරිදි LTTE ය තම කඳවුර උස්බිමක ස්ථාපිත කර තිබුණි. කඳවුර වටේට වූ කැලෑව හෙළි පෙහෙළි කර විවෘත පරිසරයක් ද ගොඩනගා තිබුණි. තව ද කඳවුරෙහි ආරක්ෂාවට එය වටා අගල් හා ශක්තිමත් බංකර ද ඉදිකර තිබුණි. මේ සතුරු ආරක්ෂක පියවර නිසා ඉහත දී කළ හමුදා මෙහෙයවීම් බොහොමයක් අසාර්ථක වී තිබිණ. මේ ප්‍රහාරයට ගුණසේකරගේ නායකත්වයෙන් 8 දෙනෙකුගේ කණ්ඩායමක් යෙදවිණි.

ගුණසේකර මේ මර්මස්ථානය අධ්‍යයනය කිරීමෙන් පසු එය විනාශ කිරීම සඳහා උපායමාර්ග සකස් කිරීමෙහි නියුක්ත විය. මෙහි පිහිටීම අනුව දිවා කාලයේ දී ප්‍රහාරයක් කිරීම අපහසු කාර්යයකි. පෙබරවාරි 15 රාත්‍රියේ දී ගුණසේකර ඇතුළු කණ්ඩායම බඩගාමින් සහ මර උගුල්වලින් ආරක්ෂා වෙමින් තමන් බලාපොරොත්තු වූ ස්ථානයට සම්ප්‍රාප්ත විය.

05.45 ට පමණ ගුණසේකරගේ කණ්ඩායම සතුරු බංකර වෙත දරුණු ප්‍රහාරයක් එල්ල කළේ ය. නමුත් සතුරු බංකර තම ප්‍රතිවාදියා හට පහර දීමට පහසු ස්ථානවල පිහිටා තිබුණ නිසා ඔවුහු ගුණසේකරගේ කණ්ඩායමට දැවැන්ත ප්‍රතිප්‍රහාර එල්ල කළහ.

අලුයම වන විට තම කණ්ඩායම එක බංකරයක්වත් අල්ලාගෙන නොමැති බවත්, එය තම කණ්ඩායමේ ආරක්ෂාවට තර්ජනයක් බවත් ගුණසේකර අවබෝධ කරගත්තේ ය. ඔහු තම කණ්ඩායමේ පෙරමුණ ගෙන බඩගාගෙන බංකර දෙසට ඇදෙන්නට විය. බංකරවලින් වඩාත් දරුණු ප්‍රහාර එල්ල වෙමින් තිබිණ. ඔහු තම ආරක්ෂාව ගැන නොතැකුවේ ය. ඔවුන් බංකරවලට වඩා දරුණු ප්‍රහාරයක් එල්ල කොට එහි සිටි සතුරන් විනාශ කර එය අල්වාගත්හ.

ඔහු අනෙකුත් බංකරවලට ද ප්‍රහාර එල්ල කරමින් ඒ දෙසට ඇදුණ අතර දී වෙඩි ප්‍රහාරයකට ලක් වී දරුණු ලෙස තුවාල විය. ගුණසේකර සහ කණ්ඩායම ඔවුන් අල්වාගත් බංකරයේ සිට ප්‍රහාර නිකුත් කරමින් තම කණ්ඩායම්වලට ඉදිරියට ඒමට ඉඩ සැලැස්සුවේ ය. ඔවුන් පැමිණීමෙන් පසු ඔවුන්ට එකතු වී සතුරන් හට දරුණු ප්‍රහාර එල්ල කළහ. කොටි, කාලතුවක්කු සහ මෝටාර් යොදාගනිමින් දරුණු ප්‍රතිප්‍රහාර එල්ල කළහ. මේ ප්‍රහාරවලින් කොමාන්ඩෝ හටයන් 9 දෙනෙකු මිය ගිය අතර, 18 දෙනෙක් තුවාල ලැබූහ.

කොටින්ගේ කාලතුවක්කු සහ මෝටර් ප්‍රහාර නිසා යුද හමුදාවට ප්‍රතිපාදන සැපයීමේ අසීරුතාවක් මතුව තිබිණ. ගුණසේකර තම තුවාල ගැන නොසලකා සතුරා ඉදිරියට ගොස්

තමාගේ සැහැල්ලු මැෂින් තුවක්කුව (LMG) යොදාගනිමින් සතුරාට ප්‍රහාර එල්ල කරන්නට විය. මේ ප්‍රහාරය නිසා තුවාල වූ සොල්දාදුවන් ආරක්ෂිත ස්ථාන කරා ගෙන යෑමට ඉඩහසර ලැබුණි. මේ මුහුණට මුහුණ ලා කරන සටනේ දී ගුණසේකර මිය ගියේ ය.

රණබිම මැරුණේ වීරයෙකු නම් පපුවෙයි ලේ සලකුණු ඇත්තේ යන්න ගුණසේකර අපට යළි යළිත් මතක් කර දෙමින් අප හැර ගියේ එලෙස ය.

ඔහුගේ වික්‍රමයට උපහාර පිණිස නිලය සැරයන් දක්වා උසස් කෙරිණි. ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබුවේ ය.

## 3.25 කෝප්‍රල් එච්. ඒ. නිලන්ත කුමාර
**S/553286**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 3 වන බණ්ඩය, කොමාන්ඩෝ රෙජිමේන්තුව |
| මිය ගිය ස්ථානය | : නිලාවේලි |
| උපන් දිනය | : 1980 නොවැම්බර් 26 |
| මිය ගිය දිනය | : 2009 ජනවාරි 29 |
| වයස | : 29 |
| පදක්කම ලැබුණු දිනය | : 2013 මැයි 18 |
| විවාහක/අවිවාහක භාවය | : විවාහක |
| මව | : ඩබ්ලිව්. ඒ. කරුණා |
| පියා | : එච්. ඒ. අනිල් කුමාර |
| බිරිඳ | : ඩබ්ලිව්. ඒ. මල්කාන්ති |
| ලිපිනය | : මාදුරාගම, පහල ගිරිබාව, ගල්ගමුව. |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය<br>රණ ශූර පදක්කම<br>පූර්ණභූමි පදක්කම<br>උතුර නැගෙනහිර සංග්‍රාමික පදක්කම |

**හෙට්ටිආරච්චිලාගේ නිලන්ත කුමාර** 1980 නොවැම්බර් 26 වන දින ගිරිබාවේදී උපත ලැබුවේ ය. පහළ ගිරිබාව මහා විද්‍යාලයෙන් ඔහු සිප් සතර හැදෑරී ය. ඔහු පාසල් ක්‍රිකට් සහ වොලිබෝල් කණ්ඩායමේ නායකයා විය. පාසල් අධ්‍යාපනය අවසන් කිරීමෙන් පසු 1999 ජූලි 21 වන දා ඔහු ශ්‍රී ලංකා යුද හමුදාවේ කොමාන්ඩෝ බලකායට අනුගත විය. මූලික හමුදා පුහුණුව ද, කොමාන්ඩෝ පුහුණුව ද ලබාගත් පසු ඔහු කොමාන්ඩෝ බලකායේ 3 වන බළඇණියට අනුයුක්ත කෙරිණි.

ඔහු උතුරේ සහ නැගෙනහිර බොහෝ හමුදා මෙහෙයුම්වලට සහභාගි වූ වීරයෙකි. පසු ව ඔහුට දිග දුර මෙහෙයුම් (LRRP) පිළිබඳ විශේෂ පුහුණුවක් ලබාගැනීමට අවස්ථාව ලැබිණි. ඉන් පසු ඔහු අනුගත වූයේ කොමාන්ඩෝ රෙජිමේන්තුවේ 3 වන බළඇණියටයි.

3 වන බළඇණිය LRRP සඳහා ම විශේෂිත වූ හමුදාවක් විය. ඔවුහු වන්නි හමුදා මෙහෙයුමේ දී LRRP පහර දීම් කිහිපයක් ඉතා සාර්ථක ව නිමා කළහ. ඔවුන්ගේ ප්‍රධානතම කාර්යය වූයේ සතුරු ප්‍රදේශවලට රහසින් ඇතුළු වී එහි ඇති උපායමාර්ගික වැදගත්කමක් ඇති ස්ථාන විනාශ කිරීමයි. පහර දීම් සිදු වූයේ ඒවා පිළිබඳ තොරතුරු 100% නිවැරදි බවට සනාථ වුණු පසු ව ය. මේ පහර දීම් සතුරාට බලවත් තර්ජනයක් විය.

යුද හමුදාවෙන් දුන් නියෝගවලට අනුව නිලන්ත කුමාරගේ කණ්ඩායම නරතමුල්ල, තොප්පිගල, සාම්පූර්, මාවිල්ආරු, වෙරුගල්ආරු වැනි ප්‍රදේශවල සිට සතුරු බලමුළු විනාශ කිරීමේ ක්‍රියාන්විතවල යෙදී සිටියේ ය. ඔහුගේ සක්‍රිය දායකත්වය නිසා රණ ශූර පදක්කම, පූර්ණභූමි පදක්කම, උතුරු නැගෙනහිර සංග්‍රාමික පදක්කම් යන ක්‍රියාන්විත පදක්කම්වලින් පිදුම් ලැබී ය.

2009 අග භාගය වන විට ශ්‍රී ලංකා යුද හමුදාව නැගෙනහිර සහ විල්පත්තු ප්‍රදේශයේ පාලනය සියතට ගෙන තිබුණි. ඔවුහු කොටින්ගේ බල ප්‍රදේශය පුදුකුඩුඉරිප්පුවලට සීමා කිරීමට සමත් වූහ. මේ සිරගත වීමෙන් නිදහස් වීමට කොටි ශ්‍රී ලංකා යුද

හමුදාවේ පිරිස් වෙනත් ප්‍රදේශවලට යැවීම සඳහා විවිධ වූ ක්‍රමෝපාය අත්හද බැලූහ.

මේ ක්‍රියාවලිය සඳහා LTTE නායකත්වය කොටි කණ්ඩායම් කිහිපයක් දිවයිනේ නොයෙක් ප්‍රදේශවලට යැවී ය. මේ කොටි පිරිස් යොදා ගනිමින් සාමාන්‍ය සිවිල් වැසියන් ඝාතනයට ලක්කොට රට තුළ අභ්‍යන්තර කැලඹිලි ඇති කිරීමෙන් යුද හමුදාවේ අවධානය වෙනත් ප්‍රදේශවලට යෙදීමට ද කොටි උත්සාහ දැරූහ. මෙය වැළැක්වීමට නම් යුද හමුදාව මේ කොටි පිරිස් වෙන වෙනම සොයාගෙන ඔවුන්ට ප්‍රහාර එල්ල කළ යුතු විය. මෙය ඉතා සංකීර්ණ ක්‍රියාවලියක් වීම නොවැළැක්විය හැකි අර්බුදයක් ම විය.

මෙවැනි මෙහෙයුමක් 2009 ජනවාරි 27 වන දින ලුතිනන් ජේ. සී. ආර්. ජයසූරියගේ නායකත්වයෙන් සිදු විය. එද ලාන්ස් කෝප්‍රල් නිලන්ත කුමාර මේ මෙහෙයුමේ ක්‍රියාශීලී සාමාජිකයෙක් විය. මේ කණ්ඩායම මිනිස් වාසය මඟහරිමින් දුෂ්කර වූ ගිරි දුර්ග මාර්ග හරහා නිලාවේලි ප්‍රදේශයේ පිහිටි තම අපේක්ෂිත ස්ථානයට ළඟා විය. ඔවුන් සතුරන් පිළිබඳ ව සෝදිසි මෙහෙයුමක් කිරීමෙන් අවබෝධ වූයේ එහි විශාල කොටි සංඛ්‍යාවක් සිටින බවත්, ඔවුන් සතු ව විශේෂිත මැෂින් තුවක්කුවක් ද (GPMG) ඇති බවත් ය. මේ අවියේ භයානකකම අවබෝධ වීමෙන් පසු ව කණ්ඩායමේ නායකයාගේ තීරණය වූයේ මේ අවිය කෙසේ හෝ විනාශ කළ යුතු බව යි. මෙය සඳහා ඉතා දක්ෂ සහ විශ්වාසය තැබිය හැකි සොල්දාදුවෙකු අවශ්‍ය විය. නිලන්ත කුමාර මේ සඳහා ඉදිරිපත් විය.

නිලන්ත කුමාර අවිය සහිත සතුරු කණ්ඩායම සොයාගෙන තම ජීවිත ආරක්ෂාව නොතකා GPMG අවිය සතු ත්‍රස්තවාදියා විනාශ කර අවිය නිෂ්ක්‍රීය කළේ ය. මේ සමඟ නිලන්ත කුමාරට ද මාරාන්තික වූ වෙඩි රැසක් වැදී තිබුණි.

මරාගෙන මැරෙන වීර ලාංකේය දූ පුතුන් අපටත් සිටින බවට නිලන්ත දුන් උදහරණය අපට හදඑඩිය ගෙන දෙන්නකි.

නිලන්ත කුමාර ගේ වික්‍රමයට ඔහුගේ නිලය කෝප්‍රල් දක්වා උසස් කළ අතර, ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබුවේ ය.

## 3.26 කෝප්‍රල් එස්. වී. ඒ. එම්. පුෂ්පමාල්
## S/554572



| | |
|---|---|
| හමුදා ඒකකය | : 1 වන බලඇණිය, කොමාන්ඩෝ බලකාය |
| මිය ගිය ස්ථානය | : පුතුමාතලන් |
| උපන් දිනය | : 1987 අප්‍රේල් 25 |
| මිය ගිය දිනය | : 2009 අප්‍රේල් 21 |
| වයස | : 22 |
| පදක්කම ලැබුණ දිනය | : 2013 මැයි 18 |
| විවාහක/අවිවාහක භාවය | : අවිවාහක |
| මව | : කේ. වී. අමරාවතී මැණිකේ |
| පියා | : එස්. වී. ජී. විජේරත්න |
| ලිපිනය | : 35, සමන්සිරි ගම, මින්නේරිය |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය<br>පූර්ණභූමි පදක්කම |

ක්‍රෝපල් පුෂ්පමාල් 2009 අප්‍රේල් 21 වන දා සිවිල් වැසියන් මුදාගැනීමේ මෙහෙයුමක දී තම ජීවිතය ලක් මවට පූජා කළේ ය.

**සේල විදාන ආරච්චිලාගේ මනෝජ් පුෂ්පමාල්** 1987 අප්‍රේල් 25 වන දා හිඟුරක්ගොඩ දී මෙලොව එළිය දුටුවේ ය. ඔහු ප්‍රාථමික අධ්‍යාපනය කිරිවැටිය ප්‍රාථමික විද්‍යාලයෙන් ද, ද්විතීයික අධ්‍යාපනය ගිරිතලේ මහා විද්‍යාලයෙන් ද ලබාගත්තේ ය. මේ විදුහලේ ඔහු අ.පො.ස සාමාන්‍ය පෙළ සමත් වන තුරු ම ඉගෙනුම ලැබී ය.

2007 ජනවාරි 11 පුෂ්පමාල් ශ්‍රී ලංකා යුද හමුදා කමාන්ඩෝ රෙජිමේන්තුවේ සේවයට එකතු වී උෟව කුඩාඔය පුහුණු පාසලෙන් පාඨමාලා අංක 58 සහ කමාන්ඩෝ උසස්පෙල පාඨමාලා අංක 39 සාර්ථක ව නිම කළේ ය.

පුෂ්පමාල් උතුරු ප්‍රදේශවල තම කණ්ඩායම සමඟ සතුරු බල ප්‍රදේශ අත්පත්කරගැනීමට දායක විය. තම වගකීම් සහ රාජකාරීන් නිසි අයුරින් ඉටු කිරීම නිසා ඔහු පූර්ණභූමි පදක්කමින් පිදුම් ලැබූ අතර ඔහුගේ නිලය ලාන්ස් කෝප්‍රල් දක්වා උසස් විය.

2009 අප්‍රේල් 21 වන දා කෝප්‍රල් පුෂ්පමාල් සහ තවත් භට පිරිසක් දෙමළ සිවිල් වැසියන් LTTE ග්‍රහණයෙන් මුදාගැනීමේ මෙහෙයුමක යෙදී සිටියහ. LTTE ය මේ සිවිල් වැසියන් සිරකරගෙන යුද හමුදා ප්‍රහාරවලින් ආරක්ෂා වීමට ඔවුන් මිනිස් පලිහක් සේ යොදාගෙන තිබුණි.

සිවිල් වැසියන්ගේ ආරක්ෂාව කෙරෙහි සැලකිලිමත් වූ හමුදාව ෂෙල්වෙඩි ඇතුළු බර අවි ප්‍රහාර නවතා දැමීමට තීරණය කළහ. සුවිසල් පස් බැමි, අගල් සහ බිම් බෝම්බ ඇතිරූ ප්‍රදේශ මෙන් ම බංකර යොදාගෙන ත්‍රස්තවාදීහු තම ආරක්ෂාව තරකරගෙන තම ප්‍රබල නායකයන් සමඟ කුඩා බිමකට කොටු වී සිටියහ. දෙපසින් ජලයෙන් වට වී තිබුණ මේ භූමියේ බටහිර ප්‍රදේශය මීටර 600ක් පමණ දිග වූ කලපුවකින් හා නැගෙනහිර ප්‍රදේශය මුලතිව් මුහුදින් ද ආවරණය වී තිබුණි.

ඉදරි සැලසුම් සියල්ල අවබෝධ කරගත් කණ්ඩායම එදින රාත්‍රිය උදාවත් සමඟ ම සිය යුද ක්‍රියාන්විතය ආරම්භ කළේ ය. පුදුමාතලන් පස් බැම්මට බටහිර ප්‍රදේශයේ ඉදිකර තිබූ ත්‍රස්තවාදී බංකර පෙළට ම ප්‍රහාරයක් එල්ල කිරීම මොවුනට පැවරුණු ප්‍රථම රාජකාරිය විය. නමුත් මීටර 600ක් පමණ දිගින් යුතු කලපු ප්‍රදේශය තරණය කිරීම පුෂ්පමාල්ගේ කණ්ඩායමට අසීරු අභියෝගයක් විය. ගොඩබිමට අවතීර්ණ විය හැකි මාර්ගය මඟහැර කරවටක් ජලයේ ගිලී ඝන අඳුරේ ගමන් කළ ඔවුහු අපේක්ෂා කළ ස්ථානයට ළඟා වූහ. වළලා තිබුණ පුද්ගල නාශක බෝම්බවලින් පැමිණිය හැකි මාරක තර්ජන නොතැකූහ.

පසු ව බංකර පෙළ අත්පත් කරගැනීම සඳහා සිව් දෙනෙකුගෙන් යුත් කණ්ඩායම් වශයෙන් ස්ථානගත වූහ. දහස් සංඛ්‍යාත සිවිල් වැසියන් මුදාගැනීමට නම් ත්‍රස්තවාදීන් විසින් ශක්තිමත් ව සැකසුණු පස්බැම්ම විවෘත කළ යුතු විය. නමුත් ඒ බැම්මේ ආරක්ෂාව සඳහා LTTE ය බර අවි යොදා ගනිමින් සහ මීටර 20-25 ත් දුරට බංකර සාදාගෙන ද පුද්ගල නාශක බෝම්බ හා ක්ලේමෝ බෝම්බ ස්ථානගත කරගෙන ද සිටියේ ය.

එදින අලුයම සැලසුම් සහගත ලෙස පුෂ්පමාල්ගේ කණ්ඩායම ත්‍රස්තවාදීන් වෙත සිය පළමු ප්‍රහාරය එල්ල කළේ ය. ත්‍රස්තවාදීහු ද ප්‍රතිප්‍රහාර එල්ල කරමින් පැය ගණනක දරුණු සටනක් දියත් කළහ. ත්‍රස්ත ප්‍රහාර හමුවේ ඉදිරියට යෑම අසීරු කාර්යයක් විය. එබැවින් අණදෙන නිලධාරී විසින් ගුවන්විදුලි සංඥා යොදාගෙන උපක්‍රමශීලී ව පසුබසින ලෙසට දැනුවත් කළ ද පුෂ්පමාල් ත්‍රස්ත වෙඩිප්‍රහාරවලට ලක්වෙමින් සිය සහෝදර සෙබළුන් සමඟ ප්‍රතිප්‍රහාර එල්ල කළේ ය.

පසුදින උදේ 6 වන විට පුෂ්පමාල්ගේ කණ්ඩායමට පස් බැම්ම බිඳ අසරණ සිවිල් වැසියන් දහස් ගණනකගේ ජීවිත බේරාගැනීමට අවස්ථාව උදා විය. මේ සටනේ දී පුෂ්පමාල් සතුරු වෙඩි පහරකින් ජීවිතක්ෂයට පත් විය.

ඔහු ද සිය වික්‍රමාන්විත ක්‍රියාවට පරම වීර විභූෂණයෙන් පිදුම් ලද අගනා ශ්‍රී ලාංකික පුත් රුවනකි.

## 3.27 මේජර් ඩබ්ලිව් එම්. එස්. බී. වලිසුන්දර **O/64556**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 6 වන බළඇණිය, ගජබා රෙජිමේන්තුව |
| මිය ගිය ස්ථානය | : නාගර්කෝවිල් |
| උපන් දිනය | : 1977 සැප්තැම්බර් 3 |
| මිය ගිය දිනය | : 2006 අගෝස්තු 11 |
| වයස | : 29 |
| විවාහක/අවිවාහක භාවය | : අවිවාහක |
| මව | : පත්මිණී කුමාරිහාමි |
| පියා | : නිමල් බංඩාර වලිසුන්දර |
| ලිපිනය | : 52/2, තල්මඩුවත්ත, කුණ්ඩසාලේ |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය<br>රණ ශූර පදක්කම<br>50 වන නිදහස් ස්වර්ණ ජයන්ති පදක්කම<br>පූර්ණභූමි පදක්කම<br>උතුර නැගෙනහිර සංග්‍රාමික පදක්කම<br>දේශ පුත්‍ර පදක්කම |

වලිසුන්දර මුදියන්සේලාගේ ඉන්දික සාමින්ද බංඩාර 1977 ජූලි මස 3 වනදා තලාතුඔය දී උපත ලැබුවේ ය. ඔහුගේ මව පත්මිණී කුමාරිහාමි ඉල්ලේගම, උපාධිධාරී ගුරුවරියක වූ අතර පියා වලිසුන්දර මුදියන්සේලාගේ නිමල් බණ්ඩාර වලිසුන්දර. බන්ධනාගාර නිලධාරියෙක් විය. ඒ පවුලේ සාමින්ද ට බාල සොහොයුරියක් ද වූවා ය.

සාමින්ද මූලික අධ්‍යාපනය ලැබුවේ මහනුවර ධර්මරාජ විද්‍යාලයෙනි. ඔහු ගල්මඩුව රජමහ විහාරයේ සුමන දහම් පාසලෙන් බෞද්ධ අධ්‍යාපනය ලැබුවේ ය.

සාමින්ද ධර්මරාජ විද්‍යාලයේ කැපීපෙනෙන ශිෂ්‍යයෙක් වූ අතර කෙඩෙට් කණ්ඩායමට බැඳී ශිෂ්‍ය භට පුහුණුව ද ලබාගත්තේ ය. 1997 දෙසැම්බර් 01 වන දින සාමින්ද ශ්‍රී ලංකා යුද හමුදාවේ කෙඩෙට් නිලධාරියකු ලෙස බැඳී බංග්ලාදේශ හමුදා විද්‍යාපීඨයෙන් මූලික පුහුණුව ලබාගත්තේ ය. කෙඩෙට් නිලධාරි පාඨමාලාව නිමකර 1999 ජූලි මස 19 වන දින ශ්‍රී ලංකා යුද හමුදාවේ අධිකාරී නිලධාරියකු වශයෙන් 2/ලුතිනන් නිලයෙන් පිදුම් ලැබුවේ ය. පසු ව ගජබා රෙජිමේන්තුවට අනුයුක්ත විය.

ලුතිනන් සාමින්ද වලිසුන්දර රණසොස ෂෂෂ, ෂඨ ක්‍රියාන්විතය සඳහා (1998 - 1999) 3 වන ඊළාම් යුද්ධයට දැක්වූ සක්‍රිය දායකත්වයට රණ ශූර පදක්කම, 50 වන නිදහස් ස්වර්ණ ජයන්ති පදක්කම, පූර්ණ භූමි පදක්කම, උතුර නැගෙනහිර සංග්‍රාමික පදක්කම සහ දේශපුත්‍ර පදක්කමින් පිදුම් ලැබුවේ ය.

වර්ෂ 2006 අගෝස්තු මස 11 (4 වන/අවසාන ඊළාම් යුද්ධය) යාපනය අර්ධද්වීපයේ ඉදිරි ආරක්ෂක වළල්ලේ එදුතුම්මඩුවාල් හී ස්ථානගතව සිටි ගජබා රෙජිමේන්තුවේ 4 වන බල ඇණියට අනපේක්ෂිත අයුරින් කොටි ත්‍රස්තවාදීන් විසින් දැවැන්ත ප්‍රහාරයක් එල්ලකර ඉදිරි ආරක්ෂක වළල්ලේ බංකර විශාල ප්‍රමාණයක් අත්පත් කරගැනිණි.

කොටි ත්‍රස්තවාදීන් විසින් නතු කරගෙන තිබුණේ හමුදා මර්මස්ථානයකි. ඒ භූමියේ පාලන බලය අහිමි වුවහොත් එලුතුම්මඩුවාල්, නගර්කෝවිල් සැපයුම් මාර්ග අවහිර වී නගර්කෝවිල් බල ප්‍රදේශය හුදකලා වීමේ අවදානම ඇති විය හැකි ය. එසේ ම 36 වන බංකරය පිහිටි ස්ථානය යුදමය වශයෙන් ඉතා ම වැදගත් මර්මස්ථානයක් විය. එබැවින් මේ 36 වන බංකරය සතුරා අතට පත් වීම වලක්වාගැනීමට කපිතාන් වලිසුන්දර ස්වේච්ඡාවෙන් ඉදිරිපත් විය.

ගුවන්විදුලි පණිවිඩ ආධාරයෙන් 4වන ගජබා රෙජිමේන්තුවේ දෙවන ආරක්ෂක වළල්ලේ බලය තහවුරු කිරීමට කපිතාන් වලිසුන්දර සමඟ "සී" කණ්ඩායම ඒ ස්ථානයට පිටත් කෙරිණි. මේ වනවිට සතුරා විසින් ඉදිරි ආරක්ෂක වලල්ලේ 36 වන බංකරය ඇතුළු ව ඒ බංකර පෙළ ම අත්පත් කරගෙන තිබුණි.

කපිතාන් වලිසුන්දර තම කණ්ඩායමේ චිත්ත ධෛර්ය ඉහළ නංවමින් දරුණු සතුරු ප්‍රහාර මධ්‍යයේ තම භට පිරිස ස්ථානගත කළේ ය. ප්‍රතිප්‍රහාර එල්ල කරමින් සතුරා අඩපණ කිරීමට උත්සාහ දැරුවේ ය.

36 වන බංකරය මුදාගැනීම සඳහා ස්වේච්ඡාවෙන් තමා ම ඉදිරිපත් වී තම කණ්ඩායමේ සෙබළුන් කිහිප දෙනෙකුගෙන් යුත් කණ්ඩායමකින් සමන්විත ව ඉදිරි ප්‍රහාර එල්ල කරමින් ත්‍රස්තවාදීන් නතුකරගෙන සිටි බංකර නැවත අත්පත් කරගනිමින් 36 වන බංකරය දෙසට ගමන් කළේ ය. 36 වන බංකරය අසල තිබූ වැලි කන්දක සැඟවී සිටි සතුරු කණ්ඩායමක් විසින් කපිතන් වලිසුන්දරගේ කණ්ඩායමට ප්‍රබල ප්‍රහාරයක් එල්ල කෙරිණි. වහා ම ක්‍රියාත්මක වූ කපිතන් වලිසුන්දර තම ජීවිතය පරදුවට තබා තම පුද්ගලික අවියෙන් සහ අත් බෝම්බවලින් ප්‍රතිප්‍රහාර එල්ල කරමින් අභීතව ඉදිරියට ඇදුණේ ය. තම දෑතට සක්‍රිය කරගත් අත් බෝම්බ දෙකක් ගෙන 36 වන බංකරයට පැන්නේ ය.

බෝම්බ පිපිරීම නිසා බංකරයේ සිටි ත්‍රස්තවාදීන් 6 දෙනෙකු මිය ගිය අතර කපිතන් වලිසුන්දර ද තම ජීවිතය මවුබිම සහ කණ්ඩායම වෙනුවෙන් පරිත්‍යාග කෙරුවේය.

මේ රණවිරුවාගේ වික්‍රමාන්විතයට උපහාරයක් ලෙස ඔහුව මේජර් නිලයට උසස් කිරීමට නිර්දේශ වූ අතර ඔහු රණකාමී නිලධාරියකු හට පිදිය හැකි උසස් ම සම්මානය වන පරම වීර විභූෂණයෙන් ද පිදුම් ලැබුවේ ය.

## 3.28 සැරයන් ඒ. එම්. අනුර
**S/362939**



| | |
|---|---|
| හමුදා ඒකකය | : 7 වන බළඇණිය, 57 වන විශේෂ ප්‍රහාරක සේනාංකය ශ්‍රී ලංකා සිංහ රෙජිමේන්තුව |
| මිය ගිය ස්ථානය | : පෙරියම්පනේ |
| උපන් දිනය | : 1968 ඔක්තෝබර් 30 |
| මිය ගිය දිනය | : 2007 නොවැම්බර් 11 |
| වයස | : 39 |
| පදක්කම ලැබූ දිනය | : 27 ඔක්තෝබර් 2016 |
| විවාහක/අවිවාහක භාවය | : විවාහක |
| මව | : දොන් වික්‍රමසිංහ ප්‍රේමවතී |
| පියා | : අබේසිරි මුණසිංහ |
| බිරිඳ | : ටී. එම්. විජයලතා |
| ලිපිනය | : හබරණ පාර, නාවක්කුලම, මරදන්කඩවල |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය<br>රණශූර පදක්කම<br>නැගෙනහිර මානුෂීය පදක්කම<br>උතුරු මානුෂීය පදක්කම<br>පූර්ණභූමි පදක්කම |

උතුරු නැගෙනහිර සංග්‍රාමික
පදක්කම
50 වන නිදහස් ස්වර්ණ
ජයන්ති පදක්කම

අබේසිරි මුදියන්සේලාගේ අනුර 1968 ඔක්තෝබර් මස 30 වන දින මැදවලකඩ ග්‍රාමීය රෝහලේ දී උපත ලැබී ය. ඔහුගේ ගම මාතර කඹුරුගමුව විය. මව දොන් වික්‍රමසිංහ ප්‍රේමවතී ද, පියා අබේසිරි මුණසිංහ ද විය. අනුරට දිස්නා රංජනී නම් වැඩිමහල් සොහොයුරියක් ද සිටියේ ය.

අනුර අධ්‍යාපනය ලැබුවේ කඹුරුගමුවේ ශ්‍රී ඉන්ද්‍රසාර මහා විද්‍යාලයෙහි ය. ඔහු අධ්‍යාපන කටයුතුවලට අමතර ව ක්‍රීඩා කටයුතුවලදී ද කැපීපෙනුණේ ය.

1996 සැප්තැම්බර් 25 වන දින ආධුනික සෙබළකු ලෙස අනුර ශ්‍රී ලංකා යුද හමුදාවට බැඳුණ අතර සිය මූලික යුද පුහුණුව ශ්‍රී ලංකා යුද හමුදා යුධෝපකරණ බළකාය වෙතින් හැදෑරී ය.

1997 ජූලි 6 වන දින ශ්‍රී ලංකා සිංහ රෙජිමේන්තුවේ 8 වන බළඇණියට අනුයුක්ත විය. පසු ව ලාන්ස් කෝප්‍රල් සහ කෝප්‍රල් නිලවලට උසස්වීම් ලැබුවේ ය.

සංග්‍රාම භූමියේ දැක්වූ රණ ශූර භාවයට ඔහු හට රණශූර පදක්කම, නැගෙනහිර මානුෂීය පදක්කම, 50 වන නිදහස් ස්වර්ණ ජයන්ති පදක්කම පිරිනැමිණි.

සාම ගිවිසුම කඩ කරමින් LTTE සාමාජිකයන් 2006 දී මාවිල් ආරු සොරොව්ව වසා දමමින් ත්‍රස්තවාදී ක්‍රියා නැවත ආරම්භ කළ අතර එය 4 වන ඊළාම් යුද්ධයට මග පෑදුවේ ය. මේ කාලයේ දී කෝප්‍රල් අනුර ශ්‍රී ලංකා සිංහ රෙජිමේන්තුවේ 7 වන බළඇණියට අනුයුක්ත ව සිටියේ ය.

පෙරියනම්පනේ ප්‍රදේශයේ බලය තහවුරු කරගැනීමේ පියවරක් ලෙස සිවු දෙනෙකුගෙන් යුත් කුඩා කණ්ඩායම් තුනක් යොදාගැනිණි. ඒ වනවිට සැරයන් තනතුරට උසස්වීම් ලබා සිටි අනුර ද මේ ක්‍රියාන්විතයට සම්බන්ධ වී සතුරු බල ප්‍රදේශ නිරීක්ෂණය කිරීම සඳහා 2007 සැප්තැම්බර් 10 වන දින ආරක්ෂක වළල්ලෙන් පිටත් විය.

ඉංජිනේරු සෙබළුන්ගේ සහයෝගය නොමැති ව පාබල සොල්දාදුවන් ලෙස ත්‍රස්තවාදීන් අටවන ලද මර උගුල්, බිම් බෝම්බ නිශ්ක්‍රිය කරමින් වෙඩි වරුසා මධ්‍යයේ සතුරු භූමිය සහ එහි අවට නිරීක්ෂණය කර නැවත ආරක්ෂක වළල්ල තුළට පැමිණියේ ය.

එසේ රැස් කළ බුද්ධි තොරතුරුවලට අනුව සැරයන් අනුර විසින් ප්‍රහාරය දියත් කිරීමට අවශ්‍ය සියලු සැලසුම් සකස් කර තමා සමඟ නිරීක්ෂණයට සහභාගි වූ සෙබළුන් ද සමඟ පසුදින අලුයම පිටත් විය.

LTTE මර උගුල්, බිම් බෝම්බ ඉවත් කරමින් තමන් බලාපොරොත්තු වූ ස්ථානයට ළඟා වීමේ දී ඔවුන්ට අනපේක්ෂිත ත්‍රස්ත ප්‍රහාරයකට මුහුණ දීමට සිදු විය.

කෙසේ හෝ සතුරු යුද අගල අත්පත් කරගැනීමේ අභිලාෂයෙන් සැරයන් අනුර සිය සහෝදර සෙබළුන්ට පෙරමුණින් අභීත ව යුද අගල දෙසට ගමන් කරන අතර දී අනපේක්ෂිත අයුරින් ආ සතුරු වෙඩි උණ්ඩයකට ලක් වී ඇද වැටුණේ ය. නමුත් තම සගයන්ගේ චිත්ත ධෛර්ය පහත වැටෙන්නට නොදී තමන් භාරගත් සටන අත්නොහරින බව පෙන්වමින් නැගී සිට සතුරු ප්‍රහාරවලට අභීත ව මුහුණ දෙමින් ඉදිරියට ම ගමන් කළේ ය.

සැරයන් අනුර තම දෑතට බෝම්බ දෙකක් ගෙන ඒවා සක්‍රිය කරගෙන සතුරු යුද අගලට පැන්නේ ය. බෝම්බ පුපුරා යෑමෙන්

සැරයන් අනුර සමඟ යුද අගලේ රැඳී සිටි ත්‍රස්තවාදීන් 5 දෙනෙක් ද ජීවිතක්ෂයට පත් වූහ.

සැරයන් අනුර තම ජීවිතය පරදුවට තබමින් තම කණ්ඩායමේ අරමුණු සඵල කරගැනීම සඳහා තම සහෝදර සෙබළුන්ගේ ජීවිත ආරක්ෂාව වෙනුවෙන් ඉටු කළ උදාර සේවය සඳහා වීරත්වය උදෙසා ප්‍රදානය කරන යුද සෙබළෙකුට ලැබිය හැකි උතුම් ම සම්මානය වන පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබුවේ ය.

## 3.29 ලාන්ස් කෝප්‍රල් කේ. පී. ඇම්. රාජපක්ෂ
**S/371780**



| | | |
|---|---|---|
| හමුදා ඒකකය | : | 57 වන විශේෂ ප්‍රහාරක ඒකකය 12 වන බළඇණිය, ශ්‍රී ලංකා සිංහ රෙජිමේන්තුව |
| මිය ගිය ස්ථානය | : | අඩම්පන් |
| උපන් දිනය | : | 1989 ජූනි 4 |
| මිය ගිය දිනය | : | 2008 දෙසැම්බර් 22 |
| වයස | : | 19 |
| විවාහක/අවිවාහක භාවය | : | අවිවාහක |
| මව | : | සිරියාවතී |
| පියා | : | බෝධිදාස රාජපක්ෂ |
| ලිපිනය | : | 119/1, වරදන්ගොල්ල, හසලක |
| ලබාගෙන ඇති පදක්කම් | : | පරම වීර විභූෂණය |

වයස 19 දී පරම වීර විභූෂණයෙන් පිදුම්ලත් දෙවන රණ විරුවා මහින්ද වේ. කලබටුවාවේ ගෙදර මහින්ද රාජපක්ෂ, 1989 ජූනි 4 වන දා හසලක වරදන්ගොල්ල ග්‍රාමයේ උපත ලැබුවේ ය. ඔහුගේ මව රාජපක්ෂගෙදර සිරියාවතී වූ අතර පියා කලබටුවාවේ ගෙදර බෝධිදාස විය. මහින්ද හට වැඩිමහලු සහ බාල සහෝදරයෝ ද සිටියෝ ය.

මහින්ද අධ්‍යාපනය ලැබුවේ මහියංගනය දිල්හාර මහ විද්‍යාලයෙනි. තම වැඩිමහලු සොහොයුරාගේ සසුන්ගත වීමත්, පියාගේ අකල් මරණයත් මහින්දගේ වැඩිදුර අධ්‍යාපනය කඩාකප්පල් වීමට හේතු විය. ඔහු තම පවුලේ බර කරට ගනිමින් කය වෙහෙසා කරන රැකියා වල ඉගෙන ගන්නා වයසේදී ම නිරත විය. වයස 18 සම්පූර්ණ වූ විට 2007 නොවැම්බර් 04 වන දින ආධුනික සෙබළකු ලෙස ශ්‍රී ලංකා යුද හමුදාවට එක් විය. තිසාවැව ශ්‍රී ලංකා යුද හමුදා සේවා බළකා පුහුණු පාසල වෙතින් සිය මූලික හමුදා පුහුණුව ලැබූ මහින්ද ශ්‍රී ලංකා සිංහ රෙජිමේන්තුවේ 12 වන බළඇණියට අනුයුක්ත විය.

මෙය සිංහ රෙජිමේන්තුවේ 12 වන බළඇණිය කිලිනොච්චියේ විශ්වමඩු ප්‍රදේශයේ මානුෂීය මෙහෙයුම් වල යෙදී සිටිමින් යුද ජයග්‍රහණ අත් කරගනිමින් සිටි කාලයකි.

සම්ප්‍රදායික යුද ක්‍රමවලින් මිදී කුඩා කණ්ඩායම්වලට අනුයුක්ත ව ආරක්ෂක වළල්ලෙන් පිටතට ගොස් ක්‍රියාන්විත වල යෙදීම LRRP ය ඉතා සාර්ථක යුද උපක්‍රමයක් ලෙස උපයෝගී කරගත් වකවානුවකි. කුඩා කණ්ඩායමක සාමාජිකත්වය ලැබූ මහින්ද මේ වනවිට සංග්‍රාම භූමියේ රණකාමිත්වය ප්‍රගුණ කළ රණ විරුවකු බවට පත් ව සිටියේ ය.

2008 ඔක්තෝබර් 16 වැනිදා සිංහ 12 වන බළඇණියට විශ්වමඩු ප්‍රදේශයේ ඇති පස් බැම්මක් හා විශාල යුද අගලක් ඉදිරියේ ඇති සතුරු බංකර පෙළක් අත්පත් කරගැනීමට නියෝග ලැබී තිබුණි. මහින්දගේ කණ්ඩායම මේ ක්‍රියාන්විතයට අනුයුක්ත ව සිටියේ ය. සතුරු ප්‍රහාරයේ බලය වැඩි නිසා මහින්ද ඇතුළු කණ්ඩායමට උපක්‍රමශීලී ව පසුබැසීමට සිදු විය. 2008 දෙසැම්බර් 22 වන දින අතහැර ආ සතුරු බංකර පෙළ නැවත නතු කරග ැනීමට ක්‍රියාන්විතයක් දියත් කිරීමට ඉහළින් නියෝග ලැබී තිබිණ.

ප්‍රබල සතුරු ප්‍රහාර මධ්‍යයේ හිස බිම හොවාගෙන සිටීම හැර වෙනත් කළ හැකි යමක් නොවී ය. මෙය මහින්දගේ නොඉවසිලිමත් භාවයට සහ චිත්ත ධෛර්යට කිසිසේත් ඔරොත්තු නොදෙන අවස්ථාවක් බවට පත් විය.

මහින්ද කිසිවෙකුගේ අනුදැනුමකින් හෝ උපදෙසකින් තොර ව එකවර ම නැගී සිට ඉලක්කය බලා RPG ප්‍රහාරයක් එල්ල කරමින් ප්‍රධාන සතුරු බංකරය විනාශකර දැම්මේ ය. ඉන්පසු ඔහු බංකරය තුළට පැන ඉතිරි ව සිටි සතුරන් 4 දෙනෙකු ජීවිතක්ෂයට පත් කළ අතර නැවතත් RPG අවියට බෝම්බ කවමින් යාබද සතුරු බංකර දෙකක් ද විනාශ කළේ ය. 4 වන බංකරය විනාශ කිරීමට ඔහු සතු ව RPG බෝම්බ නොතිබුණි. නමුත් ඉන් පසුබට නොවූ මහින්ද අත් බෝම්බ දෙකක් තම දෑතට ගෙන ප්‍රහාරය සඳහා ඉදිරියට ඇදුණේය. නමුත් අවාසනාවකට ඔහු සතුරු වෙඩි ප්‍රහාරයට ලක් වී බිම ඇදවැටුණේ ය. සගයන් මාරාන්තික තුවාල ලබා සිටි මහින්දගේ සිරුර ඔසවා යුද හමුදාව නතු කරගෙන සිටි බංකරයකට ගෙන ගියහ.

යුද හමුදාවේ පොදු අරමුණ වෙනුවෙන් තම ජීවිතය පරිත්‍යාග කොට තම මිතුරන්ගේ ජීවිත ද ආරක්ෂා කරගනිමින් සිදු කළ වික්‍රමාන්විත ක්‍රියාවට යුද සෙබලෙකුට පිරිනැමෙන ඉහළ ම සම්මානය වන පරම වීර විභූෂණයෙන් ඔහු පිදුම් ලැබුවේ ය. තරුණයකුගේ අවංකභාවය සහ පරාර්ථකාමීබව පරිණත පුද්ගලයකුට වඩා වැඩි බවට ඉතිහාසය පුරා සාක්ෂි මතු වී ඇත. ග්‍රාමීය තරුණයකුගේ අව්‍යාජ බව සහ දේශප්‍රේමීයත්වය නාගරික තරුණයකුට සාපේක්ෂ ව වැඩි බවට ද බොහෝ දෙනා විශ්වාස කරති. තම මවුබිමේ ඒකීයභාවය රැකගැනීමට චලෙයි හී දී දිවි පිදූ 19 හැවිරිදි සෙබළ රත්නායක ද අඩම්පන් හි දිවිපිදූ 19 හැවිරිදි ලාන්ස් කෝප්‍රල් මහින්ද ද සාමාන්‍ය පවුල්වල උපන් ගැමි තරුණයෝ වූහ. මොවුන් ප්‍රදර්ශනය කළේ වීරත්වයේ සාධකවල පොදු ගුණාකාරයයි.

## ශ්‍රී ලංකා නාවික හමුදාව

### 3.30 ලුතිනන් ජේ. ඇල්. ඩී. ඇස්. විජේතුංග
සේවා අංකය : **NRX 0517**



| | |
|---|---|
| ශාඛාව | : විධායක නිලධාරි |
| ඛාණ්ඩය | : KDA - 05 |
| මිය ගිය ස්ථානය | : චලෙයි |
| උපන් දිනය | : 1967 පෙබරවාරි 3 |
| මිය ගිය දිනය | : 1996 මාර්තු 30 |
| වයස | : 29 |
| විවාහක/අවිවාහක භාවය | : අවිවාහක |
| මව | : ඩබ්ලිව්. ඒ. ඩී. ඉසබෙල් |
| පියා | : එන්. ඇස්. සී. ඇස් විජේතුංග |
| ලිපිනය | : 435, සුනිල් බටපොල පාර, ඇල්පිටිය. |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය |

**ජූඩ් ලක්මාල් ද සිල්වා විජේතුංග** ලුතිනන් වරයකු ලෙස ශ්‍රී ලංකා නාවික හමුදාවේ සේවය කළේ ය. ඔහු 4 වන වේග ප්‍රහාරක යාත්‍රා කණ්ඩායමට අයත් ඩෝරා P 458, වේග ප්‍රහාරක යාත්‍රාවේ අණදෙන නිලධාරියා ද විය.

1996 මාර්තු 30 වන දින නිවාඩු ලබා සිටි විශාල භට පිරිසක් නාවික හමුදාවේ තවත් යාත්‍රා සමූහයක් ද සමඟ තම නිවෙස් බලා දිවයිනේ දකුණු දෙසට යාත්‍රා කරමින් සිටියහ. මේ පිරිස ගමන් කළ යාත්‍රාවට ආරක්ෂාව සැපයුවේ ඩෝරා අධිවේග යාත්‍රා P 331, P491 සහ P 458 සහිත 4 වන වේග ප්‍රහාරක යාත්‍රා කණ්ඩායම විය. P458 යාත්‍රාව මෙහෙයවූයේ ලුතිනන් ජූඩ් විජේතුංග ය. නමුත් මේ P 458 වේග යාත්‍රාව ඊට ඉහත දී කළ මෙහෙයුමකින් සිදු වූ අනතුරක් නිසා ඇති වන යාන්ත්‍රික දෝෂවලින් යුක්ත විය.

වේලාව දහවල් 12.00 ට පමණ යාත්‍රා කණ්ඩායමේ ප්‍රධාන යාත්‍රාව වන 'රණවිජය' නෞකාවට තමන් දෙසට වේගයෙන් එන සැක සහිත යාත්‍රාවක සංඥා නිරීක්ෂණය විය. මෙය උතුරු - නැඟෙනහිර 'චලෙයි' ප්‍රදේශයෙන් බව සනාථ කරගත් වහා ම ක්‍රියාත්මක වූ ආරක්ෂක යාත්‍රා සමූහය, මේ සැක සහිත යාත්‍රාව ප්‍රධාන නෞකාව වෙත පැමිණීම නැවැත්වීමට සූදානම් වූහ.

නාවික හමුදාවේ ආධාරක වේග ප්‍රහාරක යාත්‍රාවලින් කරන බාධක මැඬගෙන මරාගෙන මැරෙන මුහුදු කොටි යාත්‍රා, හමුදා පිරිස රැගෙන යන මේ නගෝරාමා නෞකාවට සමීප වීමට උත්සාහ දැරූහ. නාවික හමුදා වේග ප්‍රහාරක යාත්‍රා P 331 සහ P 491 එකතු වී ඉදිරියෙන් පැමිණි මුහුදු කොටින්ගේ මරාගෙන මැරෙන බෝට්ටු විනාශ කළහ. නමුත් දෙවන රැල්ලක් සේ මුහුදු කොටි යාත්‍රා සමූහයක් නගෝරාමා යාත්‍රාව දෙසට P 331 වලට ඇතින් වේගයෙන් ධාවනය වන්නට විය. මෙය නිරීක්ෂණය කළ විජේතුංග තම යාත්‍රාවේ යාන්ත්‍රික දෝෂය ද නොසලකා එය මුහුදු කොටි බෝට්ටු වෙතට ම නිර්භය ව ධාවනය කළේ ය.

P 458 (විජේතුංගගේ යාත්‍රාව) සාර්ථක ලෙස මුහුදු කොටි යාත්‍රා දෙකක් විනාශ කළේ ය. නමුත් තුන්වන  මුහුදු කොටි යාත්‍රාව විනාශ කිරීමට පෙර එය P 458 යාත්‍රාවේ ගැටීම නිසා යාත්‍රා දෙක ම පුපුරා ගියේ ය.

විජේතුංගගේ අභීත ක්‍රියාව නිසා 'නගෝරාමා' නෞකාවේ සිටි විශාල භට පිරිසකගේ ජීවිත ආරක්ෂා වුණි. P 458 අධිවේගී යාත්‍රාව විනාශ වී ගිලුණි. ඉන් දිවි ගලවාගත්තේ පත්මකුමාර නමැති නැවියා පමණි.

අවසන් මොහොතේ තැනට සුදුසු නුවණ යෙදූ විජේතුංගලා වැනි දිරිය පුතුන් ම අප ලක් මවට තව තවත් ලැබේවා යන්න හැර අපට පැවසීමට අන් යමක් නැත.

විජේතුංගගේ වික්‍රමයට උපහාර ලෙස ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලද්දේ ය.

## 3.31 ප්‍රධාන සුළු නිලධාරී කේ. ජී. ශාන්ත

සේවා අංකය : **XX 31243**



| | |
|---|---|
| ශාඛාව | : විශේෂ යාත්‍රා බලසෙණය |
| කණ්ඩායම | : 91 |
| මිය ගිය ස්ථානය | : නාගර්කෝවිල් |
| උපන් දිනය | : 1979 අගෝස්තු 04 |
| මිය ගිය දිනය | : 2008 නොවැම්බර් 01 |
| වයස | : 29 |
| පදක්කම ලැබූ දිනය | : 2009 ජනවාරි 07 |
| විවාහක/අවිවාහක භාවය | : විවාහක |
| මව | : ආර්. ඇම්. ඩොලිනෝනා |
| පියා | : කේ. ජී. ගුණතිලක |
| බිරිඳ | : ආර්. එම්. එස්. ආර්. දිසානායක |
| ලිපිනය | : 266/ඒ, නෝර්වුඩ් ඉහළ කොට්ඨාසය, නෝර්වුඩ්, හැටන්. |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය |

2008 නොවැම්බර් 01 වන දා පෙ.ව. 05.45 පමණ පේදුරුතුඩුව සහ නාගර්කෝවිල් මුහුදු තීරයේ දී මුහුදු කොටි ශ්‍රී ලංකා නාවික හමුදාව සමඟ ගැටුමක් ආරම්භ කළහ. සුළු නිලධාරියකු ලෙස

කේ. ජී. ශාන්ත ශ්‍රී ලංකා නාවික හමුදාවේ විශේෂ යාත්‍රා බළඇණියට අනුයුක්ත ව සිටියේ ය. ඔහු Z -142 ඇරෝ වර්ගයේ පෙට්‍රල් යාත්‍රාවේ නිලධාරියා විය. මේ යාත්‍රාව මිලි මීටර් 23 ස්වයංක්‍රීය තුවක්කුවක් සහ මැෂින් තුවක්කු දෙකකින් සන්නද්ධ ව තිබූ අතර, යාත්‍රාව ද මේ ප්‍රහාරයට යොදාගෙන තිබුණි.

ශාන්ත සහ ඔහුගේ කණ්ඩායම Z-142 යාත්‍රාවෙන් මුහුදු කොටින්ට ප්‍රහාර එල්ල කරන්නට විය. මේ යාත්‍රාවේ ඇති පහසු හැසිරවීමේ හැකියාව නිසා මෙවැනි ප්‍රහාරයක දී එය නාවික හමුදාවට විශාල බලයක් ගෙන දුන්නේ ය. සටන තීව්‍ර වීම නිසා මේ යාත්‍රාවේ සිටි තුවක්කු කරුවන් තුන්දෙනා ම මාරාන්තික තුවාල ලැබූහ.

මුහුදු කොටින්ගේ වැඩි අවධානය ශ්‍රී ලංකා නාවික හමුදාවේ විශාල යාත්‍රා දෙසට යොමු වී තිබුණි. කොටි P-164 විශාල ප්‍රහාරක යාත්‍රාව ඉලක්ක කරගනිමින් මරාගෙන මැරෙන බෝට්ටු මෙහෙයවන බව ශාන්ත නිරීක්ෂණය කළේ මේ අතර ය. තව ද P-164 යාත්‍රාවේ පිරිස 12 දෙනෙකු සිටින බව ද ශාන්ත දැන සිටියේ ය.

මේ වන විටත්, ශාන්ත සතු එක ම ප්‍රහාරක අවිය වූයේ තමන් සහ තම යාත්‍රාවයි. ඔහු තම යාත්‍රාව වේගයෙන් මෙහෙයවා මුහුදු කොටි බෝට්ටුවේ මාර්ගය හරස් කර එය හා තම යාත්‍රාව ඝට්ටනය කළේ ය. මෙය විශාල පිපිරීමකින් කෙළවර විය.

ශාන්ත තම ජීවිතය තම සහෝදර භට පිරිසක් වෙනුවෙන් එලෙස පූජා කළේ ය. මේ සටනේ දී ශ්‍රී ලංකා නාවික හමුදාවට Z-142 අධිවේග ප්‍රහාරක යාත්‍රාව අහිමි විය. මුහුදු කොටින් හට ඔවුන්ගේ මරාගෙන මැරෙන බෝට්ටු 4 ක් පමණ අහිමි විය.

සටන් කරන අවසන් තත්පරයේ ද, අඩංගු මහඟු වටිනාකම ලොවට හඬ ගා කියූ ශාන්තගේ දේශ මාමකත්වය අපට අමතක කළ නොහැකි ය.

ශාන්තගේ වික්‍රමාන්විත ක්‍රියාවට උපහාර ලෙස ඔහුගේ නිලය ප්‍රධාන සුළු නිලධාරි දක්වා උසස් වූ අතර, ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලැබුවේ ය.

## ශ්‍රී ලංකා ගුවන් හමුදාව

### 3.32 වින්ග් කමාන්ඩර් ටී. ඩී. ඇස්. සිල්වාපුල්ලේ

සේවා අංකය : **01502**



| | |
|---|---|
| ඒකකය | : 9 වන ප්‍රහාරක හෙලිකොප්ටර් බලසෙණ්ඩය |
| මිය ගිය ස්ථානය | : තමිලමඩම |
| උපන් දිනය | : 1966 ජූලි 22 |
| මිය ගිය දිනය | : 1999 දෙසැම්බර් 19 |
| වයස | : 33 |
| පදක්කම් ලැබුණු දිනය | : 2012 මැයි 19 |
| විවාහක/අවිවාහක භාවය | : විවාහක |
| මව | : කේ. පී. ඇස්. ප්‍රනාන්දු |
| පියා | : ජේ. ආර්. සිල්වාපුල්ලේ |
| බිරිඳ | : කේ. එන්. එම්. ශාමලි සිල්වාපුල්ලේ |
| ලිපිනය | : 71-99, ශාන්ත ජූඩ් පාර, කලගෙඩිහේන, කඩොල් කැලේ, මීගමුව. |
| ලබාගෙන ඇති පදක්කම් | : පරම වීර විභූෂණය<br>රණ වික්‍රම පදක්කම<br>රණ ශූර පදක්කම |

**සිල්වාපුල්ලේ** කොළඹ ශාන්ත ජෝශප් විද්‍යාලයේ ආදි සිසුවෙකි. ඔහු ශ්‍රී ලංකා ගුවන් හමුදාවේ සේවය කළ දක්ෂ හෙලිකොප්ටර නියමුවකු විය. උතුරේ යුද ක්‍රියාන්විතයක දී ඔහු සමඟ ඔහුගේ යානය සතුරු වෙඩි ප්‍රහාරයකින් විනාශ විය. බළගණ නායක සිල්වාපුල්ලේ ශ්‍රී ලංකා ගුවන් හමුදාවේ එකම පරම වීර විභූෂණයෙන් පිදුම් ලත් රණවිරුවා ය.

1986 මැයි 18 වන දින ටිරෝන් සිල්වාපුල්ලේ ගුවන් නියමුවකු ලෙස ශ්‍රී ලංකා ගුවන් හමුදාවට බැඳුණේ ය. ඔහු උතුරු නැඟෙනහිර යුද ක්‍රියාන්විතවලට සක්‍රීය ව දායක වූ යුද නියමුවෙකි. සිල්වාපුල්ලේ Bell - 212 සහ MI - 17 ප්‍රහාරක හෙලිකොප්ටර නියමුවකු ලෙස ද පසු ව MI - 24 ප්‍රහාරක හෙලිකොප්ටර නියමුවකු ලෙස ද සේවය කර ඇත.

1999 දෙසැම්බර් 19 වන දා අලිමංකඩ ආසන්නයේ තමිල්මඩම්හි පිහිටි ශ්‍රී ලංකා යුද හමුදා කඳවුරේ ඉදිරි ආරක්ෂක වළල්ල කොටි බෝට්ටු කණ්ඩායමක දැඩි ප්‍රහාරයකට ලක් විය. ගුවන් හමුදාව ප්‍රහාරයට ලක් වන යුද හමුදා භටයන්ට ආරක්ෂාව සැපයීම පිණිස MI - 24 ප්‍රහාරක යානා දෙකක් යෙදවී ය. සිල්වාපුල්ලේ ශ්‍රී ලංකා ගුවන් හමුදාවේ CH - 618 හෙලිකොප්ටරය මෙහෙයවූයේ ඒ සහාය දීම සඳහා ය.

සිල්වාපුල්ලේට අභියෝග කිහිපයකට මුහුණ දීමට එහි දී සිදු විය. එනම් කොටි බෝට්ටුවලින් ශ්‍රී ලංකා යුද හමුදා භටයන්ට කරන ප්‍රහාර වැළැක්වීම, සතුරා සතු ව ඇති ගුවන් යානා නාශක මිසයිල ප්‍රහාරවලින් ආරක්ෂා වීම සහ එදින පැවැති අයහපත් කාලගුණයේ ප්‍රතිරෝධයෙන් තම යානය පාලනය කරගැනීමයි. සිල්වාපුල්ලේ තම සහායක තුවක්කු කරුවන්ට ආරක්ෂිත ව සිටීමට අණ කර ඔහු සතුරාට ප්‍රහාර එල්ල කිරීමට පටන්ගත්තේ ය. මේ ප්‍රබල ගුවන් ප්‍රහාර හමුවේ කොටි බෝට්ටු ඒ ප්‍රදේශයෙන් පලා ගියහ. සිල්වාපුල්ලේ මේ පලා යන බෝට්ටු පසුපසින් ගොස් ගුවන් ප්‍රහාර එල්ල කරන්නට විය. නමුත් සිල්වාපුල්ලේගේ හෙලිකොප්ටරය, සතුරා විසින් එල්ල කෙරුණු ගුවන් යානා නාශක අවියකින් ප්‍රහාරයට ලක් විය. ඔහුගේ යානය ගිනි ගෙන

වෙට්ටිලායිකර්නි කළපුවට වැටුණේ ය. සිල්වාපුල්ලේ සහ ඔහුගේ සහායක තුවක්කු භටයයෝ දෙදෙනා ගින්නෙන් ජීවිතක්ෂයට පත් වූහ.

හිස් අහස තුළ හුදෙකලා වී රට දැය බේරාගැනීමේ මහා සටනට සිල්වාපුල්ලේ නිර්භය ව උර දුන් අයුරු මතු තරුණ පරපුරට ද මනා ආදර්ශයකි.

සිල්වාපුල්ලේගේ වික්‍රමයට උපහාර වශයෙන් ඔහුගේ නිලය වින්ග් කමාන්ඩර් දක්වා උසස් කෙරිණි. ඔහු පරම වීර විභූෂණයෙන් පිදුම් ලද්දේ ය.

## හතර වන කොටස

# සමස්ත විශ්ලේෂණය සහ නිගමනය

## 4.1 සමස්ත විශ්ලේෂණය

දෙවන ලෝක යුද්ධයේ ජයග්‍රහණ සැමරුම් පෙළපාලියක් ඉතා උනන්දුවෙන් ම නිරීක්ෂණය කරමින් සිටි කුඩා පිරිමි ළමයෙක් ඉන් ලැබුවේ ඉමහත් ආස්වාදයකි. පසු ව ඔහු ළඟ සිටි වයෝවෘද්ධ යුද හමුදා නිල ඇඳුමින් සන්නාහ වූ ප්‍රවීණයෙකුට ළං වී ඉතා යටහත් පහත් ව ප්‍රශ්නයක් ඇසීමට ඔහුට සිතිණ.

"මහත්මයා යුද වීරයෙක් වීම ගැන ඔබගේ හැඟීම මට විස්තර කරන්න පුළුවන් ද?"

යුද ප්‍රවීණයාගේ මුහුණ ශෝකයෙන් බර විය. ඔහු කුඩා දරුවාට උත්තර දුන්නේ මෙලෙස ය.

"පුතා මම යුද්ධයෙන් මිය නොගිය පුද්ගලයකු පමණයි. අපි යුද වීරයන් සියල්ලන් ම භූමදානය කළා."

යුද්ධය අවුල් සහගත ය. එය අතිශයින් දරුණු ය. වේදනාකාරී ය. එනමුත් කුරිරු යුද්ධය මැද්දේ වුව මනුෂ්‍යත්වය වීරත්වයේ වේශයෙන් පැමිණ එය එළිය කරන අයුරු ඉතා අපූරු ය. රණවිරුවෝ තම ජීවිත පුදා සහෝදර සොල්දාදුවන් ආරක්ෂා කරති. මෙය වීරත්වය අර්ථ දැක්වීමක් ලෙසට යොදා ගැනීම ම ශ්‍රේෂ්ඨයි. වීරයා තමා ගැන පමණක් ම සිතා කටයුතු නොකරන අතර, තම ජීවිතය ගැන නොසිතමින් සිය නිර්භීතකම ප්‍රදර්ශනය කරයි.

දශක තුනක් පැවැති යුද්ධය මඟින් උතුරු සහ නැඟෙනහිර සටන් බිමේ දී මෙවන් වීරයන් රැසක් අප රටට දායාද විය. මේ වීරයන්ගේ කැප කිරීම් නිසා අපට අද නිදහසේ හුස්ම ගැනීමට රටක් ජාතියක් ඉතිරි වී ඇත. අන් අය අභිභවමින් ප්‍රදර්ශනය වූ සොල්දාදුවන් 32 දෙනෙකුගේ වීරත්වයෙහි විස්තර මේ පොතේ සටහන් කර තිබේ. තම ජීවිත පරදුවට තබමින් කළ පහර දීම් ඔවුන් අමරණීය භාවයට පත් කර ඇති අයුරු අපූරු ය. මෙවැනි වීරයන් ඉදිරි පරම්පරාවේ ද ගෞරවයට පාත්‍ර වනු නොඅනුමානයි.

පරම වීර විභූෂණය ශ්‍රී ලාංකේය ත්‍රිවිධ හමුදාවල වීරත්වය සඳහා ප්‍රදානය කරන ඉහළ ම සම්මානය වේ. දශක තුනක් තුළ පැවැති යුද්ධයේ දී සොල්දාදුවන් 32 දෙනෙක් මේ සම්මානයෙන් පිදුම් ලදහ. මෙය බ්‍රිතාන්‍යයේ 'වික්ටෝරියා ක්‍රොස්' සහ උතුරු ඇමරිකාවේ 'මෙඩල් ඔෆ් ඔනර්' ආදි ගරු සම්මානවලට සම කළ හැකි ය.

මෙකී සොල්දාදුවන් 32 දෙනා උපරිම වීරත්වය ප්‍රදර්ශනය කර ඇත්තේ සාමාන්‍ය සොල්දාදුවන් ලෙස වීමත් ඉතා වැදගත් ය. ඔවුන් හමුදා නායකයන් හෝ නාවික අද්මිරාල් වරු නොවූහ. මොවුන්ගෙන් 13 දෙනෙකු පමණක් නිලධාරි තනතුරු දැරූ අතර, අනෙක් 19 දෙනා සාමාන්‍ය සොල්දාදුවෝ වූහ. 29 දෙනෙක් ශ්‍රී ලංකා යුද හමුදාවෙන් ද, දෙදෙනකු නාවික හමුදාවෙන් ද වූ අතර, එක්කෙනෙක් ගුවන් නියමුවෙක් විය. මොවුන්ගෙන් කිසිවෙකු මේ පදක්කම පැළඳි පසු එහි සැලකිලි ලැබීමට ජීවත් වූයේ නැති උදවියයි. හමුදා ව්‍යවහාරයට අනුව ඉහළ ම හමුදා නිලධාරියා වුව ද, ඔහු කුමන නිලයකට අයත් වුව ද මේ පදක්කම් ලාභියා ඉදිරියේ දී ඔහුට ආචාර කළ යුතු වේ.

පරම වීර විභූෂණය 1981 වසරේ දී ස්ථාපිත වූ අතර, එහි පළමු පදක්කම් 3 පිරිනැමුණේ 1990-1993 දී ය. සාම සාකච්ඡා බිඳ වැටීමෙන් පසු ව 1995-2002 කාලයේ දී එය 6 දෙනෙකුට ප්‍රදානය කෙරිණි. අන්තිම අවුරුදු දෙකේ දී එය 23 වරක් ප්‍රදානය

කිරීමට සිදු විය. ඒ අනුව, මින් අප රටේ පැවැති යුද්ධයේ බිහිසුණු භාවය කාලවකවානු අනුව අවබෝධ කරගැනීමට හැකි වනු නිසැක ය.

නමුත් LTTE ය විසින් යුද හමුදා කඳවුරු සම්පූර්ණයෙන් විනාශ කර සෙබළුන් සමූල ඝාතනය කළ අවස්ථාවල දී අභීත ව සටන් කළ අනෙකුත් රණවිරුවන් ගැන සඳහනක් ද නැත. එවන් අවස්ථාවන්හි දී ත් මෙවැනි කැප කිරීම් කළ රණවිරුවන් සිටි බව මෙහිලා සටහන් කළ යුතු ම කරුණකි.

පරම වීර විභූෂණය ලැබූ රණවිරුවන් 32 දෙනා ම පිරිමි උදවියයි. කිහිප දෙනෙකු හැර අන් අය තරුණයෝ ය. මොවුන්ගෙන් පරිණතම රණවිරුවා 39 හැවිරිදි තම යුද හමුදා දිවියේ දී වීරත්වය බොහෝ අවස්ථාවල දී ප්‍රදර්ශනය කළ කර්නල් ලාෆීර් වූ අතර, බාලයා 19 හැවිරිදි සාමාන්‍ය සෙබළ ආර්.එම්.ඩී.එම්. රත්නායක විය. එමෙන් ම එකොළහක් වයස 25 ට අඩු අතර, දස දෙනෙක් 26 - 30 වයස් පරතරයේ වූහ. තවත් නව දෙනෙක් 31 - 35 වයස් කාණ්ඩයට අයත් වූහ. 16 දෙනෙක් විවාහ වී සිටියහ. 24 දෙනෙක් දුෂ්කර ප්‍රදේශවල අඩු ආදායම් ලාභී පවුල්වලින් නියෝජනය වූ දරුවෝ වූහ.

ඉතිහාසයේ ද සඳහන් පරිදි බොහෝ රටවල, රට වෙනුවෙන් සටන් කර දිවි පුද ඇත්තේ සාමාන්‍ය ජනතාව නියෝජනය කරන උදවියයි. ඔවුන් තම ජීවිතය පුදා මවුබිමේ උරුමය ආරක්ෂා කරගැනීමට ඉදිරිපත් වූහ. ඔවුන් ලබාගත් යුද ජයග්‍රහණ මඟින් ඔවුන්ගේ හෝ ඔවුන්ගේ පවුල්වල ආදායම් තත්ත්වය හෝ සමාජ තලය ඉහළ නැඟීමක් සිදු නොවන්නේ ය. මෙවැනි වීර ක්‍රියා බොහොමයක් අවධානයට ලක්වන්නේ හෝ ලේඛනගත වන්නේ ද නැත. එය ටික කලකින් ම සාමාන්‍ය ජනයාට අමතක වී යෑම ස්වාභාවිකයි.

කොටි සාමාන්‍යයෙන් සාම්ප්‍රදායානුකූල ව සටන් නොකළහ. ඔවුන්ගේ තිබුණේ ගරිල්ලා සටන් පමණි. ඊට රීතියක් නැත. ඔවුහු, අඩු ආදායම් ලාභී ද්‍රවිඩ තරුණයන් හට වැරදි අවබෝධය

ඇති කර විනාශකාරී කටයුතුවලට යෙදූහ. යුද්ධය උත්සන්න වී එහි කුරිරු බව වැඩිවීමේ දී ඔවුන්ගේ භටයන් සංඛ්‍යාවේ වැඩිවීමක් මිස අඩුවීමක් නොවුණි. තව ද කාන්තාවන්, ළමා සොල්දාදුවන් සහ මරාගෙන මැරෙන ක්‍රියාකාරීන්ගෙන් අඩුවක් ද ඔවුන්ට නොවී ය. නමුත් සාම්ප්‍රදායික හමුදාවකට ත්‍රස්තවාදී ක්‍රියා පිළිවෙත් අනුගමනය කළ නොහැකි ය. මෙවැනි වාතාවරණයක දී කොටි ත්‍රස්තවාදය පැරදවීමට සැබවින් ම ඉවහල් වූයේ පරම වීර විභූෂණ ලාභී සොල්දාදුවන් වැනි වීරත්වය කිඳා බැස ගත් පිරිසකි. තම මවුබිම ආරක්ෂා කිරීමට සටන් බිමට බැසීම හැර අන් අරමුණක් ඔවුන් තුළ නැත.

## 4.2 නිගමනය

අප රටේ ඉතිහාසය විදේශීය යටත් කිරීම් සහ යටත් විජිත පාලනය වැනි අප්‍රසන්න කාලවකවානුවලින් පිරී ඉතිරී පවතී.

අප සතු ව තිබූ කෘෂිකර්මයෙන් ස්වයංපෝෂිත වූ ආර්ථික ක්‍රමය සහ සංස්කෘතික වටිනාකම් මේ ආක්‍රමණ සමඟ විනාශ වී ගිය අයුරු ඛේදජනක කතාවකි. බහුතර ජනතාවට සිය දේපළ ද අහිමි විය.

නමුත් බලවත් රටවල් ලෝකය තුළ ගොඩනඟා ඇති ශිෂ්ට සම්පන්න ප්‍රතිරූපය විසින් අද ඔවුන්ගේ යටත් විජිත පවත්වා ගැනීම අභාවයට ගොස් ඇත. මෙය පාලන ක්‍රමවල වෙනස්වීමක් ලෙසට අර්ධ සංවර්ධිත රටවලට බල කිරීමේ වේශයකින් ක්‍රියාත්මක වේ. මෙහි මූලබීජය ත්‍රස්තවාදී සංවිධාන ලෙස ඉතා සුළුතරයකින් පටන් ගෙන ඊට මාධ්‍යය මඟින් ජාත්‍යන්තර ප්‍රතිරූප ද ගොඩනඟා ගැනීමට ඉඩ දී රට තුළ සිවිල් යුද්ධයක් දක්වා වර්ධනය කරවීම ඔවුන්ගේ පරම අභිලාෂයයි.

බටහිර රටවල් තමන්ගේ න්‍යාය පත්‍රවලට අනුව ත්‍රස්තවාදී සංවිධාන වර්ගීකරණය කරයි. බලවත් රටවලට පක්ෂපාතී රටවල ඇති වන ත්‍රස්තවාදී කල්ලි මර්දනය සඳහා උදවු ලැබේ. ඒ රටවල් සමඟ සම්බන්ධතා නැති රටවල් හමුවේ දී ත්‍රස්තවාදීන් විමුක්තිකාමීන් ලෙස වෙනත් රටවල සහයෝගය සහිත ව

වර්ධනය වේ. මෙය නූතන ලෝකයේ යටත් විජිත වාදයේ අලුත් ප්‍රවණතාවයි. ශ්‍රී ලංකාවේ කොටි ත්‍රස්තවාදයට ද නොමඳ ව විදේශ රටවලින් සහයෝගය ලැබුණි. ඉතා සුළු පිරිසකින් ආරම්භ වූ මේ සංවිධානය පසු ව විදේශ පුහුණුව ලබා අරමුදල් රැස්කරමින් ජාත්‍යන්තර ත්‍රස්තවාදී සංවිධානයක් බවට පත් වී, තුන් වන ඊළාම් යුද්ධය වන විට ශ්‍රී ලංකා හමුදාවටත් වඩා බලවත් ව සිටියහ.

ජාතීන් අතර අසමගිය බොහෝ රටවල පවතින සනාතනික ප්‍රශ්නයකි. මෙය කාලයෙන් කාලයට බලපාන ප්‍රශ්න අනුව අඩු වැඩි වේ. ජාතීන් අතර සම්පත් බෙදී යෑමේ විෂමතාව අනුව එය අඩු වැඩි විය හැකි ය. තව ද, දේශපාලන නායකත්වය විසින් මෙය සිය පටු චේතනා මත වර්ධනය කිරීමේ හෝ සමනය කිරීමේ ප්‍රවණතාවක් ද පවතියි.

බොහෝ විට රට තුළ ජාතීන් අතර ඇති ප්‍රශ්න මාධ්‍යය මඟින් ජාත්‍යන්තර ප්‍රශ්න ලෙස හුවා දැක්වෙයි. බලවත් ජාතීන් ද වෙනත් කපටි අරමුණු සහිත ව මෙයට මැදිහත් වීමේ ප්‍රවණතාවක් ඇති බව මෑත ඉතිහාසයේ දී අප්‍රිකානු රටවල සහ ඉරාකය, ලිබියාව, ඊජිප්තුව වැනි රටවල සිදු වූ පාලන බල පෙරළි මඟින් පැහැදිලි වේ. නමුත් අවසානයේ දී ඒ රටවල සාමාන්‍ය ජනතාව උග්‍ර අපහසුතාවලට පත් වූවා මිස ජාත්‍යන්තර මැදිහත් වීම නිසා ඔවුන්ට සිදු වූ සුගතියක් ඇත්තේ ම නැත.

ශ්‍රී ලංකාවේ ද්‍රවිඩ සහ සිංහල ජාතීන්ගේ ගැටීම ශත වර්ෂ ගණනක සිට පැවැත එන්නකි. ඔවුහු කාලයේ වෙනස් වීමත් සමඟ සමගියෙන් සමාදානයෙන් සිටි අතර, විශ්වාසය බිඳුණු විට විරුද්ධවාදී කම් ද ඇති කරගත්හ. නමුත් මෙහි සංකීර්ණ භාවය බ්‍රිතාන්‍ය යටත් විජිත සමයේ දී වැඩි වූවා විය හැකි ය. එහෙත් නිදහසෙන් පසු බිහි වූ දේශීය දේශපාලනඥයෝ එය උග්‍ර ප්‍රශ්නයක් ලෙස වර්ධනය කිරීමට සහයෝගය දුන්හ.

දෙමළ ත්‍රස්තවාදය මෙහි අතුරු ප්‍රතිඵලයක් විය. 1970 ට පෙර සිට සුළුවෙන් පටන්ගත් මේ සංවිධානය 1983 කළු ජූලි කලබල

දක්වා උග්‍ර වීමෙන් ඉතා ප්‍රබල ව ජාත්‍යන්තර තලයට ඔසවා තැබූ ත්‍රස්තවාදීහු බවට ම පත් වූහ.

ශ්‍රී ලංකා රජය දෙමළ ත්‍රස්තවාදයට එරෙහි ව ප්‍රථම වරට යුද ප්‍රකාශ කළේ 1980 මුල කාලයේ දී ය. මේ යුද්ධය දේශීය සහ විදේශීය මැදිහත්වීම් නිසා ශ්‍රී ලංකා යුද හමුදාව විසින් ම නැවැත්වීමට සිදු විය. මෙහිලා සිදු වූයේ කොටි සංවිධාන දුර්වල වූ කාලවල සාම සාකච්ඡා පැවැත්වීමත්, මේ කාලය තුළ දී ඔවුන් සංවිධානය වී බලවත් වූ පසු නැවත සටන් විරාම ගිවිසුම් උල්ලංඝනය කර සටන් කිරීමට අවතීර්ණ වීමත් ය.

මෙවැනි සාධක නිසා මේ විනාශකාරී යුද්ධය තුන්වරක් ම නවතාලීමට සිදු විය. ඊළාම් යුද්ධ 4 ක් සිදු විය. අතිමහත් විනාශයක් මුළු රට ම විනාශ කරන තත්ත්වයක් පැවතුණි. යුද්ධය අවසන් කිරීමට වසර 30 ක පමණ වූ කාලයක් ගත විය.

දැන් යුද්ධය අවසන් වී ඇත. සියලු ජාතීන් අතර සංහිඳියාවට කාලය එළඹ ඇතැයි සිතමු.



කොලු කුරුට්ටන් ගරිල්ලන් බවට පත්විය

## පස්වන කොටස

# අමතර විස්තර, ලුහුඬු කිරීම්, ආශ්‍රිත ග්‍රන්ථ හා ලිපි

## 5.1 ද්‍රවිඩ ත්‍රස්ත කණ්ඩායම්

### TELO - දමිළ ඊළාම් විමුක්ති සංවිධානය

ද්‍රවිඩ ඊළාම් විමුක්ති සංවිධානය ආරම්භ වූයේ ශ්‍රී ලංකාවේ උතුර සහ නැගෙනහිර වෙනම ද්‍රවිඩ රාජ්‍යයක් ප්‍රතිස්ථාපනය කිරීමේ ව්‍යාපාරයක නිරත වීමට ය. මෙය 1960 වසරවල ද්‍රවිඩ විප්ලවකාරී ශිෂ්‍ය කොටස් විසින් නඩරාජා තංගතුරෙයි සහ සෙල්වරාජා යෝගචන්ද්‍රන් (කුට්ටුමනී) ගේ නායකත්වයෙන් ආරම්භ විය. මෙහි කාර්යක්ෂම භාවය දෙවැනි වූයේ LTTE යට පමණි.

1981 දී මොවුන්ගේ නායකයන් දෙදෙනා ම ශ්‍රී ලංකා යුද හමුදාව විසින් අල්වා ගැනිණි. මොවුන්ගේ විශාල පිරිසක් LTTE ය සමග ඇති වූ ගැටුම්වලින් මිය ගියහ. යළි 1986 න් පසු ඔවුහු ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලනයට එළඹුණහ.

### PLOTE - දමිළ ඊළාම් ජනතා විමුක්ති සංවිධානය

මේ සංවිධානය 1980 දී ගොඩනැගුණ වෙනම ද්‍රවිඩ රාජ්‍යයක් සඳහා බිහි වූ සන්නද්ධ කණ්ඩායමකි. මෙය සංවිධානය කරන ලද්දේ වෘත්තියෙන් මිනින්දෝරුවකු වූ උමා මහේෂ්වරන් විසිනි. ඔහු 1977 - 1980 කාලයේ දී LTTE නායකත්වය දැරුවේ ය. පසු ව ප්‍රභාකරන් සමග ඇති වූ ගැටුමින් පසු ඔහු ඉන් ඉවත් වී PLOTE සංවිධානය කළේ ය.

PLOTE සංවිධානයට ජාත්‍යන්තර සම්බන්ධතා රාශියක් ගොඩනගාගැනීමේ හැකියාව තිබුණි. ඔවුහු පලස්තීන,

ටියුනීසියානු, දකුණු අප්‍රිකා සහ කියුබා රාජ්‍යවල කොමියුනිස්ට් පක්ෂ සහ සටන්කාමීන් සමඟ සම්බන්ධකම් පැවැත්වූහ.

LTTE සමඟ ඇති වූ ගැටුම්වලින් PLOTE බලය පිරිහී ගියේ ය. 1989 ජූලි 16 දා උමා මහේෂ්වරන් කොළඹ දී ඝාතනය කෙරිණි.

## EPRLF - ඊළාම් ජනතා විප්ලවවාදී විමුක්ති පෙරමුණ

මේ සංවිධානය 1980 දී පද්මනාභ, ඩග්ලස් දේවානන්ද, සුරේෂ් ප්‍රේමචන්ද්‍රන් සහ වර්ධරාජා පෙරුමාල් විසින් EROS සංවිධානයෙන් වෙන් වී ආරම්භ කෙරුණකි.

1986 දී මොවුන්ගේ සාමාජිකයෝ රාශියක් LTTE ය විසින් ප්‍රහාර එල්ල කිරීමෙන් මරුමුවට පත් වූහ. 1988 දී ඔවුහු ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලන පක්ෂයක් බවට පත් වූහ.

## TELA - දමිළ ඊළාම් විමුක්ති හමුදාව

මේ සංවිධානය ආරම්භ වූයේ TELO සංවිධානයේ සන්නද්ධ කණ්ඩායමක් ලෙසිනි. පසු ව 1982 දී ඔවුන්ගෙන් බිඳී වෙනම සංවිධානයක් බවට පත් විය.

TELA සංවිධානය තංගතුරෙයි විසින් තොන්ඩමනාරු වල පිහිටා ඇති හින්දු දේවස්ථානයක 1977 දී ස්ථාපිත කෙරිණි. මොවුහු LTTE ය තරමට ම පිරිස් බලයෙන් තරවූ කල්ලියක් බවට පත් ව සිටියහ. පසු ව TELO සහ TELA අතර ගැටුම්වලින් ඔවුන්ගේ නායකයන් සහ පිරිස් බලය ඝාතනය විය.

## EROS - ඊළාම් විප්ලවකාරී ශිෂ්‍ය සංවිධානය

ආරම්භ වූයේ 1975 එලියතම්බි රත්න සභාපති, වී. බාලකුමාරන් සහ බාලරාජ් ගෙනි. ඔවුන් එය ආරම්භ කළේ ද්‍රවිඩ භාෂාව කතා කරන පිරිස් සඳහා වූ මාක්ස්වාදී පක්ෂයක් ලෙසිනි. මොවුන්ගේ

සංවිධානය නැගෙනහිර වූ මඩකලපුව, අම්පාර වැනි ප්‍රදේශවල ද යාපනයේ ද පැතිරිණ. මොවුහු මුස්ලිම් තරුණයන් ද බඳවා ගත්හ.

EROS පලස්තීන විමුක්ති සංවිධානය සමඟ සම්බන්ධ වී ගරිල්ලා සටන්ක්‍රම පුහුණු වූහ. ප්‍රභාකරන් ද මොවුන්ගේ ආධාර ඇති ව විදේශීය ගරිල්ලා පුහුණුව ලබාගත්තේ ය. මොවුන්ගෙන් සමහර පිරිස් ලන්ඩන් නුවරට ම සීමා විය. 1989 පසු ඔවුහු ශ්‍රී ලංකාවේ ප්‍රජාතන්ත්‍රවාදී දේශපාලන පක්ෂයක් බවට පත් වූහ.



LTTE නායක වේලුපිල්ලේ ප්‍රභාකරන්

## LTTE - දමිළ ඊළාම් විමුක්ති කොටි සංවිධානය

මේ සංවිධානය 1976 දී වේලුපිල්ලේ ප්‍රභාකරන් විසින් උතුරු නැගෙනහිර වෙනම ද්‍රවිඩ රාජ්‍යයක් බිහි කිරීමේ අරමුණින් ස්ථාපිත කෙරිණි. මොවුහු 1983 - 2009 දක්වා සිවිල් යුද්ධ රැසක් ශ්‍රී ලංකා රජයට එරෙහි ව මෙහෙයවූහ. 2009 වර්ෂයේ දී මහින්ද රාජපක්ෂ රජය කාලයේ දී පරාජය ලැබ අවසන් විය.

මොවුන් බලවත් ව සිටියදී විශාල මනුෂ්‍ය ඝාතන කළා මෙන් ම දේශපාලන නායකයන් ද ඝාතනය කළහ. ඔවුන් අතර ඉන්දීය අගමැති රජීව් ගාන්ධි ද ශ්‍රී ලංකා ජනාධිපති රණසිංහ ප්‍රේමදාස ද වේ.



LTTE ළමා සොල්දදුවෙක්

LTTE යේ ඉතිහාසය 1970 කාලය දක්වා අතීතයට දිව යයි. ඔවුහු ද්‍රවිඩ තරුණයන් 40 ට ආසන්න පිරිසකගෙන් ආරම්භ වී සැඟවී සිට සුළු පරිමාණයේ පහර දීම් සිදු කළහ. 1975 යාපනයේ නගරාධිපති ඇල්ෆ්‍රඩ්දොරෙයි අප්පා ඝාතනය LTTE ය විසින් කෙරුණකි.



LTTE කාන්තා භට පිරිසක්

## 5.2 LTTE ය විසින් සිදු කෙරුණු දරුණු පහර දීම්

1970 දී පමණ කුඩා කණ්ඩායම් ලෙස සන්නද්ධ වූ කණ්ඩායම් '1983 කළු ජූලියෙන්' පසු බලවත් ත්‍රස්ත කල්ලි බවට පත් වූහ. ඔවුහු ජාත්‍යන්තර අවධානය දිනාගෙන එමගින් ගරිල්ලා සටන් පුහුණුව සහ ආයුධ සැපයුමට ඉඩ සලසාගත්හ. මොවුහු ජාතිවාදී අරගල වැඩි කිරීමේ අවධානයෙන් දේශපාලන නායකයන්, සිවිල් ජනතාව, ආර්ථික මර්මස්ථාන සහ ආගමික සිද්ධස්ථානවලට පහර දුන්හ. ඒ ම්ලේච්ඡ ක්‍රියාවලින් සමහරක් පහත සඳහන් වේ.

### 5.2.1 LTTE ය විසින් ඝාතනය කෙරුණු දේශපාලන නායකයන්ගෙන් සමහරෙක් මෙලෙස ය.



ශ්‍රී ලංකා ජනාධිපති රණසිංහ ප්‍රේමදාස 1993 මැයි 01 වන දින LTTE විසින් ඝාතනය කෙරිණි. එක්සත් ප්‍රවෘත්ති පත්‍ර සමාගමේ ඡායාරූපයකි

# LTTE ය සිවිල් වැසියන් හට දරුණු පහරදීම් සිදුකල ස්ථාන



| | දිනය සහ ස්ථානය | විස්තරය | ඝාතනයට ලක් වූ සහ තුවාල වූ සංඛ්‍යාව |
|---|---|---|---|
| 1<br>*1* | 1975/07/27<br>යාපනය | යාපනය නගරාධිපති ඇල්ෆ්‍රඩ් දොරෙයි අප්පා වෙඩි තබා ඝාතනය කෙරිණි. ඔහු නීතිඥයකු විය. 1952 දේශපාලනයට පැමිණි ඔහු 1958 දී යාපනයේ නගරාධිපති බවට පත් විය. | ඝාතනය වූ ගණන 02 |
| 2<br>*2* | 1980/01/02<br>කිලිනොච්චි | කිලිනොච්චි UNP සංවිධායක සුබ්‍රමනියම් වෙඩි තබා මරා දැමිණි. | ඝාතනය වූ ගණන 01 |
| 3<br>*3* | 1981/05/24<br>මඩකලපුව | දිස්ත්‍රික් සංවර්ධන සභා ඡන්දයේ UNP අපේක්ෂක ත්‍යාගරාජා වෙඩි තබා මරා දැමිණි. | ඝාතනය වූ ගණන 01 |
| 4<br>*4* | 1982/11/15<br>යාපනය | යාපනයේ පුත්තලායිකඩුවන් UNP සංවිධායක වල්ලිපුරම් තම්බිපිල්ලේ වෙඩි තබා ඝාතනය කෙරිණි. | ඝාතනය වූ ගණන 01 |
| 5<br>*5* | 1983/01/19<br>වවුනියාව | වවුනියා UNP සංවිධායක K.T. පුලේන්ද්‍රන් වෙඩි තබා ඝාතනය කෙරිණි. | ඝාතනය වූ ගණන 01 |
| 6<br>*6* | 1983/04/29<br>යාපනය | පේදුරුතුඩුවේ නගර සභා ඡන්දයේ UNP අපේක්ෂක KV රත්නසිංහම් වෙඩි තබා ඝාතනය කෙරිණි. | ඝාතනය වූ ගණන 01 |
| 7<br>*7* | 1989/07/13<br>කොළඹ | හිටපු විපක්ෂ නායක, පාර්ලිමේන්තු මන්ත්‍රී ඒ අමිර්තලිංගම් ඔහුගේ නිවසේ දී වෙඩි තබා ඝාතනය කෙරිණි. ඔහු 1927 උපත ලබා, යාපනයේ මිහාන්දන් ද්‍රවිඩ පාසලෙන් මූලික අධ්‍යාපනය ලබා විශ්වවිද්‍යාල අධ්‍යාපනය ලැබූවෙක් විය. ඔහු නීතිඥයෙක් විය. 1946 ෆෙඩරල් පක්ෂයට බැඳුණු ඔහු 1956 දී මන්ත්‍රීවරයෙක් විය. | ඝාතනය වූ ගණන 04 |

| | | | |
|---|---|---|---|
| 8<br>*8* | 1991/03/02<br>කොළඹ | ජාතික ආරක්ෂක ඇමැති රන්ජන් විජේරත්න සිය නිවසේ සිට කාර්යාලය බලා නිල රථයෙන් ගමන් කරමින් සිටිය දී සිදු වූ බෝම්බ පිපිරීමකින් මරණයට පත් විය. | ඝාතනය වූ ගණන 18 |
| 9<br>*9* | 1991/05/21<br>ඉන්දියාව | ඉන්දියාවේ හිටපු අගමැති රජීව් ගාන්ධි LTTE විසින් ඝාතනය කෙරිණි. ඔහුගේ අවසාන ඡන්ද රැස්වීම සිරි පෙරුම් බුදුර් තමිල්නාඩුවේ පැවැතිණ. තෙන්මෝසි රාජරත්නම් (LTTE මරාගෙන මැරෙන බෝම්බ කාරිය) රජීව් අසලට පැමිණ ඔහුගේ දෙපා ස්පර්ශ කිරීමට නැමී ඇයගේ ඇඳුමේ සඟවාගෙන සිටි බෝම්බය පුපුරවාගත්තා ය. | ඝාතනය වූ ගණන 26 |
| 10<br>*10* | 1993/04/23<br>කොළඹ | 1993 අප්‍රේල් 23 වන දා සවස කොළඹ කිරුළපන ක්‍රීඩාපිටියේ පැවැති මැතිවරණ රැස්වීමක් අමතමින් සිටිය දී සාහසිකයකු විසින් එල්ල කළ වෙඩි පහරක් නිසා ලලිත් ඇතුළත්මුදලි ඝාතනයට ලක් විය. | ඝාතනය වූ ගණන 01 |
| 11<br>*11* | 1993/05/01<br>ආමර් වීදිය<br>කොළඹ | මැයි දින සිදු වූ මරාගෙන මැරෙන බෝම්බ ප්‍රහාරයකින් ආමර් වීදියේ දී ශ්‍රී ලංකා ජනාධිපති රණසිංහ ප්‍රේමදාස මරණයට පත් විය. ඔහු 1989 සිට ලංකාවේ ජනාධිපතිවරයා ලෙස කටයුතු කරමින් සිටියේ ය. ඔහු 1950 සිට UNP පක්ෂයෙන් සිය දේශපාලන කටයුතු කළේ ය. | ඝාතනය වූ ගණන 24<br><br>තුවාල වූ ගණන 38 |
| 12<br>*12* | 1994/10/24<br>තොටළඟ<br>හන්දිය | විපක්ෂ නායක සහ ජනාධිපති අපේක්ෂක ගාමිණී දිසානායක සහ UNP පක්ෂ ලේකම් දොස්තර ගාමිණී විජේසේකර ඇතුළු ව 54 දෙනෙකු මරාගෙන මැරෙන බෝම්බ කරුවකු මගින් දේශපාලන රැළියක දී ඝාතනයට ලක් කෙරිණි. | ඝාතනය වූ ගණන 54<br><br>තුවාල වූ ගණන 72 |

| | | | |
|---|---|---|---|
| 13<br>*13* | 1999/07/29<br>බොරැල්ල | TULF මන්ත්‍රී ආචාර්ය නීලම් තිරුචෙල්වම් LTTE මරාගෙන මැරෙන බෝම්බ කරුවකු විසින් ඔහුගේ නිවස ආසන්නයේ දී ඝාතනය කෙරිණි. ඔහු නීතිඥයෙකු සහ ගෞරවනීය ද්‍රවිඩ දේශපාලන-ඥයෙක් විය. | ඝාතනය වූ ගණන 01<br>තුවාල වූ ගණන 07 |
| 14<br>*14* | 1999/12/18<br>කොළඹ පුරහල | ජනාධිපති චන්ද්‍රිකා කුමාරතුංග තුවාල ලබා මරාගෙන මැරෙන බෝම්බ ප්‍රහාරයකින් දිවි ගලවාගත්තා ය. තුවාල වූවන් අතර මහාචාර්ය ජී. ඇල්. පීරිස් ඇතුළු කැබිනට් ඇමැතිවරු ද සිටියහ. | ඝාතනය වූ ගණන 23<br>තුවාල වූ ගණන 106 |
| 15<br>*15* | 2000/06/07<br>රත්මලාන | කර්මාන්ත ඇමැති සී. වී. ගුණරත්න ඇතුළු 24 දෙනෙකු LTTE මරාගෙන මැරෙන බෝම්බකරුවකු විසින් ඝාතනයට ලක් කෙරිණි. මොවුන් රණවිරුවන් සැමරීමේ පෙළපාලියට සහභාගි වෙමින් සිටිය දී මෙය සිදු කෙරිණි. | ඝාතනය වූ ගණන 24<br>තුවාල වූ ගණන 60 |
| 16<br>*16* | 2005/08/12<br>කොළඹ | විදේශ ඇමැති ලක්ෂ්මන් කදිරගාමර් ස්නයිපර් තුවක්කුකරුවකු විසින් තම නිවසේ දී ඝාතනය කෙරිණි. ඔහු ජාතික සමගිය සහ භෞමික අඛණ්ඩතාවට කැපවී සිටි දේශපාලනඥයකි. | ඝාතනය වූ ගණන 01 |
| 17<br>*17* | 2008/01/01<br>කොටහේන | හිටපු UNP ඇමැති ටී. මහේෂ්වර-න් ශිව කෝවිලක දී ඝාතනයට ලක් විය. | ඝාතනය වූ ගණන 02<br>තුවාල වූ ගණන 10 |
| 18<br>*18* | 2008/04/06<br>වැලිවේරිය | මහාමාර්ග සංවර්ධන අමාත්‍ය ජෙයරාජ් ප්‍රනාන්දුපුල්ලේ ඇතුළු 13 දෙනෙකු වැලිවේරියේ දී LTTE මරාගෙන මැරෙන බෝම්බකරුවකු විසින් ඝාතනය කෙරිණි. | ඝාතනය වූ ගණන 13<br>තුවාල වූ ගණන 72 |

| | | | |
|---|---|---|---|
| 19<br>*19* | 2008/06/16<br>අනුරාධපුර | උතුරු මධ්‍යම ප්‍රාන්ත විපක්ෂ නායක විශ්‍රාමික මේජර් ජෙනරාල් ජානක පෙරේරා, ඔහුගේ බිරිඳ සහ UNP සාමාජිකයින් 26 දෙනෙකු පමන දේශපාලන රැස්වීමකදී LTTE මරාගෙන මැරෙන බෝම්බ කරුවෙකු විසින් ඝාතනය කරනු ලැබීය. | ඝාතනය වූ ගණන 28<br><br>තුවාල වූ ගණන 84 |

## 5.2.2 **LTTE** ය සිවිල් වැසියන් හට කළ ප්‍රහාර කිහිපයක් පහත සඳහන් වේ.



**LTTE ය කැබිතිගොල්ලෑවේ දී බසයක් පුපුරුවා හැරීමෙන් මඟීන් 64 දෙනෙකු මරණයට පත් කළ අතර 87 දෙනෙකුට දරුණු තුවාල ද සිදු කළේ ය. එක්සත් ප්‍රවෘත්ති පත්‍ර සමාගමේ ඡායාරූපයකි**

| | දිනය සහ දිස්ත්‍රික්කය | විස්තරය | ඝාතනය වූ ගණන/ තුවාල ලැබූවන් ගණන |
|---|---|---|---|
| 1<br>*20* | 1984/11/29 වවුන-යාව | කෙන්ට් සහ ඩොලර් ෆාම් නමැති සිංහල ගම්මානවල සිදු කළ ඝාතන LTTE ය ආරම්භ-යේ දී ම කළ විනාශ වේ. LTTE ය තම ඊළාම් බල ප්‍රදේශවලින් සිංහල වැසියන් එළවීම සඳහා මේ ඝාතන සිදු කළේ ය. | ඩොලර් ෆාම්හි දී 33 දෙනෙකු ඝාතනය කෙරිණි. කෙන්ට් ෆාම්හි දී 29 දෙනෙකු ඝාතනය කෙරිණි. |
| 2<br>*21* | 1986/05/25 ත්‍රිකුණාමලය | මහදිවුල්වැව නම් සිංහල ගම්මානයෙහි වැසියන් LTTE ය විසින් ස්වයංක්‍රීය අවි, කඩු ආදියෙන් කපා මරා දැමිණි. | 20 ක් ඝාතනය විය. |
| 3<br>*22* | 1987/02/07 අම්පාර | අරන්තලාව නම් වූ සිංහල ගම්මානයට LTTE ය පහර දී ඔවුන් මරා දැමී ය. | 27 ක් ඝාතනය විය. |
| 4<br>*23* | 1987/03/25 අනුර-ාධපුර | LTTE ය සේරුනුවර නම් සිංහල ගම්මානයේ වැසියන් කපා කොටා මරා දැමී ය. | 25 ක් ඝාතනය විය. |
| 5<br>*24* | 1987/04/17 හබරණ | හබරණ සිට ත්‍රිකුණාමලය දක්වා ධාවනය වන බස් රියක් LTTE ය විසින් නවත්වා එහි සිටි මඟීන් වෙඩි තබා මරා දැමිණි. | 96 ක් ඝාතනය කෙරිණි. 44 ක් දෙනෙකු තුවාල වූහ. |
| 6<br>*25* | 1987/10/06 මඩකලපුව | තලාවායි නමැති සිංහල ධීවර ගම්මානයට LTTE ය විසින් පහර දී මිනිසුන් ඝාතනය කෙරිණි. | 25 ක් ඝාතනය කෙරිණි. |

| | | | |
|---|---|---|---|
| 7<br>*26* | 1987/10/06<br>ත්‍රිකුණාමලය | සාගරපුර නමැති සිංහල ධීවර<br>ගම්මානයට LTTE ය පහර දුනි. | 27 ක් ඝාතනය කෙරිණි. |
| 8<br>*27* | 1987/12/31<br>මඩකලපුව | කාත්තන්කුඩි නමැති මුස්ලිම් ගම්මානයට LTTE ය පහර දුනි. | 30 ක් ඝාතනය කෙරිණි. |
| 9<br>*28* | 1988/03/05<br>ත්‍රිකුණාමලය | සිත්තාරු කන්තලේ නමැති ගම්මානයට කොටි පහර දුන්හ. | 24 ක් ඝාතනය කෙරිණි. |
| 10<br>*29* | 1988/10/10 වවුනියාව | මැදවච්චිය පිහිටි මහ කෝන් ගස් කන්ද නමැති ගම්මානයට කොටි පහර දුන්හ. | 44 ක් ඝාතනය කෙරිණි.<br>04 තුවාල වූහ. |
| 11<br>*30* | 1989/02/11<br>මුලතිව් | දුටුවැව සිංහල ගම්මානයට කොටි විසින් පහර එල්ල කෙරිණි. | 37 ක් ඝාතනය කෙරිණි.<br>05 දෙනෙක් තුවාල වූහ. |
| 12<br>*31* | 1989/02/27<br>පොලොන්නරුව | බොරවැව සිංහල ගම්මානයට කොටි පහර දුන්හ. | 38 ක් ඝාතනය කෙරිණි.<br>03 දෙනෙක් තුවාල වූහ. |
| 13<br>*32* | 1990/08/07<br>අම්පාර | බංඩාරදූව නමැති ගමට කොටි ප්‍රහාරයක් එල්ල කළහ. | 30 ක් ඝාතනය කෙරිණි.<br>04 දෙනෙක් තුවාල වූහ. |
| 14<br>*33* | 1990/08/11<br>මඩකලපුව | එරාවූර් මුස්ලිම් නගරයට කොටි ප්‍රහාරයක් එල්ල කළහ. | 173 ක් ඝාතනය කෙරිණි.<br>20 දෙනෙක් තුවාල වූහ. |
| 15<br>*34* | 1990/09/19<br>පුත්තලම | වෙල්ලමුන්ඩාල් නමැති ධීවර ගම්මානයට කොටි ප්‍රහාර එල්ල කළහ. | 23 ක් ඝාතනය කෙරිණි.<br>02 දෙනෙක් තුවාල වූහ. |

| | | | |
|---|---|---|---|
| 16<br>*35* | 1991/01/23<br>අම්පාර | බෝගමුයාය නමැති ගම්මානයට LTTE ය ප්‍රහාර එල්ල කළේ ය. | 29 ක් ඝාතනය කෙරිණි.<br>02 දෙනෙක් තුවාල වූහ. |
| 17<br>*36* | 1991/04/20<br>අම්පාර | නියන්දැල්ල ඔක්කම්පිටිය නමැති ගම්මානයට LTTE ය ප්‍රහාර එල්ල කළේ ය. | 22 ක් ඝාතනය කෙරිණි. |
| 18<br>*37* | 1992/04/29<br>පොලොන්නරුව | කරාපොල, මුදුගල සහ අලිංචිපොතන නමැති ගම්මානවලට කොටි ප්‍රහාර එල්ල කළහ. | 130 ක් ඝාතනය කෙරිණි.<br>71 දෙනෙක් තුවාල වූහ. |
| 19<br>*38* | 1992/10/15<br>පොලොන්නරුව | පල්ලියගොඩැල්ල සහ අහමේදපුර නමැති ග ම්මානවලට LTTE ය ප්‍රහාර එල්ල කළේ ය. | 146 ක් ඝාතනය කෙරිණි.<br>83 දෙනෙක් තුවාල වූහ. |
| 20<br>*39* | 1995/05/25<br>ත්‍රිකුණාමලය | කල්ලරාව නමැති සිංහල ගම්මානයට LTTE ය ප්‍රහාර එල්ල කළේ ය. | 42 ක් ඝාතනය කෙරිණි.<br>15 දෙනෙක් තුවාල වූහ. |
| 21<br>*40* | 1995/08/07<br>කොළඹ | බස්නාහිර පළාත් ප්‍රධාන අමාත්‍ය කාර්යාලය ඉදිරිපිට දී LTTE ය බෝ-ම්බයක් පිපිරවී ය. | 23 ක් ඝාතනය කෙරිණි.<br>40 දෙනෙක් තුවාල වූහ. |
| 22<br>*41* | 1995/10/21<br>මොනරතැන්න | මොනරතැන්න ගම්මානයට LTTE ය ප්‍රහාර එල්ල කළේ ය. | 36 ක් ඝාතනය කෙරිණි.<br>12 දෙනෙක් තුවාල වූහ. |
| 23<br>*42* | 1995/10/26<br>අනුරාධපුරය | තම්මැන්න හල්පිල්ලෑව ගම්මානයට LTTE ය ප්‍රහාර එල්ල කළේ ය. | 26 ක් ඝාතනය කෙරිණි.<br>27 දෙනෙක් තුවාල වූහ. |

| | | | |
|---|---|---|---|
| 24<br>*43* | 1995/10/26<br>මුලතිව් | අලපත් වැව ගමට කොටි ප්‍රහාර එල්ල කළහ. | 26 ක් ඝාතනය කෙරිණි. |
| 25<br>*44* | 1997/07/02<br>ත්‍රිකුණාමලය | ඉරක්කන්ඩි නමැති මුස්ලිම් ගමට කොටි ප්‍රහාර එල්ල කළහ. | 34 ක් ඝාතනය කෙරිණි. |
| 26<br>*45* | 1999/09/18<br>අම්පාර | ගලපිටිගල, බදිරික්ක සහ බොරපොල නමැති සිංහල ගම්මානවලට කොටි ප්‍රහාර එල්ල කළහ. | 50 ක් ඝාතනය කෙරිණි.<br>05 දෙනෙක් තුවාල වූහ. |
| 27<br>*46* | 2000/03/10<br>කොළඹ | පාර්ලිමේන්තු රැස්වීමකට සහභාගි වී පැමිණෙන කැබිනට් ඇමැතිවරු ඝාතනය කිරීමට LTTE ය රාජගිරියේ දී කළ පහර දීමේ දී එය ව්‍යවර්ථ වී සිවිල් වැසියෝ ඝාතනය වූහ. | 15 ක් ඝාතනය කෙරිණි.<br>76 දෙනෙක් තුවාල වූහ. |
| 28<br>*47* | 2006/06/15<br>අනුරාධපුරය | LTTE ය ක්ලේමෝ බෝ-ම්බයක් පුපුරවා හරිමින් කැබිතිගොල්ලෑවේ දී බස් රථයක් පුපුරවා හැරියේ ය. | 64 ක් ඝාතනය කෙරිණි.<br>87 දෙනෙක් තුවාල වූහ. |
| 29<br>*48* | 2008/04/25<br>කොළඹ | පිළියන්දල දී CTB බස් රථයක් දූරස්ථ පාලක බෝම්බයකින් පුපුරුවා හැරීම නිසා එහි සිටි පිරිස මරුමුවට පත් වූහ. | 27 ක් ඝාතනය කෙරිණි.<br>67 දෙනෙක් තුවාල වූහ. |
| 30<br>*49* | 2008/06/06<br>කොළඹ | කටුබැද්ද අසල දී LTTE ය ක්ලේමෝ බෝම්බයක් පුපුරවා බස් රථයක් විනාශ කළහ. | 23 ක් ඝාතනය කෙරිණි.<br>70 දෙනෙක් තුවාල වූහ. |

## 5.2.3 LTTE ය පහර දුන් ආර්ථික මර්මස්ථාන සමහරක් පහත සඳහන් වේ.

| | දිනය සහ දිස්ත්‍රික්කය | විස්තරය | ඝාතනය වූ ගණන/ තුවාල ලැබූවන් ගණන |
|---|---|---|---|
| 1 *50* | 1985/01/19 මුරුක්කන් | යාල්දේවි දුම්රියට LTTE ය බිම් බෝම්බ ප්‍රහාරයක් එල්ල කළේ ය. | 34 ක් ඝාතනය කෙරිණි. |
| 2 *51* | 1986/05/03 කටුනායක | කටුනායක ජාත්‍යන්තර ගුවන්තොටුපොළේ දී ට්‍රයිස්ටාර් ගුවන් යානයකට ප්‍රහාර එල්ල කෙරිණි. මෙය ඇමරිකානු ඩොලර් මිලියන 17 ක අලාභයකි. | 16 ක් ඝාතනය කෙරිණි. |
| 3 *52* | 1986/05/07 කොළඹ | කොළඹ දුරකතන සේවා මධ්‍යස්ථානයකට LTTE ය ප්‍රහාර එල්ල කළේ ය. පෞරාණික ගොඩනැගිල්ල විනාශ වී ගියේ ය. | 11 ක් ඝාතනය කෙරිණි. 114 දෙනෙක් තුවාල වූහ. |



LTTE ශ්‍රී ලංකා මහ බැංකුවට එල්ල කළ බෝම්බ ප්‍රහාරය

එක්සත් ප්‍රවෘත්ති පත්‍ර සමාගමේ ඡායාරූපයකි

| | | | |
|---|---|---|---|
| 4<br>*53* | 1987/04/21<br>කොළඹ කොටුව බස්නැවතුම්පොළ | කොටුව බස්නැවතුම් පොළෙහි සිදු වූ අධිබලැති බෝම්බ පිපි-රීම නිසා විශාල පිරිසක් මියගිය අතර, තවත් පිරිසක් තුවාල ලැබූහ. | 106 ක් ඝාතනය කෙරිණි. 295 දෙනෙක් තුවාල වූහ. |
| 5<br>*54* | 1995/10/29<br>කොලොන්නාව ඔරුගොඩවත්ත | රාජ්‍ය ඛනිජ තෙල් නීතිගත සංස්ථාවට අයත් කොලොන්නාව ඉන්ධන බහාලුම් මධ්‍යස්ථානයකට සහ ඔරුගොඩ වත්ත බොරතෙල් ගබඩාවට කොටි ප්‍රහාර එල්ල කළහ. | 21 ක් ඝාතනය කෙරිණි. |
| 6<br>*55* | 1995/11/11<br>කොම්පඤ්ඤවීදිය | කොම්පඤ්ඤවීදිය දුම්රියපොළ සහ ශ්‍රී ලංකා යුද හමුදා ප්‍රධාන කාර්යාලය අසල දී මරාගෙන මැරෙන බෝම්බ කරුවෙක් තම බෝම්බය පුපුරවා ගත්තේ ය. | 11 ක් ඝාතනය කෙරිණි. 52 දෙනෙක් තුවාල වූහ. |
| 7<br>*56* | 1996/01/31<br>මහබැංකුව කොළඹ | කොළඹ මහබැංකුවට එල්ල කළ බෝම්බ ප්‍රහාරය LTTE ය විසින් සිදු කළ දරුණුතම ප්‍රහාරය වේ. ලොරියක පුපුරණ ද්‍රව්‍ය පුරවා මහබැංකුව තුළට එය ධාවනය කර පුපුරුවා හැරීම කෙරිණි. | 90 ක් ඝාතනය කෙරිණි. 1400 දෙනෙ-ක් තුවාල වූහ. |
| 8<br>*57* | 1996/01/24<br>දෙහිවල දුම්රියපොළ | දෙහිවල දුම්රියපොළේ නවතා තිබියදී අලුත්ගම දුම්රියෙහි මැදිරි දෙකක් එකවර පුපුරවා හැරිණි. දුම්රිය රැකියා අවසන් වී නිවෙස් බලා යන මගී-න්ගෙන් පිරී තිබුණි. | 57 ක් ඝාතනය කෙරිණි. 356 දෙනෙක් තුවාල වූහ. |
| 9<br>*58* | 1997/10/15<br>ලෝක වෙළඳ මධ්‍යස්ථානය | කොළඹ ගලධාරී හෝටලයේ වාහන නැවතුම් පොළට බෝම්බ පිරවූ ලොරියක් ගෙනවිත් එය පුපුරවා හැරීම නිසා අවට පිහිටි ගොඩනැගිලි වලට අලාභ හානි සිදු විය. | 11 ක් ඝාතනය කෙරිණි. 105 දෙනෙක් තුවාල වූහ. |

| | | | |
|---|---|---|---|
| 10 *59* | 1998/03/05 මරදාන | මරදාන දුම්රියපොළ අසල දී පුපුරණ ද්‍රව්‍ය පිරි බස්රථයක් LTTE ය පුපුර-වා හැරීම නිසා අවට රථ වාහනවලට සහ ගොඩනැඟිලි වලට අලාභ හානි සිදු විය. | 36 ක් ඝාතනය කෙරිණි. 270 දෙනෙක් තුවාල වූහ. |
| 11 *60* | 2001/07/24 කටුනායක | කටුනායක ගුවන් හමුදා කඳවුරට සහ ගුවන් තොටුපළට LTTE ය ප්‍රහාර සිදු කළහ. | |
| 12 *61* | 2008/02/03 කොටුව දුම්රිය ස්ථානය | මරාගෙන මැරෙන බෝ-ම්බකරුවකු කොටුවේ දුම්රිය පොළ තුළ දී පුපුර-වා ගැනීම නිසා මනුෂ්‍ය ඝාතන සහ අලාභ හානි සිදු විය. | 12 ක් ඝාතනය කෙරිණි. 100 දෙනෙක් තුවාල වූහ. |
| 13 *62* | 2008/10/28 ග්‍රෑන්ඩ්පාස් | LTTE සැහැල්ලු ගුවන් යානයක් මඟින් කැලණිතිස්ස විදුලි බලාග ාරයට බෝම්බ හෙළී ය. | |
| 14 *63* | 2009/02/09 කොළඹ | LTTE සැහැල්ලු ගුවන් යානයක් මඟින් දේශීය ආදායම් බදු දෙපාර්තමේන්තුවට බෝම්බ හෙළී ය. | |



LTTE දළදා මාලිගාවට එල්ල කළ බෝම්බ ප්‍රහාරය
එක්සත් ප්‍රවෘත්ති පත්‍ර සමාගමේ ඡායාරූපයකි

## 5.2.4 LTTE ය පහර දුන් සිද්ධස්ථානවල විස්තරය

| | දිනය සහ දිස්ත්‍රික්කය | විස්තරය | ඝාතනය වූ ගණන/ තුවාල ලැබූවන් ගණන |
|---|---|---|---|
| 1 *64* | 1985/05/14 අනුරාධපුරය | අනුරාධපුර ශ්‍රී මහා බෝධිය අසල දී LTTE ය ඒ අවට සිටි සිවිල් ජනතාවට ප්‍රහාරයක් එල්ල කළේ ය. | 146 ක් ඝාතනය කෙරිණි. 85 දෙනෙක් තුවාල වූහ. |
| 2 *65* | 1987/06/02 අරන්තලාව | බස් රථයකින් ගමන් කරමින් සිටි භික්ෂු පිරිසකට සහ සිවිල් වැසියන් පිරිසකට LTTE ය ප්‍රහාරයක් එල්ල කළේ ය. | 35 ක් ඝාතනය කෙරිණි. 14 දෙනෙක් තුවාල වූහ. |

| | | | |
|---|---|---|---|
| 3<br>*66* | 1990/08/06<br>කාත්තන්කුඩි | යාඥා කරමින් සිටි මුස්ලිම් බැතිමතුන් පිරිසකට කාත්තන්කුඩි මුස්ලිම් පල්ලිය තුළ දී LTTE ය ප්‍රහාර එල්ල කළේ ය. | 140 ක් ඝාතනය කෙරිණි. 70 දෙනෙක් තුවාල වූහ |
| 4<br>*67* | 1995/05/02<br>දිඹුලාගල | මහජන ආදර ගෞරවයට පාත්‍ර වූ දිඹුලාගල හිමියන් LTTE විසින් ඝාතනය කෙරිණි. | 02 ක් ඝාතනය කෙරිණි. |
| 5<br>*68* | 1998/01/25<br>මහනුවර | බෞද්ධයන්ගේ මුදුන් මල්කඩක් බඳු වූ දළදා මාලිග ාවට ද LTTE ය ප්‍රහාර එල්ල කළේ ය. | 09 ක් ඝාතනය කෙරිණි. 15 දෙනෙක් තුවාල වූහ. |
| 6<br>*69* | 2009/03/11<br>ගොඩපිටිය අකුරැස්ස | ගොඩපිටිය දේවස්ථානයේ පිහිටි මුස්ලිම් ආගමික උත්සවයකට LTTE ය ප්‍රහාර එල්ල කළේ ය. | 15 ක් ඝාතනය කෙරිණි. 46 දෙනෙක් තුවාල වූහ. |

## 5.2.5. 1990 දී LTTE මඩකලපුවේ දී සිදු කළ පොලිස් නිලධාරි ඝාතනය

| | දිනය සහ දිස්ත්‍රික්කය | විස්තරය | ඝාතනය වූ ගණන/ තුවාල ලැබූවන් ගණන |
|---|---|---|---|
| 170 | 1990/06/11 තිරුක් කෝවිල් | LTTE ය අතින් 600 කට අධික ආයුධ රහිත පොලිස් නිලධාරීන් පිරිසක් නැගෙනහිර පළාතේ දී ඝාතනයට ලක් විය.<br><br>මෙය ශ්‍රී ලංකා රජය විසින් ඉන්දියානු සාම සාධක හමුදාව (IPKF) ශ්‍රී ලංකා-වෙන් පිටමන් කිරීම නිසා LTTE ය රජයේ කිසි ම අවසරයකින් තොර ව උතුර නැගෙනහිර ප්‍රදේශවල පාලන බලය තම ග්‍රහණයට ගෙන සිටි කාලයකි.<br><br>කොටි සහ ශ්‍රී ලංකා රජය කොළඹ හිල්ටන් හෝටලයේ දී සාම සාකච්ඡා පවත්වමින් සිටියහ.<br><br>1990 ජූනි 11 වන දින උදේ 6.00 ට පමණ LTTE ය මඩකලපුව පොලිස් ස්ථානය වටලා පොලිස් නිලධාරීන් අත්අඩංගුවට ගත්හ. පසු ව පොලිස් ස්ථානය සතු ව තිබූ රුපියල් මිලියන 45 ක මුදල්, T 56 ගිනි අවි 109, T 84 ගිනි අවි 65, සැහැල්ලු මැෂින් තුවක්කු 28, රයිෆල් තුවක්කු 29, මැෂි-න් තුවක්කු වෙනත් ආයුධ ඔවුන් සන්තකයට ගත්හ. | 600 - 774 ක් ඝාතනය කෙරිණි. |

| | | | |
|---|---|---|---|
| | | තව ද ඔවහු ඒ ප්‍රදේශයේ සියලු ම පොලිස් ස්ථානවල සේවය කරන නිලධාරීන්ට දවල් 2.30 පෙර යටත්වන ලෙස නියෝග දුන්හ. සාම සාකච්ඡා ඉදිරියට ගෙන යෑමට ඇති අවශ්‍යතාව නිසා කොළඹ ප්‍රධාන කාර්යාලයෙන් ඔවුන් හට LTTE යට යටත්වන ලෙසට නියෝග ලැබුණු බවට වාර්තා වී තිබිණි.<br><br>පසු ව යටත් වූ පොලිස් නිලධාරීන් සියල්ල LTTE ය විසින් ඝාතනයට ලක් කෙරිණි. කොටින් විසින් සිදුකල මේ ම්ලේච්ඡ මනුෂ්‍ය ඝාතනයෙන් පසු එවකට පැවැති ශ්‍රී ලංකා රජයේ ආරක්ෂක ඇමතිවරයා වන රන්ජන් විජේරත්න දෙවන ඊළාම් යුද්ධය ආරම්භ කළ යුතු බවට ශ්‍රී ලංකා පාර්ලිමේන්තුවේ දී නිවේදනය කළේ ය. | |

## 5.3 ලුහුඬු කිරීම්

| | | |
|---|---|---|
| AFV | : | වෙඩිවලින් ආරක්ෂා වීමට නිපදවූ වාහනය. |
| ANCL | : | සීමාසහිත එක්සත් ප්‍රවෘත්ති පත්‍ර සමාගම |
| CFA | : | සටන් විරාම ගිවිසුම |
| EPRLF | : | ඊළාම් ජනතා විප්ලවවාදී විමුක්ති පෙරමුණ |
| EROS | : | ඊළාම් විප්ලවවාදී ශිෂ්‍ය සංගමය |
| FAC | : | වේග ප්‍රහාරක යානය |
| FGB | : | වේග මුර යාත්‍රාව |
| GPMG | : | මැෂින් තුවක්කු වර්ගයක් |
| IPKF | : | ඉන්දියානු සාම සාධක හමුදාව |
| JVP | : | ජනතා විමුක්ති පෙරමුණ |
| LMG | : | සැහැල්ලු මැෂින් තුවක්කුව |
| LTTE | : | දමිල ඊළාම් විමුක්ති කොටි සංවිධානය |
| LRRP | : | දිග දුර විමර්ශන මෙහෙයුම් මුරකාය |
| MBRL | : | බහු බට රොකට් විදිනය |
| MOD | : | ආරක්ෂක අමාත්‍යාංශය |
| MPMG | : | මැෂින් තුවක්කු වර්ගයක් |
| MRL | : | බහුකාර්ය රොකට් විදිනය |

| | |
|---|---|
| NFZ | : වෙඩි මුක්ත කලාපය |
| NM | : නාවික සැතැප්ම |
| OIC | : අණදෙන නිලධාරී |
| PLOTE | : දමිළ ඊළාම් ජනතා විමුක්ති සංවිධානය |
| PWV | : පරම වීර විභූෂණය |
| QRT | : ක්ෂණික ප්‍රහාරක කණ්ඩායම |
| RAW | : ඉන්දියානු ඔත්තු සේවය |
| RDX | : පුපුරණ ද්‍රව්‍ය |
| RPG | : යුද ටැංකි නාශක රොකට් විදිනය |
| SBS | : විශේෂ යාත්‍රා බලකාය |
| SF | : විශේෂ බලකාය |
| SLFP | : ශ්‍රී ලංකා නිදහස් පක්ෂය |
| SLN | : ශ්‍රී ලංකා නාවික හමුදාව |
| SLNS | : ශ්‍රී ලංකා නාවික නෞකා |
| TELA | : දමිළ ඊළාම් විමුක්ති හමුදාව |
| TELO | : දමිළ ඊළාම් විමුක්ති සංවිධානය |
| TULF | : දමිළ එක්සත් විමුක්ති පෙරමුණ |
| UNP | : එක්සත් ජාතික පක්ෂය |

## 5.5 ත්‍රිවිධ හමුදා සොල්දාදුවන්ගේ නිළයන්

### ශ්‍රී ලංකා යුද්ධ හමුදාව - නිළධාරී නිළයන්


ෆීල්ඩ් මාර්ශල්


ජෙනරල්


ලුතිනන් ජෙනරල්


මේජර් ජෙනරල්


බ්‍රිගේඩියර්


කර්නල්


ලුතිතන් කර්නල්


මේජර්


කපිතන්


ලුතිතන්


දෙවන ලුතිතන්

### අනෙකුත් නිළයන්


බලලත් නිලධාරී 1


බලලත් නිලධාරී 2


මාණ්ඩලික සැරයන්


සැරයන්


කෝප්‍රල්


ලාන්ස් කෝප්‍රල්


සාමාන්‍ය සෙබල

# ශ්‍රී ලංකා නාවික හමුදාව - නිළධාරී නිළයන්


හමුදා අද්මිරාල්


අද්මිරාල්


වයිස් අද්මිරාල්


රියර් අද්මිරාල්


කොමදෝරු


කපිතන්


අණදෙන නිලධාරි


ලුතිතන් කමාන්ඩර්


ලුතිතන්


මධ්‍ය නිලධාරි


ශිශ්‍යභට නිලධාරි

# අනෙකුත් නිළයන්


ප්‍රවීන ප්‍රධාන සුළු නිලධාරි


පද්දති ප්‍රධාන සුළු නිලධාරි


ප්‍රධාන සුළු නිලධාරි


සුළු නිලධාරි


නායක නැවි

ඒබල් සීමන්

සාමන්‍ය නැවි

## ශ්‍රී ලංකා ගුවන් හමුදාව - නිළධාරී නිළයන්


ගුවන් හමුදා මාර්ශල්


එයාර් චීෆ් මාර්ශල්


එයාර් මාර්ශල්


එයාර් වයිස් මාර්ශල්


ගුවන් කොමදෝරු


සමූහ කපිතාන්


වින්ග් කමාන්ඩර්


බල ගන නායක


බල පන්ති ලුතිනන්


පියාසර නිලධාරී


නියමු නිලධාරී

## අනෙකුත් නිළයන්


ප්‍රධාන බලලත් නිලධාරී


බලලත් නිලධාරී


බල පන්ති ලුතිනන්


සැරයන්


කොප්‍රල්


නායක ගුවන් බට

ගුවන් බට

5.5

## ආශ්‍රිත ග්‍රන්ථ නාමාවලිය

Blaeker, D. "the Blaeklight Arrow", David Blacker Blog

Centre for Reconciliation and co-existence (2014) "1975-2014", Lakshman Kadiragama Institute for International Relations and strategic Studies.

De Silva, J, (2009), "Chronology of LTTE Terror" The Associated Newspapers of Ceylon Ltd.

Dixit, J.N., (1998), "Assignment Colombo" Vijitha Yapa Bookshop

Gunaratna, R, (1990), "Sri Lanka - A Lost Revolution?" Institute of fundamental studies - Sri Lanka

Mendis, L.M.H., (2013), "Ealam War 1 , IPKF Operations, Eelam War 2, Ealam War 3, and Eelam War 4

Munasinghe, S. , (2000), "A Soldier's Version" Market Information Systems (Pvt) Ltd

Strategic Initiatives for the Protcetion of Sri Lanka, (2014), "The LTTE - The most disciplined fighting force the world has ever known", Multiliness.

Wikipidia, the free encyclopedia

Wilson, E. O. "The social conquest of earth" (2013), Liveright Publishing Corporation, New York

චන්ද්‍රප්‍රේම, සී. ඒ, "ගෝඨාභයගේ යුද්ධය" (2013) විජිතයාපා පොත්හල

ගුණරත්න, ක., "රණමඟ ඔස්සේ නන්දිකඩාල්", (2016) විජිත යාපා පොත්හල

අයිවන්, වී., "කඳුළු සලන පාරාදීසය", (2008), රාවය ප්‍රකාශකයෝ.

හූල්, ආර්., සෝමසුන්දරම්, ඩී., ශ්‍රීධරන්, කේ., තිරාණගම, ආර්., "බිඳුණු තල් රුක", (1993), සීමාසහිත කරුණාසේන සහ පුත්‍රයෝ.

පෙරේරා, ආර්, ටී. "වන්නි අවසන් මහ සටන"" (2009), පහන් ප්‍රකාශන.

ශ්‍රී ලංකා යුද හමුද විශේෂ බලකාය, "සතුරාට යටත් නොවන මා", (2011), විජී ප්‍රින්ටර්ස් පුද්ගලික සමාගම.

කරන්නාගොඩ, වී. "අධිෂ්ඨානය" (2014) එච්.කේ. මහින්දලාල්.

ස්වාමි, එම්. ආර්. එන්., "ලංකා කොටි", (1994), තරංජි ප්‍රින්ටර්ස්.

ස්වාමි, එම්. ආර්. එන්., "ප්‍රභාකරන්", (2004), තරංජි ප්‍රින්ටර්ස්.

ජයවර්ධන, ඊ., "සිංහලේ අවසන් රජදහන" (2006), ඇම්.ඩී. ගුණසේන සහ සමාගම.

විමලානන්ද, ටී. "උඩරට මහ කැරැල්ල", (2008), ඇම්. ඩී. ගුණසේන සහ සමාගම.

ඩයස්, එන්. ඒ. ජේ. සී. , "උත්තමාචාරය" (2018)

ඩබ්. ඒ. සිල්වා, "විජයබා කොල්ලය" (1938), චතුර මුද්‍රණාලය, වැල්ලම්පිටිය.

ද සිල්වා, එස්, "ලංකා කථාව" (1908) විසිදුනු ප්‍රකාශකයෝ.

තිස්ස අබේසේකර, "අයාලේ ගිය සිතක සටහන්", (2007), සරසවි ප්‍රකාශකයෝ.

*මෙය හුදෙක් පොතක් ම නොවේ. එය අප හට සාමයේ අරුණලු දකිනු සඳහා ස්වකීය ජීවිත පූජා කළ උදාර මිනිසුන් වෙනුවෙන් කතුවරයා විසින් පිදෙන මාහැඟි උත්තුංග හෘදයංගම උපහාරයකි.*

*එය සැම ශ්‍රී ලාංකිකයෙකු විසින් සැබෑ විරුවන්ට ගෞරව බහුමානය දක්වමින් ඔවුන් මතකයේ රඳවා ගනිමින්, කිසි දා අමතක නොකළ යුතු බව හඟවන, කියවිය යුතු ම ග්‍රන්ථයකි.*

***කපිතාන් එල්මෝ ජයවර්ධන***
*ශ්‍රේෂත් සම්මාන ලාභී සහ*
*රාජ්‍ය සාහිත්‍ය සම්මාන ලාභී*

*මානව සමාජ චර්යාවල ජීව විද්‍යාත්මක පදනම පිළිබඳ විද්‍යාත්මක අධ්‍යයන මඟින්, හෝමෝසේපියන්ස් (Homsapiens) වර්තමාන මානව වර්ගය විකසනය වී ඇත්තේ ගෝත්‍ර අතර ගැටුම් හේතුවෙන් බව සනාථ කර ඇත. ගෝත්‍රවාදය මූලික මානව ගති ලක්ෂණයකි. මානව ඉතිහාස වංශ කථාව ගෝත්‍රික ගැටුම්වල ඉතිහාසයයි. බුදුන් වහන්සේ 'වෛරයෙන් වෛරය නොසංසිඳේ, මෛත්‍රියෙන් පමණක් ම වෛරය සංසිඳේ' වන සදාතනික සත්‍යය අප හට උගන්වා වදාළ සේක. මේ උගැන්වීමේ පරම සත්‍යය සිහියේ තබා ගනිමින්, මේ නිර්මාණාත්මක ප්‍රබෝධජනක හා අනුභාවිත ප්‍රකාශනයෙන්, ප්‍රසාද් පොල්වත්ත පරහිතකාමය නමැති අතිඋත්තම මානව චර්යා ගති ලක්ෂණය සිය සැබෑ ජීවිතයේ ඉහළ ම ශක්ති මට්ටමෙන් ප්‍රදර්ශනය කළ අමරණීය සොල්දාදුවන් 29 දෙනා හට සිය උපහාරය පුද කරයි. මෙවන් හැසිරීම් චර්යා රටාවන් ගැන ජේසුස් ක්‍රිස්තුස් වහන්සේ මෙසේ වදළහ. "ස්වකීය මිතුරන් වෙනුවෙන් සිය ජීවිතය පරිත්‍යාග කිරීමට වඩා උතුම් ප්‍රේමයක් තවත් නැත්තේ ය."*

**කාලෝ ෆොන්සේකා**
*සේවා සම්මත මහාචාර්ය*
*කොළඹ විශ්ව විද්‍යාලය*